සැඟවුණු බොදු මග යළි පුබුදන

# හෙළ බොදු පියුම

ශ්‍රී බු ව 2556කේ වූ නිකිණි මස (ව්‍යවහාරික වර්ෂ 2012 අගෝස්තු)

නවවෙනි කලාපය

## මස් මාංශ අනුභවය

### සම්බන්ධයෙන් වූ මතභේදාත්මක ගැටළුව

### නිවැරදි දහම් ඇසින්...



සැඟව ගිය බොදු මග යළි රැගෙන සෑම පුන් පොහෝ දිනකම එළිදකින දහම් සංග්‍රහය



# නොපෙනෙන

# මාරයා...

ලස්සන කරන්නට කිසිවක් ලොවෙහි නැත
වස්සන මුලා වැහි නම් ලොව බොහෝ ඇත
ගස්සන තරමකට මරු වැල් ගෙතී එත
උස්සන එවුන් මරු වසඟෙට ඇදී යත

දරමින් දෙතිස් කුණපය පිට ඔපය ගෙන
සරමින් සුව පහස පසු පස දුක නොදැන
කරමින් බදා ගන්නට තව පොර කමින
එරෙමින් සසර කතරක විඳවයි දැවෙන

මරු වසඟයට ගෙන යන පස් ආකාර
ගරු කර බදා ගෙන ලෙස මහ පාකාර
ගුරු කොට දහම් මිසදිටු විවිධාකාර
දැරුවට නොවේ ගැලවීමට උපකාර

ගේ දොර වතු පිටිද අඹු දරුවන්ද යනා
මේ හැම දේම ලෝ සතුනට සුවය දෙනා
ඒ හැම කැඩී වැනසී යන විටදී එනා
සේරම දුක් අඳෝනා ගිනි දෙනව තනා

තම හිත වෙතට සුන්දර රස යම් දේද
නොම වන විට මනාපෙට සුවයක් වේද ?
සැමටම වැඩිය දුක් දෙන්නේ මොනවාද ?
අමයුරු ලෙසින් ගත් තම වස්තුව නේද ?

---

පබැඳුම
හිනිඳු චන්දන සිරිවර්ධන



# බුදු පියාණන් වහන්සේ දේශනා කළ නිරුක්ති ක්‍රමවේදයට මොකද වුණේ?

මේ කාලයේ නිරුක්ති ගැන කතා කරන කොට ත්‍රිවේද පරප්‍රාප්ත බ්‍රාහ්මණ වේද ආභාෂයෙන් කලින් කල නිපදවා හෙළි කර දී ඇති පාලි, සංස්කෘත ලිඛිත භාෂා ක්‍රමවේදවලට ඇතුලත් පද බෙදීමේ ව්‍යාකරණ රීති මාලාවන්, බුද්ධ භාසිත නිරුක්ති ක්‍රමවේදය ලෙස හුවා දක්වීමට පාලි, සංස්කෘත භාෂා උගත් ඇතැම් පින්වත් යතිවරයන් වහන්සේලා ප්‍රයත්න දරන ආකාරය විවිධ රූපවාහිනී, පුවත්පත් මාධ්‍ය විමසීමේදී හොඳින් පෙනී යන කරුණක්. නමුත් ඒ ලෞකික වූ, භාෂා විශාරදයින් නිරුක්ති යන නම සම්බන්ධ කරගෙන හුවා දක්වන පද බෙදීමේ භාෂා ව්‍යාකරණ ක්‍රමවේදය, බුදු පියාණන් වහන්සේ දේශනා කරපු නිරුක්ති ක්‍රමයේ අහලකටවත් ළං කරන්න බැරි, ඔවුන්ටම ආවේණික වූ ප්‍රාකෘත ක්‍රමයක්. ඒ වගේම **බුදු පියාණන් වහන්සේ දේශනා කරපු නිරුක්ති ක්‍රමවේදය හෑල්ලුවට ලක් කරමින් ඒවාට උමතු ප්‍රාකෘත යන මතයක් ගොඩනගන්න කලක පටන් ප්‍රයත්න දරන ආකාරයත් රහසක් නෙමෙයි.**

මේ ලෞකික වේද ධාරීන්ගේ නිරුක්ති අතර භාවිතාවට ගෙන තිබූ, අනාදියේ පටන් පැවත එන, ඔවුන්ගේ නිෂ්පාදනයක්ද නොවන, නමුත් ඔවුන්ද භාවිතා කරපු නිරුක්ති ක්‍රම තුනක් පමණක් බුදු පියාණන් වහන්සේ අනුමත කරල තියෙනවා. (සං:නි:(3), 122 පිටුව - <u>නිරුක්තිපථ සූත්‍රය</u>) ඊට අනුව අතීත, වර්තමාන, අනාගත යන තුන් කාලය හඟවන නිරුක්තිය අනුමත කරල තියෙනවා. එනම් අතීතයේ සිදුවීමක් නම් ''විය'' කියලත්, වර්තමානයේ සිදුවීමක් නම් ''වෙයි'' කියලත්, මතු අනාගතයේ සිදුවන්නක් නම් ''වන්නේය'' කියලත් ප්‍රකාශ කළ යුතු බවයි.

**ලිඛිත භාෂා නිරුක්ති හෙවත් ව්‍යාකරණ ක්‍රමවේදය අනුව උක්තය නැති වාක්‍යයක අර්ථ සම්පූර්ණ වෙන්නෙ නෑ. නමුත් බුදු සව් පැවිදි උතුමන්, පැවිදි ශාසනයට අද වන තුරු ඇතුලත් වන්නේත්, ඒ සම්මතය පවත්වාගෙන එන්නේත් උක්තයක් නොකිය වෙන ''බුද්ධං සරණං ගච්ඡාමි - ධම්මං සරණං ගච්ඡාමි - සංඝං සරණං ගච්ඡාමි'' කියන මේ වාක්‍ය තුනෙන් සහ එබඳුම උක්තයක් නොකියවෙන දස ශික්ෂා සමාදානයකින්. මුළු ත්‍රිපිටකයම විමර්ශනය කළත් නවීන භාෂා විශාරදයින් අද පෙන්වන වර්ගයේ ක්‍රමයකින් දේශනා කරපු නිරුක්තියක් පෙන්වන්න සාක්ෂියක් නෑ. නමුත් ව්‍යවහාර ශබ්දය සමග අර්ථ පෙන්වන ඤාණ ගෝචර නිරුක්ති ක්‍රමවේදය පෙන්වන්න ඒ සඳහාම මුල් කළ සූත්‍රයක් ත්‍රිපිටක ධර්මය තුළ තියෙනවා.** ඒ තමයි දීඝ නිකායේ තුන්වන කාණ්ඩයේ එන <u>අග්ගඤ්ඤ සූත්‍රය</u>. මේ සූත්‍රයෙන් බුද්ධ භාසිත නිරුක්ති හැදිල තියෙන හැටි මනාව විග්‍රහ වෙනවා. එයින් කිහිපයක් නම් මෙසේයි.

''මහාජන සම්මතෝති බො වාසෙට්ඨා මහා සම්මතො'' - වාසෙට්ඨයනි, **මහ ජනයා විසින් සම්මත හෙයින් මහා සම්මත යැයි පළමු නම් වහර** ඇති විය.

''ඛෙත්තානං අධිපතීති බො වාසෙට්ඨා ඛත්තියා'' - **කෙතට අධිපති හෙයින් ක්ෂත්‍රිය යැයි දෙවන නම් වහර** ඇති විය.

''ධම්මේන පරෙ රංජේතීති බො වාසෙට්ඨා රාජා'' - වාසෙට්ඨයිනි, **ධර්මයෙන් ජනයා රංජනය කරන හෙයින් රජ යන නම් වහර ඇති විය.**

''පාපකේ අකුසලේ ධම්මේ බාහෙන්තීති බෝ වාසෙට්ඨා බ්‍රාහ්මණා'' - වාසෙට්ඨයිනි, **ලාමක වූ අකුසල ධර්මයන් බැහැර ලන්නේ යැයි යන හෙයින් බ්‍රාහ්මණ** යන නම් වහර ඇති විය.



මේ විදිහටම ධ්‍යාන නොකරන හෙයින් අධ්‍යායී හෙවත් අධ්‍යායකයෝ ලෙස නම් වහර ඇති වූ බවත් මනාව විග්‍රහ කරල තියෙනවා. **ධ්‍යාන කරපු පුද්ගලයින් නුවණින් අවබෝධයෙන් ලත් දැනීම, අධ්‍යායී පුද්ගලයන්ට දුන් හෙවත් අපනයනය කරපු නිසා අධ්‍යාපනය යන වචනය හැදිල තියෙන හැටි මේ අනුව** පෙනී යනවා. ඒ නිසා අධ්‍යාපනය ලැබූ පුද්ගලයාට තියෙන්නේ අනුන්ගෙන් අසා ඉගෙන ගත් දෙයට සීමා වූ මානසිකත්වයක්. **ඉගෙනීම අභිබවා අවබෝධයට පත්වන්නේ ධ්‍යායී හෙවත් ධ්‍යාන කරපු පුද්ගලයායි. තම ශ්‍රාවකයන්ට ප්‍රථම ධ්‍යානයට වත් පත්වීම සඳහා දහම් දෙසන්න බැරි අය ධර්ම දේශනා කරන්න යෑමෙන් අපවාද ලබන්නට සුදුස්සන් වන බව** දී:නි:(1), 549 පිටුවේ පටන් එන <u>ලෝහිච්ච සූත්‍රයේ</u> පෙන්වා තියෙනවා.

එබඳු චෝදනා **ලබන්න සුදුසු වූ සාස්තෘවරු තිදෙනෙක් සිටින බවත් එහි** පෙන්වා තියෙනවා. එනම්, ශ්‍රමණාර්ථයක්, ශ්‍රමණ ඵලයක් (ධ්‍යාන සහ මාර්ග ඵල පිළිබඳව) නැති කෙනෙක්, මෙය තොපට වැඩ පිණිස වේ, මෙය තොපට සුව පිණිස වේ යැයි දහම් දෙසන විට, පිරිස අසන්න රිසි නොවී, තමන්වත් අවබෝධයක් නොලබා අන්‍යයන්ට මොන යහපතක් කරන්න දැයි ඉවත යන විට, ඒ අයට දේශනා කරන්න උත්සාහ කිරීම නිසා පිරිසගෙන් චෝදනා ලබන්න සිද්ධ වෙනවා. ඒ චෝදනාව ඇත්තයි, සත්‍යයි, දැහැමියි, නිවැරදියි. ඉවතට යන ශ්‍රාවක පිරිස එම සාස්තෘට චෝදනා කරන්නේ මෙහෙමයි. ''ඉවත්ව යන්නියක වෙතට යන්නේද, නොකැමැත්තෙන් පිටුපා සිටින තැනැත්තිය වැලඳ ගන්නේද, එබඳු ලෝභී ඉච්ඡාවෙන් මැඩුනු (ආසාව නමැති මඩට ගෝචර වූ) සාස්තෘවරයෙකි'' යි ඒ දේශකයා මෙසේ පළමු නින්දා ලැබිය යුත්තා වෙනවා.

දෙවැනි නින්දා ලැබිය යුතු සාස්තෘ නම් මෙසේය. ඉහත කී අයුරුම ශ්‍රමණ ඵලයක් නොලත් භික්ෂුවක්

(දේශකයෙක්) දහම් දෙසන්න යන විට පිරිස කැමැත්තෙන් අහනවා, කන් යොමු කරනවා. නමුත් තම කෙත (කුඹුර) හැර දමා අනුන්ගේ කෙතක වල් පැල උදුරා ශුද්ධ කරන්න යන කෙනෙක් වැනි යැයිද, ලෝභ ධර්මයෙන් යුක්තයෙකැයිද, එබඳු සාස්තෘ අනෙකෙකුට කවර වැඩක් කරන්නේ දැයි නින්දා ලබන්න සුදුසුයි.

තුන්වැන්නා නම් ශ්‍රමණාර්ථයක් (ආර්ය ධ්‍යානයක්, මගඵලයක්) ලැබූ කෙනෙක්, මෙය තොපට වැඩ පිණිස හිත පිණිස යැයි දහම් දෙසාද, පිරිස අසන්නට කැමති නොවේද, අනුසාසනාවෙන් බැහැරව පවතීද, මෙබඳු අයට දෙසීමත් ලාමක ලෝභ ධර්මයක්. ඒ සාස්තෘගේ ක්‍රියාව පරණ බැඳීමක් සිඳ (පෙර තිබූ ගිහි බැඳීම් සිඳ මහණ වී නැවතත් එවැනි බැඳීමක් ඇති කරගන්නවා සේ) අලුත් බැඳීමක් කරගන්නා කෙනෙක් මෙනියි අපවාද ලබන්න සුදුස්සෙක් වෙනවා..

**දේසනාවට සුදුසු සාස්තෘවරු නම්, ශ්‍රාවකයාට ප්‍රථම ධ්‍යානයේ පටන් චතුර්ථ ධ්‍යානයට මෙන්ම ආශ්‍රවක්ෂය කර අරිහත්වයට පත්වන තුරු ප්‍රතිඵල ලබාදෙන්න දහම් දෙසිය හැකි සාස්තෘන්** බව මෙහි පෙන්වා තියෙනවා.

මෙච්චර පැහැදිලි ඤාණ ගෝචර ධර්මයක් තියෙද්දීත්, දහම් ඉගෙන ගත්තට, ''අපි තවම පෘථජ්ජනයි'' කියා කිසිම ලජ්ජාවක් බියක් නැතිව කියනවනම්, ඔරං ඔටං දකින තුරු ඔරං ඔටං යනුවෙන් ආමන්ත්‍රණය කළාට (ඔච්චමකින් කතා කළාට) කිසිම ගාණක් නැතිව ''ඇයි'' කියා පිලිතුරු දුන් පාසල් ශිෂ්‍යයා වගෙයි, පෘථජ්ජනයාගේ ස්වභාවය පෙන්වූ බුදු වදන දකින තුරු ශ්‍රමණ වෙසකුත් දරා ගෙන ''අපි තවම පෘථජ්ජනයි'' කියමින් හිඳීම කොච්චර නින්දිත දැයි, සංවේග කටයුතු දැයි කියල හිතනව නම්, සද්ධර්මය අතුරුදන් නොවීමටත් ධර්මාභිවෘද්ධියටත් හේතුවන කරුණක් වෙනවා.

නිරුක්ති පිළිබඳව බුද්ධ දේශනාව පෙන්වන අග්ගඤ්ඤ සූත්‍රයේ ඉහත ආකාරයටම වෛශ්‍ය, ක්ෂුද්‍ර ආදී නම් හැඳුණ හැටිත් පෙන්වා තියෙනවා. මෙසේ මේ කරුණු පෙන්වන්නේ භාෂා ව්‍යාකරණ ආදී සාස්ත්‍ර පහත් කරල සලකන්න නෙමෙයි. කවුරුන් විසින් හෝ ලිඛිත භාෂා සාස්ත්‍රය ක්‍රමානුකූලව ව්‍යාකරණ රටා ආදිය සම්මත කරගෙන පවත්වා ගෙන ඒම නිසා ත්‍රිපිටක ධර්ම ග්‍රන්ථ මගින් උතුම් ධර්මාව-බෝධයකට මෙන්ම අධ්‍යාපනයකට මග සැලසී තිබෙන නිසා, වසර 2500 කටත් වැඩි කලක් තිබූ බුදු දහම පිළිබඳව හරවත් දේ දැනගැනීමට ක්‍රමවේදයක් සකස් වී තිබීම බොදුනු සැමගේ වාසනාවට කරුණක්. ඒ ඉගෙනීම දරාගෙන ග්‍රන්ථ පවත්වාගෙන ඒමත් මිල කරන්න බැරි සේවයක්, අප්‍රමාණ පිනක්. නමුත් මේ පවසන්නේ බුද්ධ **නිරුක්ති කියන්නේ භාෂා ව්‍යාකරණ නිරුක්ති නොවන බවයි.**

**ඒ ඒ ජනපදවල මිනිස්සු කතා කරන්නේ නීත්‍යානුකූල ලිඛිත භාෂා හෝ ව්‍යාකරණ සම්ප්‍රදායකට අනුව නොවන** බව අවිවාදයෙන් පිලිගත යුතු කරුණක්. මජ්:නි:(3), 491 පිටුවේ එන <u>අරණ විභංග සූත්‍රයේ</u> ජනපද නිරුක්තිවලට උදාහරණ පෙන්වමින් බඳුන හැඳින්වීමට ඒ ඒ ජනපදවල පාති, පත්ත, විත්ථ, සරාව, ධාරෝප, පොණ, පිසීලව... ආදී විවිධ නම් භාවිතා කරන බවත්, ඒවායේ වචන දැඩිව ග්‍රහණය කරගෙන මෙයම සත්‍යයි, අනිත්වා වැරදි යැයි තර්ක වාද නොකර **ජනපද ව්‍යවහාරය අනුව අදහස් ප්‍රකාශකර, ධර්ම දේශනා කරන ලෙසත්** පැහැදිලිව පෙන්වා තියෙනවා.

මේ නිසා දහම් දේශනා කරන කොට අදහසට මුල්තැන දීමත්, සම්මත විද්වත් භාෂා රීති අනුව මූලික දහම් පොත් මුද්‍රණය කිරීමත් ඉතා වටිනා බව හැඟෙනවා. ඒ ඒ ජනපද නිරුක්ති අනුව කතා කරන භාෂාවෙන් යමෙක් තම අදහස හඟවන්න පොත්පත් ලියුවත්, ඒවා විද්වත් ශාස්ත්‍රීය පොත්පත් සමග සංසන්දනය කරන්න හෝ විවේචනය කරන්න නොගොස් වෙනස පමණක් වටහාගෙන කටයුතු කරන ක්‍රමවේදයක් තිබුණ නම්, (අරණ විභංග සූත්‍රයට අනුකූලව) භේද භින්න වීමක් සිදු නොවී සාමයෙන් නියම අදහස් දරන්න පුළුවන්. එහෙම නොකළොත් බුදු පියාණන් වහන්සේ දුන් නිරුක්ති ක්‍රමයත්, භාෂා රීති ක්‍රමය අනුව උමතු ප්‍රාකෘත කියල කියන්න සිද්ධ වෙයි. **මහා සම්මත, රජ, ක්ෂත්‍රිය, බ්‍රාහ්මණ... මේ ආදී පදවලට භාෂා නිරුක්ති අනුව පද බෙදා පෙන්වන්න අභියෝග කරල කිව්වත් මේ වචන හැඳිච්ච අදහස කොහොම පවසන්නද?**

**පෙර හෙළ අටුවාවල ලියල තිබුණු ජනපද නිරුක්ති ක්‍රමවේදය නිසාම විද්වත් ව්‍යාකරණ, භාෂා රීතිවලට ගලපා අර්ථ ගන්න උත්සාහ කිරීමෙන් පද, අක්ෂර මෙන්ම වාක්‍යත් ගලපා නවීකරණය කරන්න යාම නිසා දහම් අදහස් ඔප් නංවා තිබූ අර්ථ, විපරීත වෙන්නත් බැරිකමක් නැතුවා වගේම** ඒ හේතුවෙන් හෙළ අටුවා පත් ඉරුවක්වත් අද දකින්නට නොමැති ලෙස විනාශ වී හෝ සැඟවී ගියා වෙන්න පුළුවන්.

**පටිච්ච යන වචනය සිංහලට තෝරන ඇතැම් විද්වතුන් ඒකට අර්ථ දෙන්නේ ප්‍රතීත්‍ය කියලයි. සිංහල අදහස වැහිල ගිය නිසා ප්‍රතීත්‍ය යන සංස්කෘත වචනයක් දීල පොට බේරගත්තට ඒකෙන් සිද්ධ වුනේ අදහස තවත් දුරස්වීම පමණයි.** යටපත් වී ගිය පද නිරුක්ති ක්‍රමය නැවත මතුකර මේ කාරණය තෝරල දෙන්න ගියාම, විකෘති කර පෙන්වූ පද පෙරලියකින් අපහාසයට ලක්කර, ''පටි නම් බෙල්ට් (Belt), ඉච්ච නම් කැමැත්ත, සම නම් හම...'' ආදී වචන (මැත පොතක ලියා නැති) පෙන්වා ඇතැම් පුවත්පත්වල ලිපිත් පලකරල තිබුණා. නමුත් කරුණු කාරණා නොවිමසා කවුරුන් හෝ කියපු දෙයක් විශ්වාස කර, සකස් කරල පලකරන මේ වගේ ලිපිවලින් අවසානයේ අපහාසය එල්ල වන්නේ ලොව්තුරා බුදුපියාණන් වහන්සේට බව තේරුම් ගන්න බැරි වීම ඉතා බරපතලයි. පටිච්ච සමුප්පාදය යන වචනයේ සිංහල තේරුම අහනකොට ප්‍රතීත්‍ය සමුප්පාද කියල සංස්කෘත වචනයක් පවසන ආකාරයත් පෙනී යනවා. නමුත් පිළි සමුපා කියන එක තමයි මේකෙ නියම සිංහල වචනය.

**බුදු දහම වටහා ගැනීමේ මූල ක්‍රමවේදය උපමා උපමේය ගලපා දහම් අර්ථ වටහා ගන්නා ක්‍රමයක් වුවත්,** අද ඒක වැහිල ගිහින්. මජ්:නි:(2), 298 පිටුවේ එන <u>මාගන්දි සූත්‍රයේ</u> ''ආරෝග්‍යා පරමා ලාභා'' යනුවෙන් ගාථාවක් තියෙනවා. භාෂා රීතිය අනුව මේකෙ අදහස ''ලාභයෝ ආරෝග්‍යය පරම කොට ඇත'' කියන එකයි. ත්‍රිවේද පරප්‍රාප්ත මාගන්දිය නම් බමුණා භාෂා රීතිය අනුව මේක තෝරල, තම කය සාක්ෂි කොට පෙන්වමින් තමන් නිරෝගී බවත්, එය ලාභයක් බව කොතෙක් දුරට සත්‍ය දැයි සතුටින් ප්‍රකාශ කරපු ආකාරයත් ඒ සූත්‍රයේ සඳහන් වෙනවා. නමුත් එහි නියම අදහස අනුව බමුණාගේ කතාව අන්ධයකුගේ මෙන්ම මුලාවූවකුගේ කතාවක් ලෙස පෙන්වා තියෙනවා. එනම් අන්ධ පුද්ගලයෙකුට ඔහුගේ හිතවතෙක් ලෙස පෙනී සිටින කෙනෙක් කළු ගොමස්කඩ කිළිටි ඇඳුමක් දී පිරිසිදු, ලක්ෂණ, තාන් (අළුත්) ඇඳුමක් යයි පවසා ඇඳගන්න සැලැස්සුවොත්, ඒ කීම විශ්වාස කරල ඇත්ත නොපෙනෙන නිසා මුලා බැවින් හරි පිරිසිදුයි, ලස්සනයි කියල පිරිමැදීමක් වගේ යැයි උපමා පෙන්වා තියෙනවා. වෛද්‍යවරු බෙහෙත් කර ඒ අන්ධ පුද්ගලයාගේ ඇස් පෙනෙන්න සැලැස්සුවොත්, එතකොට තමයි ඔහුට රැවටී ඇති ආකාරය පෙනී යන්නෙ. මෙය තාන්, පිරිසිදු ඇඳුමක් නොව කළු, ගොමස්කඩ, කිළිටි දෙයක් කියා දකිනකොට, හිතවත් යැයි ඇඳුම දුන් කෙනාත් තමා රැවටූ වංචනිකයෙක් බව දැක ඇඳුමත්, ඔහුත් කෙරෙහි තිබ්ච්ච බැඳීමත් දුරු වෙනවා. එතකොට තමයි ඔහුට නියම පිරිසිදුකම, සුදු පාට පේන්නේ. ඒ වගේ තමයි ඇහැට පෙනෙන පිරිසිදු දෙයක් විග්‍රහ කරන්න පුළුවන් වන්නේ කියල පෙන්වා, ඒ ගාථා පාඨයේ නියම අදහස, මේ කයේ නිරෝගී කමක් ගැන නොවන බවත්, **කය රෝගයක් ලෙස දැක නිවන ආරෝග්‍යය ලෙස දැකිය යුතු බවත්** පෙන්වා තියෙනවා.

**වචන තුළ ගැබ්වුණු දහම් අදහස් වටහා ගැනීම භාෂා රීති අනුව කළ නොහැකි දෙයක්** බව මෙයින් පෙනී යනවා. ඒ සඳහා දහම් අවබෝධය නම් වූ විශේෂ නුවණක් තිබිය යුතුයි. **කාමය කියන්නේ මඩක්, උළක් කියල**

**කිව්වොත් ඒක ඔප්පු කරන්නේ මොන භාෂා රීතියෙන්ද?** නමුත් කාමය හඳුන්වා දෙන බුදු පියාණන් වහන්සේ, **මඩ යනු කාමයට නමකි, උල යනු කාමයට නමකි, භය යනු කාමයට නමකි, දුක යනු කාමයට නමකි** යනුවෙන් දේශනා කරල තියෙනවා. නමුත් ඒවා විස්තර කරන්න මේ වගේ එක ලිපියකින් බෑ. ඒ තරමම පුලුල් පරාසයකට ඒ විග්‍රහයන් විහිදෙනවා.

මේ නිසා පටි කියන්නේ බෙල්ට් (Belt) යැයි විහිලු නොකර ඉච්ඡත්වයෙන් (කැමැත්තෙන්) බැඳුනම සමුප්පාදය හෙවත් ලෝකය පහල වන ආකාරය පටිච්ච සමුප්පාද (ඊට සමාන උපත) චක්‍රානුසාරයෙන් සිදුවන හැටි දැක්කනම්, දුක සහ දුක්ඛ සමුදය දකින නුවණ පහළ වන හැටි තේරුම් ගන්න පුළුවන්. **ඉච්ඡාවෙන් බැඳීමෙන් හෙවත් පටි ඉච්ඡ වීමෙන් ලෝකය ගොඩනැගෙන හැටිත්, ඒ බැඳීමේ ස්වභාවය බුද්ධ දේශනාවේ පෙන්වා ඇති හැටිත්** මේ පෙළ දහමේ ගාථාවලින් මනාව ඔප්පු වෙනවා.

සං:නි(1), 76 පිටුව - **ඉච්ඡා සූත්‍රය**

ඉච්ඡාය බජ්ජති ලෝකෝ - ඉච්ඡා විනයාය මුච්චතී - ඉච්ඡාය විප්පහාණේන - සබ්බං ඡින්දති බන්ධනන්ති,

තේරුම :- ලොව ඉච්ඡායෙන් බැඳේ. ඉච්ඡාව දුරලීමෙන් සිඳේ. ඉච්ඡාව ප්‍රහාණ කිරීමෙන් සියළු බැඳීම් සිඳේ.

සං:නි(1). 82 පිටුව - පාථෙය්‍ය සූත්‍රය

ඉච්ඡා බද්ධා පුථු සත්තා - පාසේන සකුණී යථාති

තේරුම :- මළ පුඩුවෙන් බැඳුණු ලිහිණියක මෙන් බොහෝ සත්වයෝ ඉච්ඡාවෙන් බැඳුණෝය.

ඛු:නි:සු:නි: 276 පිටුව - කලහ විවාද සූත්‍රය - 876 ගාථාව

නාමඤ්ච රූපඤ්ච පටිච්ච ඵස්සා - ඉච්ඡා නිදානානි පරිග්ගහානි - ඉච්ඡාය සන්ත්‍යා න මමත්ත මත්ථි - රූපේ විභූතේන ඵුසන්ති ඵස්සා

තේරුම :- සම්ප්‍රයුක්ත නාමය (ඒ සමඟ යෙදෙන්නාවූ නාමය) හා වස්ත්වාලම්භන රූපය (වස්තු රූපය) නිසා ස්පර්ශයෝ උපදනාහ. තෘෂ්ණා දෘෂ්ඨි පරිග්‍රහයෝ (අල්ලා ගැනීම) ඉච්ඡාව නිධාන කොට ඇත්තාහ. ඉච්ඡාව නැතිවත්ම මමත්වය නැත. රූපය ඉක්ම යත්ම ස්පර්ශයෝ නොපහස්නාහ (පහස නැහැ).

ඉහත බුද්ධ දේශනාවලින් පෙන්වූයේ ඉච්ඡා පටිවල ස්වභාවයයි. (මේවා බෙල්ට් නෙවෙයි.)

**නිරුක්ති පටිසම්භිදාව කියන්නේ ඤාණයක්.** භාෂා විශාරද පින්වතුන්ගේ ව්‍යාකරණ පද ප්‍රභේද විධිවලට නිරුක්ති යන වචනය භාවිතා කළත්, ඒක භාෂාවට අයත් සකස් කරගත් පදයක් මිසක් බුද්ධ දේශිත නිරුක්ති අර්ථය නෙමෙයි. ධර්මයේ මේ කාරණය සඳහන් වෙන්නේ ''අත්ථ ධම්ම නිරුත්තාභිලාපේ ඤාණං නිරුක්ති පටිසම්භිදා'' කියලයි. ඒ අර්ථයෙහිද ධර්මයෙහිද වූ ස්වභාව නිරුක්ති වචනයෙහි ප්‍රභේදගත ඤාණය නිරුක්ති පටිසම්භිදාවයි කියන එකයි ඉහත කී පාඨයේ අර්ථය. (උදා:- ස්වභාව නිරුක්ති වචනය - මහා සම්මත, ප්‍රභේදගත ඥානය හෙවත් මේ වචනය හැදිල තියෙන අර්ථයන් බිඳල පෙන්වා දීම - මහ ජනයා විසින් සම්මත කරන හෙයින් මහා සම්මත නම් වේ.) මේ නිරුක්ති දකින්නේ වචනවල ශබ්ද බෙදා බලන ස්වභාවික ක්‍රම-වේදයකින් මිසක් භාෂා විශාරදයින් විසින් සම්මත කරල හදා ගත් පද රටා අනුව නොවන බව විභංගප්ප්‍රකරණයේ සහ පටිසම්භිදා මග්ගප්ප්‍රකරණයේ සංඥාපන බැලීමෙන් තේරුම් ගන්න පුළුවන්.

මේ අනුව තම හිතු මනාපෙට පද බෙදමින් නිරුක්ති දෙන්න බැරි බවත්, ඒක නොගැලපෙන බවත් තේරුම් ගන්න ඕන. **ජනතාව රංජනය කරන නිසා රජ යන වචනය හැදෙන බුද්ධ නිරුක්තිය, ජනතාව රවටන නිසා රජ යයි කියන්න බැරි බව** මේ විදිහට තේරුම් ගන්න ඕන. අවිජ්ජා ප්‍රත්‍යයෙන් නැගෙන පටිච්ච සමුප්පාදයේ අපුණ්‍යාභි සංඛාර මුල්කරගෙන නැගෙන සතර අපාගත සත්ත්ව හා ද්‍රව්‍ය නාම පද අධර්ම මුල්කර ගෙනත්, මිච්ඡා දිට්ඨි, මිච්ඡා සංකප්ප ආදී ලෙස නැගෙන දෙය අනර්ථ මුල්කරගෙනත් හැදෙන නිසා ''බලලා'' **යන තිරිසන් සතා හැදෙන පදය හැදෙන හැටි ඊට අනුකූලව, අසාධාරණ ලෙස අයුතු ලෙස බලය අලලා කරන වැඩවලින් ලබන හේතු ඵලයක් ලෙස දකින්න ඕන.**

අවිජ්ජා පච්චයා පුණ්‍යාභි සංඛාරා කියා නැගෙන පටිච්ච සමුප්පාදයෙන් සහ ලෞකික වූ සම්මා දිට්ඨි, සම්මා සංකප්ප... ආදී මාර්ගයෙන් ලෞකික වූ අර්ථ, ධර්ම සහිතව සුගති නාම පද සහ ද්‍රව්‍ය නාම පද යෙදෙන ආකාරයත් දැනගන්න ඕන. **අර්ථයෙන් ධර්මයෙන් බලය පතුරුවන මෙන්ම ඒ බලය අලලා කටයුතු කරන පින්වතුන් ඒ අනුව, මහ බලවතුන් වන රාජ රාජ මහාමාත්‍යාදී බලධාරීන් ලෙසත්, බලවතුන් ලෙසත් ලෝකයේ හඳුන්වන බලධරයන් වී සුගතිවල උපදිනවා මිසක්, බලලුන් නොවන බවත්** අත්ථ ධම්ම නිරුත්තාභිලාෂ ඤාණයෙන් දැනගෙන ශබ්ද නිරුක්ති බෙදා දැක්විය යුතුයි.

මේ අනුව ''කිඹුලා'' හැදෙන නිරුක්තිය කියන්න බැරි කුණුහරුපයක් නෙවෙයි, අනර්ථයත් අධර්මයත් යන දෙකින් ගොඩ නැගුණු දෙයක් බව නුවණින් දැක ශබ්ද බෙදා විග්‍රහ කළ යුතු නිරුක්තියක්.

**කි-අඹු+උලා**

**කිලිටි-අඹුවන්ට+ඌ ආලය**

**කිලිටි අඹුවෝ කියන්නේ වෙසඟනන්.** උන්ට ආලය කිරීමට වූ ලයටයි උල හෙවත් උලා කිව්වේ. මේක කාම මිත්‍යාචාරයට අයිති වැඩක්. අවිජ්ජා පච්චයා සංඛාරා කියන අධර්ම ජාති ගොඩනැගෙන ක්‍රමයට අනුව ගොඩනැගෙන මිච්ඡා දිට්ඨි, මිච්ඡා සංකප්ප ආදී අට මගට අයිති වැඩපිළිවෙලක්. එයින් අනර්ථයමයි සිද්ධ වෙන්නේ.

මේ හෙළ අටුවා ක්‍රමවේදයෙන් කිඹුල් ජාතිය ගොඩනැගෙන හැටි ප්‍රත්‍යක්ෂයෙන් නිරුක්ති ඤාණයෙන් දකපු පැරණි නැණවත් බොදුනුවන්, **නරියෙක් කිඹුලෙකුට මගුල් ජෝඩු කරන්න ගිහින් ඌ රවටා එගොඩ ගොඩේ තිබුනු කුණක් කා දැමූ කථාවක්** ආදර්ශමත් කථාවක් ලෙස ගොඩනගා තිබෙන ආකාරයත් සිහි කිරීම ඉතා යහපත්.

එසේම මජ්:නි: (2) 84 පිටුවේ එන කුක්කුරවතිය සූත්‍රයේ මෙසේ දක්වා තියෙනවා. ''සේනිය (මිත්‍යා සිල් ව්‍රත ආරක්ෂා කරපු කෙනෙක්) නම් නුවටු බලු තවුස්, බලු සිල් (බලු සංඛාර), බලු සිත් (බලු විඤ්ඤාණ), බලු වෙස් (බලු නාම රූප), නරතුරු කොට (නිරන්තරයෙන්) වඩා කාබුන් (කය බිඳී) මරණින් මතු සුනඛයන්ගේ සහවාසයට පැමිණේ. නමුත් මෙය දෙවියෙක් වෙන මගක් යැයි යම් දෘෂ්ඨියක් වී නම් එය ඔහුගේ මිත්‍යා දෘෂ්ඨියයි. මිසදිටු ඇත්තාට නිරය හෝ තිරිසන් යෝනිය වේ යැයි කියමි.''

මේ බුද්ධ දේශනාවයි. මෙයින් පෙනෙන්නේ බල්ලෙක් උපදින පටිච්ච සමුප්පාදයට නිදසුනක්. මෙයින් හරකෙක් හෝ වෙන සතෙක් නොවන බව පැහැදිලියි. **ගවයෙක් උපදින ආකාරය දක්වා තියෙන්නේ මෙහෙමයි.**

''මෙළොව කිසිවෙක් ගෝ ව්‍රතය අනූන කොට නරතුරු කොට වඩයි නම් (ගවයෙක් වන අවිද්‍යාව), ගෝ සීලය (ගව සංඛාර), ගෝ චිත්තය (ගව විඤ්ඤාණය), ගෝ ආකල්ප (ගව නාමරූප) අනූන කොට නරතුරු කොට වඩයි නම්, මරණින් මතු ගෙරින්ගේ සහවාසයට පැමිණේ.''

මේ සූත්‍ර කාණ්ඩයක කැටි කළ අදහසක්. මෙයින් කියන්නේ ගවයෙක් වෙන පටිච්ච සමුප්පාද ක්‍රමයයි. මේ ක්‍රමයෙන් දෙවියෙක් විය හැකියි කියන්නේ මිත්‍යා දෘෂ්ඨියක් බවත්, මිත්‍යා දෘෂ්ඨිකයාට නිරය හෝ තිරිසන් යෝනිය උරුම බවත් මේ සූත්‍රයෙන් පෙන්වා තියෙනවා. මේ අනුව මේ ක්‍රමයෙන් ගවයෙක් මිසක් බල්ලෙක් හෝ වෙනත් සතෙක් වෙන්නෙ නෑ. මේ කාරණා වටහා නොගෙන ගව විඤ්ඤාණය, බලු විඤ්ඤාණය යන වචනවල නිරුක්තිය නොදැක විවේචනයට බැසීමත් සුදුසු නැති බව තේරුම් ගත යුතුයි. සැමට බුදු මග නුවණ ලැබේවා...!

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :*

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# පෙරේත තටුවක් නිවැරදිව තියන්නේ කෙසේද?



පසුගිය කලාපයෙන් ඉදිරිපත් කරපු ලිපිය මගින් පෙරේත තටුව කියන්නේ ඉතාමත් වැදගත් බෞද්ධ චාරිත්‍රයක් බව පැහැදිලි කළා. ඒක හරියට තියන්න ක්‍රමයක් තියෙනවද? මොනවද තියන්නේ? අපිට ඕන ඕන ඒවා තියන්න පුළුවන්ද? කොතනින්ද තියන්නේ? කීයටද තියන්නේ? ඇයි දවස් හතකින්ම තියන්නේ?... ආදි වශයෙන් දැන් තවත් ප්‍රශ්න මාලාවක් පැනනගින්න පුළුවන්. මේවා එකින් එක විසඳ ගනිමු. මුලින්ම බලමු ඇයි දවස් හතක් වෙනකල් ඉන්නේ, ඊට කලින් තියන්න බැරිද කියන කාරණය.

මේකට හේතු කාරක වෙච්ච කතාවක් විනය පිටකයේ තියෙනවා. එක්තරා ස්වාමින්වහන්සේ නමක් තමන් දරාගෙන හිටපු සිවුරට මහත් ආශා කළා. මේ ස්වාමින්වහන්සේ අපවත් වුනාට පස්සේ ඒ කාලෙ තිබ්බිච්ච චාරිත්‍රයන්ට අනුව උන්වහන්සේගේ සිරුර අර සිවුරත් එක්කම සොහොනට ගිහින් දැම්මා. ඒ කාලෙ අද වගේ වළක් හාරලා දාන සිරිතක් තිබුනෙ නෑ, කැලෑ රොදකට සිරුර ගිහින් දාල එනවා. ඒ ප්‍රදේශයට කිව්වෙ අමු සොහොන කියලයි. ඉතින් ඒ සිරුර අසලින් වැඩිය තවත් ස්වාමින්වහන්සේ නමක් ඒ මළ සිරුර වටා තිබ්බිච්ච සිවුර තමන්වහන්සේගේ පාවිච්චියට සුදුසු යයි සිතා, ඒ සිරුරින් ඉවත් කරගන්න අත තියන කොටම, ''ගන්න එපා, ගන්න එපා ඒක මගේ සිවුර'' කියල ශබ්දයක් ආවා. නමුත් අර ස්වාමින්වහන්සේ වටපිට බලලා කවුරුවත් නැති නිසා, අමනුස්සයෙක් වෙන්න ඇති කියල හිතාගෙන අර සිවුර සිරුරෙන් ඉවත් කරල අරගෙන ගියා. ඒත් එක්කම සිවුරට ආසාවෙන් හිටපු ස්වාමින්වහන්සේ (ගන්ධබ්බයා), මළ සිරුරට ආවේශ වෙලා සිවුර ගත්ත ස්වාමින්වහන්සේගෙ පස්සෙන් පන්නන්න පටන් ගත්තා. සිවුර ගත්ත ස්වාමින්වහන්සේත් දුවල ගිහින් තමන්ගේ ආවාසෙට වෙලා දොර වහගත්තා. පස්සෙන් පන්නගෙන ආපු මළ සිරුර දොරේ වැදිල බිම වැටුනා. මේ කතාව ආරංචි වුන බුදුපියාණන් වහන්සේ, **මරණින් දින හතක් යනකල් මළ සිරුරකට දැමූ කිසිම දෙයක් ගන්න එපා කියල** දේශනා කළා.

බුදුපියාණන්වහන්සේ නමක් යමක් ප්‍රකාශ කරන්නේ සියළු ආකාරයන් දැකලයි. දින හතක් කියල කිව්ව නම් ඒකට හේතුවක් තියෙන්න ඕන. සාමාන්‍යයෙන් ජීවත් වෙලා ඉන්න කෙනෙක් භෞතික ශරීරය භාවිතා කරගෙන තමයි මේ භෞතික ලෝකයේ දේවල් පරිහරණය කරන්නේ. වතුර එකක් බොන්න ඕන නම්, ගියා කෝප්පයක් අතින් ගත්තා, ඒකට වතුර එකක් පුරව ගත්තා, බිව්වා. මේ වගේ සියලුම දේවල් භෞතික ශරීරයෙන් තමයි කරන්නෙ කියන්නේ. **කෙනක්ගේ මරණයේදී කොපුවෙන් කඩුව ඉවත් කළා සේ මේ භෞතික කය පැත්තක තබා මනෝමය කය හෙවත් ගන්ධබ්බයා ඉවතට යනවා. නමුත් ඒ මොහොතේ මළගිය කෙනාට තමන් භෞතික ශරීරයෙන් ඉවත්වුනා කියා හැඟීමක් නෑ. තවමත් හිතන් ඉන්නේ තමන් ජීවත් වෙලා ඉන්නව කියලයි.** (මෙය හැමෝටම සිදුවන දෙයක් නෙවෙයි, නමුත් බොහෝ දෙනෙකුට සිදුවෙන දෙයක්). **ඉතින් අර කලින් භෞතික ශරීරයෙන් කරපු කියපු දේවල් දැනුත් කරන්න උත්සාහ කරනවා.** උපමාවකින් තවත් පැහැදිලි කරගනිමු.

නිතරම අත් ඔරලෝසුවක් පළඳින කෙනෙකුගෙන් ඔහුගේ හෝ ඇයගේ ඒ අත් ඔරලෝසුව අතේ නැති වෙලාවක, අපි ගිහින් වෙලාව කීයද කියල ඇහුවොත් අර පරණ පුරුද්දට එයාගෙ අත් ඔරලෝසුව නැතත් නිකන්ම අත බැලෙනවා. ඔය වගේ **තමයි අපේ භෞතික ශරීරයට ඇති බැඳීම නිසා පරණ පුරුදු කරපු දේවල් මිය ගියාට පස්සෙත් ගන්ධබ්බ කයෙන් කරන්න උත්සාහ ගන්නවා.** උදාහරණ විදිහට වතුර තිබහ එනවා, කලින් පුරුද්දට දුවල ගිහින් කෝප්පය අල්ලන්න හදනවා, නමුත් අහුවෙන්නෙ නෑ, මොකද දැන් භෞතික කය නැති නිසා. ඒ වගේම කතා කරනවා, නමුත් අනෙක් අයට ඇහෙන්නෙ නෑ. ඉතින් කලින් කරපු කියපු දේවල් එකපාරටම කරන්න බැරි වුනාම, කෙනෙකුට ඇතිවන මානසිකත්වය ගැන අමුතුවෙන් කියන්න ඕන නෑ. ඒ වෙලාවෙදි **ඔහු හෝ ඇය වික්ෂිප්ත වෙනවා. මොකද්ද මට වුනේ කියල කලබල වෙනවා. ඉතින් තමන් දැන් ඉන්න තැන තේරුම් අරන් යථා තත්ත්වයට පත්වෙන්න දවස් හතක් යනවා.**

බුදුපියාණන් වහන්සේ මේ කාරණය කෙලින්ම දේශනා නොකළේ, ඒක ශ්‍රාවකයන්ට ගෝචර වන දෙයක් නිසයි. **මොකද ශ්‍රාවක ගෝචර දහම් බුදුන් වහන්සේ දේශනා කරන්න ගිහින් කාලය නාස්ති කරන්නෙ නෑ.** නිවැරදි බුදු බණ දේශනා කරන, දිවැස් ලාභී ආර්ය උතුමෙකුට ඉහත කියපු දේවල් දකින්න පුළුවන්. ඒ අනුවයි දවස් හතකින් බණ කියන්නේ, පින් දෙන්නේ.

**අපි දැන් පෙරේත තටුව හදන්නේ කොහොමද, තියන්නේ කොහේද, මොනවද තියන්නේ කියන කාරණයන් ගැන විමසා බලමු.**

සාමාන්‍යයෙන් නම් කෙහෙල් පතුරු අතුරලා, ඒ උඩ කෙහෙල් කොල තියලා, කෝටු තුනක් හෝ හතරක් යොදා කුඩා බරක් දරන්න පුළුවන් ආකාරයට ආසනය සකස් කරගන්නවා. ඒක දණහිසට උඩින් තිබ්බම ඇති. වත්තේ කොනක හෝ මිදුලේ ඉඩ නැතිනම් තමන් ඉන්න ගෙදර තැනක හෝ තියන්න පුළුවන්. ඊට පස්සෙ ගෙදර අය වෙනදා ආහාරයට ගන්න බත් සහ ව්‍යංජන පිඟානක් සමග වතුර වීදුරුවක් ඒ තටුව උඩින් තියනවා. මේක ඉතා පිරිසිදුව ප්‍රියමනාප ආකාරයට තැබීම වැදගත්. මළගිය කෙනා බුලත් විට කන කෙනෙක් නම් බුලත් විටක්, අවශ්‍ය කළමනා (අඩුම කුඩුම) සමග කොටල පැත්තකින් තියන්න පුළුවන්. **සමහර අය ජීවත්ව ඉන්න කාලේ කරපු කියපු දේවල් නිසා, දන් පින් කරල නැති නිසා ඒ අය දැන් ඉන්න තැන නිරුවත්ව ඉන්න පුළුවන්. එහෙම කෙනෙක් එන්න විදිහක් නැතුව, ලැජ්ජාවෙන් වෙනත් තැනක අහුමුළුවල හැංගිලා ඉන්න පුළුවන්.** ඉතින් සරමක්, කමිසයක් හෝ ඒ වගේ සුදුසු ඇඳුමක් වුනත් පෙරේත තටුව උඩින් තියන්න පුළුවන්. ඒක අපතේ යෑමක් වෙන්නෙ නෑ. හේතුව ඒ මිය ගිය කෙනාට අවශ්‍ය නැති වුනත් ඊට සම්බන්ධ වෙනත් පරපුරේ ඥාතියෙකුට ඒක ගැලපෙන දීමක් වෙන්න පුළුවන් නිසා. මේ විදිහට සුදුසු කළමනා ටික තියල, බණට වැඩිය ස්වාමින්වහන්සේ ධර්ම දේශනාව ආරම්භ කරන්න කලින් ඒ මළගිය ඥාතියාගේ නම කියල තුන් පාරක් ආරාධනා කරනවා. ''අම්මේ, මෙන්න මේ ටික අරගන්න, සුදුසු විදිහට

පරිහරණය කරලා බණ අහන්න එන්න'' මේ ආකාරයෙන් ගැලපෙන විදිහට කියන්න පුළුවන්. ගෙදර කෙනෙක්ම තටුවට කළමනා ටික තියල ආරාධනා කරනව නම් වඩා හොඳයි.

මෙහිදී සුදුසු කළමනා කියල විශේෂයෙන් සඳහන් කරන්න හේතුවක් තියෙනවා. මොකද සමහර අයගේ මතයක් තියෙනවා, ඒ මළගිය කෙනා ජීවත්ව ඉන්න කාලේ කැමති වෙච්ච දේවල්ම තියන්න ඕන කියලා. සමහරු මත්පැන් බොන්න කැමතියි කියල මත්පැන් තියනවා, දුම්පානය කරන්න කැමතියි කියල දුම්වැටි තියනවා. මේ විදිහට නානාප්‍රකාර නුසුදුසු දේවල් මේ තටුවට තියන්න හදනවා. එතකොට තටුව තියන්න මුල් **වෙච්ච කාරණය** සම්පූර්ණයෙන්ම අමතක වෙලා වගෙයි ගෙදර අය හැසිරෙන්නේ. මුල් වෙච්ච කාරණය මොකක්ද? **තමන්ගේ ඥාතියාගේ බඩගින්න කාන්සිය නිවලා, නිවන් මගට යොමු කරන ධර්ම දේශනාවක් ශ්‍රවණය කරන්න සැලැස්වීම.** දැන් අරවගේ නුසුදුසු දේවල් තියල, බීල මත් වෙච්ච කෙනෙකුට බණ අහන්න පුළුවන්ද? තමන් කැමතියි කියල ගිජු වෙච්ච දේවල්වලට හිත යනවා ඇරෙන්න, අර වටිනා ධර්ම දේශනාවට හිත යොමු කරන්න පුළුවන්ද? ඒ නිසා මළගිය කෙනා මොනවා කැමති වුනත් ගෙදර උදවිය ඥාණගෝචර වෙන්න ඕන. **දහමක් වැටහෙන්න නම් බඩගිනි කැරකිලි ගති නිවිලා කය ප්‍රබෝධමත් වෙන ජාතියේ ආහාර පාන ආදිය තටුව මතින් තියනවා හැරෙන්න, රස කාමයෙන් මත්වෙන දේවල් තියල තව තවත් අතරමං කරන එක නෙවෙයි කරන්න ඕන. දේශනා කරන්නත් ඕන දාන කතා, සීල කතා ආදියෙන් පටන් අරගෙන නිවන මුල් කරගත් නෙක්ඛම්ම කතාවකින් අවසන් වෙන විදිහටයි.**

හොඳයි දැන් තියන්න ඕන විදිහ දන්නවා. දැන් තටුව ඉවත් කරන්නෙ කොහොමද?

ඇත්තටම ඉවත් කරන විශේෂ ක්‍රමයක් නෑ. විනාඩි පහක් දහයක් විතර තියල ඉවත් කරගන්න පුළුවන්. පහසු වෙලාවක තුන්මං හන්දියක් හෝ පාර අයිනක් වැනි තැනකට ගිහින් දැමීම සුදුසුයි. තටුවට තියපු ඇඳුම් ආදියත් යාචකයෙක් හෝ ගෙනිච්චත් අපට ප්‍රශ්නයක් නෑ. ගන්ධබ්බ කායිකව ඉන්න ඥාතීන් ඒ ආහාර ගන්නේ ඒ අයගේ ලෝකයට ගැලපෙන ක්‍රමයකට ගඳ සුවඳ ආඝ්‍රාණය කරලයි. (ගන්ධබ්බ කියන්නේ ගන්ධයේ එල්බගත් කියන එකයි) සංයුක්ත නිකායේ ගන්ධබ්බ සංයුක්තයේ මේ විදිහට ගඳ සුවඳ ආඝ්‍රාණයෙන් ජීවත් වන දේවතා කොට්ඨාශයක් ගැනත් සඳහන් වෙනවා. ඒ ආකාරයටමයි අපේ මළගිය ඥාතීන් ඒ තටුව උඩ තිබ්බ දේවල් ගන්නේ. **තියපු දේවල්වලට අනුව ඒ අයගේ ලෝකයේ ඒ ආහාර පාන, භාණ්ඩ ආදිය මැවිල එන ක්‍රමයක් තියෙනවා.** එහෙම නැතිව ඒ අයගේ අතපෙවීමක් වෙන්නෙ නෑ. නමුත් මේ වෙන් කරපු දේවල්වලට සමහර ප්‍රේත කොටස් බැල්ම දාගෙන ඉන්නත් පුළුවන්. තමන්ගේ ඥාතීන් විවිධ පහත් අත්බැව් ලබා ඉන්නත් පුළුවන් නිසා එබඳු පුද තටු ඔවුන් විසින් අරක් ගන්නත් පුළුවන් නිසයි දෙමං සන්ධි තුන්මං සන්ධි වැනි ඒ අය වැඩිපුර ගැවසෙන තැනකට දමා තැබීම සුදුසු වන්නේ. යකැදුරන් විසින් තබන පෙරේත තටුවලට යක්ෂ ආදී අමනුෂ්‍ය කොටස් කැඳවා කැප කර දෙන නිසා ඒවාට බොහෝ අමනුෂ්‍යයන් බැල්ම දාගෙන ඉන්න පුළුවන්. ඒ වගේම ඒවාට ඥාති නොවන අමනුෂ්‍ය බලවේගත් සම්බන්ධ වෙන්න පුළුවන්. ඒක වෙනම අංශයක්. ඒ නිසා මේ අවස්ථා දෙකේ වෙනස තේරුම් ගන්න ඕන.

ඉතින් ඔය ආකාරයට තමයි මේ පෙරේත තටුව තියන්නෙත් ඉවත් කරන්නෙත්. ජීවත් වෙලා ඉන්න අපි දැන ගන්න ඕන දෙයක් තමයි ඇයි අපිට ආහාරයක් ඕන කියන කාරණය. ආහාරය නැතිනම් බඩගින්නෙන් ක්ලාන්ත වෙනවා, කිසි දෙයක් කරකියාගන්න බැරුව යනවා. මනස මෙහෙයවා කිසි කටයුත්තක් කරගන්න බෑ. ඉතින් **යම් ආහාරයක් ගැනීමේදී ඇති වන කායික ප්‍රබෝධයෙන්, මේ ලෝකෙ හරයක් නැති සිංදු කිය කියා උඩ පැන පැන ඉන්නවට වඩා ඥාණගෝචර වැඩකට යොදා ගන්න අපි දැනගන්න ඕන.** ඉන් ප්‍රබෝධමත් වන මනසින් ලෝකයේ අසාරත්වය තේරුම් ගන්න උත්සාහ කරන්න ඕන. අපි කන බොන ආහාරයට අමතරව තවත් ආහාර වර්ග තියෙනවා. **සසර ගමන යන්න ඇසට මන වඩන රූපය ආහාරයක් වෙනවා, කනට මන වඩන ශබ්දය ආහාරයක් වෙනවා, නාසයට මන වඩන ගන්ධය ආහාරයක් වෙනවා, දිවට මන වඩන රසය ආහාරයක් වෙනවා, ශරීරයට මන වඩන පහස ආහාරයක් වෙනවා, මනසට නානාප්‍රකාර මන වඩන සිතිවිලි ආහාරයක් වෙනවා.** ඉතින් ඒ ආහාර දෙන කල් අපි සසර ගමන යනවා. අනේ කොච්චර ලස්සන රූපයක්ද? ඒක මම වෙන්න ඇත්නම්, මගේ කරගන්න ඇත්නම්... කියල කැමැත්තෙන් බැඳෙන තාක් කල් අපිට රූපය නිසා ආහාර ලැබෙනවා. ඉන් ලැබෙන පෝෂණ ශක්තිය සසර ගමන තව තවත් දික් කරනවා. එහෙම වෙන්නේ එබඳු අරමුණු කෙරෙහි යළි යළිත් බලාපොරොත්තුවෙන් ඡන්ද රාග සහගතව ඒවා පසුපස හඹා යන නිසයි.

ගමන නවත්වන්න නම් පෝෂණ ශක්තිය ලැබෙන එක නතර කරන්න ඕන. රූපය නිසා ලැබෙන ආහාර නතර කරන්න ඕන. ඉතින් මන වඩන රූපයකින් ලැබෙන රසවත් ආහාරය එකපාරටම නතර කරන්නෙ කොහොමද? රූපයේ යථා ස්වභාවය දැන ගත්තනම් ඉන් ලැබෙන ආහාරය කොච්චර රසවත් වුනත් අපිට ප්‍රතික්ෂේප කරන්න පුළුවන්. ඉතින් මේ රූපය තමන්ට කැමති විදිහට පරිහරණය කරන්න පුළුවන්ද? කොච්චර රැක්කත් කැඩිල බිඳිල විනාශ වෙලා යන, එහෙම නැතිනම් කවුරුහරි කඩල බිඳල විනාශ කරල යන දෙයක් තමන්ට කැමති විදිහට තියෙයි කියල සහතිකයක් දෙන්න පුළුවන්ද? එහෙම නොවුනත් ඊට හිමි ස්වභාවය වූ ජරාවට, මරණයට පත්වීම තමන්ට වළක්වන්න පුළුවන්ද? මෙබඳු බාධකවලට මුහුණ දෙමින් රකින්න හදන මේ රූපය මොහොතක් පාසා බඩගින්න, පිපාසය, සීත උෂ්ණ, මැසි මදුරු බාධක, විවිධ දුක් වේදනා, ලෙඩ රෝග, හිංගි හිංසා ආදී අප්‍රමාණ දුක් වේදනාවලින් නිතර පෙළෙනවා. ඒ නිසා දුකක්ම උපදී, දුකක්ම වැනසේ කියලයි බුදුන් වහන්සේ දේශනා කළේ. ඉතින් එහෙව් රූපය පෝෂණය කරන ආහාරයක් හොඳයි කියන්නේ කොහොමද? ඒ ආහාරයෙන් ලැබෙන පෝෂණය හොඳයි කියන්නේ කොහොමද? මෙතෙක් කල් තමන් ඒ මුලාවට පත්වූ පෝෂණයෙන් ශක්තියෙන් නේද මේ තාක් දීර්ඝ සසර ගමනක් ඇවිත් තියෙන්නේ. ඉතින් ඥාන ගෝචරව මේ පරිහරණයට සුදුසු නැති (අනිසි) ඒ නිසාම දුක ගෙන දෙන අසාර රූපය නිසා තමන් ගන්න ආහාරය ටික ටික අඩු කළාම රස රාගයෙන් මත් නොවී කය යැපෙන පමණට හුරු කරගත්තම සසර ගමනට ඇති ශක්තිය, පෝෂණය අඩුවෙනවා, ගමනේ වේගය අඩුවෙනවා. මුලුමනින්ම සතර ආහාරයට ඇති ඡන්ද රාගය නිරෝධ කළාම සසර ගමනට ඇති ශක්තිය පෝෂණය සම්පූර්ණයෙන්ම නැතිවෙලා ගමන නවතිනවා.

**''ඇවැත්නි, මෙසස්නෙහි මහණ කෙළි පිණිස නොවේ, මදය පිණිස නොවේ, අඩුතැන් පිරීම පිණිස නොවේ, සැරසුම පිණිස නොවේ, යම් තාක් මේ කය පැවැත්ම පිණිස, යැපීම පිණිස, සාදුක් වේදනා නැසීම පිණිස, බඹසරට අනුග්‍රහ පිණිස (වළඳමි). මෙසේ පැරණි වේදනා ද නසන්නෙමි. අලුත් වේදනා ද නූපදවන්නෙමි. මාගේ ඉරියව් පැවැත්ම ද නිවරද බව ද පහසුවිහරණය ද වන්නේයැයි නුවණින් සලකා අහර ගනී.''** * (සාරිපුත්ත සද්ධිවිහාරික සූත්‍රය * සං.නි. 4 * 219 පිටුව)

මේ විදිහට ශරීරයට දෙන ආහාර ප්‍රත්‍යවේක්ෂා කළ යුතුයි. හිතට දෙන ඉතිරි ආහාර තුන නම් ස්පර්ශාහාර, විඤ්ඤාණාහාර හා මනෝසංචේතනා ආහාරයි. තතු දැනගෙන මේවාටත් ඇති ඡන්ද රාගය දුරු කිරීමෙන් සසර ගමන කෙළවර වෙලා නිවන පූර්ණ වෙනවා.

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :*

**ෆික්රි ඉස්මයිල්**
**පරිගණක ඉංජිනේරු**
**ගොතටුව**

# එදා සක්විති රජවරුන් අද තණකොළ උලා කති

බයක් සැකක් නැතිව සක්විති රජවරුන්ට මෙහෙම කථාවක් කියන්න සමතෙක් මේ ලෝකෙ ඉන්නවද? ඒවගේම සක්විති රජවරුන්ට අපහාසයක් උපහාසයක් සිද්ධවෙන මෙහෙම කථාවක් කියන්න වටිනවද කියල ඔබට තරහක් එන්නත් පුළුවන්. නමුත් එහෙම වෙන්නෙ මේ කථාව බොරුවක් වෙනවනම් විතරයි. මේ කථාව විස්වාසයෙන් පිළිගතහැකි ඇත්තක් නම් සාමාන්‍ය රජ වරු, මැති ඇමතිවරු, සිටුවරු විතරක් නෙවෙයි අද ඉන්න කෝටිපති ප්‍රකෝටිපති කියන අයත් ඇතුලත්ව, මට බලයක් තියෙනවා කියන පූහු මානයෙන් හිස උදුම්මා ගත් සියල්ලන්ම සක්විති රජ කියන තානාන්තරයට යටත් බව පිලිගන්න වෙන නිසා, ඒ අයටත් කවදා හෝ වලිගය වන වනා තණකොළ බුදින්නත් සිද්ධ විය හැකි දහමක් ලෝකයේ ක්‍රියාත්මක වන බව අමතක නොකළ යුතුයි. ඉතින් මේ වගේ දුකකින් ගැලවෙන්න, අපි වගේ පිනක් දහමක් පහසුවෙන් කරගන්න වත්කමක් නැති සාමාන්‍ය දුගී දුප්පත් අයට යන කලදසාව ගැන හිතාගන්නවත් බෑ කියල ඔබට දුකත් හිතෙන්න පුළුවන්.

මෙන්න මේ නිසා කිසිවක් කර කියා ගන්න බැරි දුගී දුප්පත් අය තමයි මේ කථාවෙන් වැඩියෙන්ම දුකට පත්වෙන්නෙ, බියට පත්වෙන්නෙ. අන්න ඒ නිසා ඒ අය වෙනුවෙන්මයි මේ පැහැදිලි කිරීම. මොකද ඒ අය හිතන්නෙ ධනයවත්, නිලයවත්, බලයවත් නැතිව කොහොමද පිනක් දහමක් කරගන්නෙ කියල. ''පින් නොකළොත් කොහොමද සතර අපායෙ හරකෙක් වෙන්නෙ නැතිව, මනුස්සයෙක් වෙන්නෙ, දෙවියෙක් වෙන්නෙ, දිව්‍ය අංගනාවක් වෙන්නෙ? එහෙම හොඳ තැනකට යන්න මේ පින් මදි වෙයිද? බැරි වෙයිද?...'' මේ ආදී වශයෙන් හා සමහර බොදුනුවො තමන් කරගන්නා පින් ගැනත් සැක හිතල හිතින් දුක් වෙනවා.

මේ මහා සක්විති රජවරු වෙලා හිටපු අයටත් ඒ සම්පත්වලින් පිනක් දහමක් කරල මේ දුකෙන් ගැලවෙන්න බැරි වුනානම් කියන සැකය නිසයි තමන් කරන පින් ගැන නොසෑහීමට පත්වෙන්නෙ. නමුත් මේ අභාග්‍ය සම්පන්න සතර අපා ස්ථානයේ ඉපදිලා වලිගය වන වනා තණකොළ කෑමෙන් හෝ අවීචි මහා නරකය, ප්‍රේත විෂය වගේ තැන්වල ඉපදිලා





දුකට පත්වීමෙන් හෝ ගැලවිය හැක්කේ පින්වලින් පමණක්ම නොවන බව යථාර්ථවත්ව වටහා ගන්න තව ටිකක් ඉවසගෙන ඉන්න වෙනව.

ඒ නිසා පළමුවෙන්ම දැනගන්න උවමනායි, මේ සක්විති රජවරුන්ටත් තණකොළ බුදින්න සිද්ධවෙලා තියෙනවා කියන කථාව කිව්වෙ කවුද කියන එක. ඒවගේම ඒක අපට සැක නැතිව පිළිගන්න පුළුවන්ද කියල පලමුවෙන්ම සොයා දැන ගැනීම වැදගත්.

මේ කථාව අපට කිව්වෙ, මේ තුන් ලෝකයේ පැවත්ම සියලු ආකාරයෙන්ම අතැඹුලක් සේ දක්ක අමා මෑණී සම්මා සම්බුදු පියාණන් වහන්සේ තමයි. ඒ නිසාමයි උන්වහන්සේ දේශනා කරපු සියලු දේශනා කිසිම සැක සංකාවක් නැතිව බොදුනුවන් අවිවාදයෙන් පිළිගන්නෙ. ඒ වගේම ඇත්තක්ම මිසක් බොරුවක් නොකියන උන්වහන්සේගේ දේශනාවලින් කියවෙන දේවල් බෞද්ධ අපට කිසිම අවිස්වාසයක් නැතිවම පිළිගන්න පුළුවන් වෙන්නෙ, ඒවා කිසිම ලාභයක්, කීර්තියක්, ප්‍රසංසාවක් බලාපොරොත්තුවෙන් දේශනා කරපු ඒවා නොවන නිසයි.

මෙහි නිධාන කථාව ත්‍රිපිටකයේ අපදාන පාලියේ සඳහන් වෙලා තියෙන්නෙ මෙහෙමයි. බුදු පියාණන් වහන්සේ දිනක් ආනන්ද හිමියන් ප්‍රමුඛ පන්සීයක් භික්ෂූන් වහන්සේලා පිරිවරාගෙන වෙනත් ප්‍රදේශයක් කරා වඩිමින් සිටියා. ඒ ගමනේ අතරමගදී උන්වහන්සේ මඳ සිනා පාමින් නවතින හැටි ආනන්ද හිමියන් දැක්කා. (බුදු කෙනෙක් සිනා පහළ කරන්නෙ විශේෂ අවස්ථාවකදී විතරක් වගේම, එවිට සිරසින් රැස් දහරාවක් විහිදෙන නිසා පසුපසින් සිටින්නෙකුටත් පහසුවෙන් දැකගන්න පුළුවන්) එතකොටම බුදු පියාණන් වහන්සේ ආනන්ද හිමියන්ගෙන් අහනව, ආනන්ද අර ගෙරි රැළ ඔබට පේනවද කියල. එසේය ස්වාමීනී කියා අනඳ හිමියන් පිලිතුරු දෙනවා. එවිට උන්වහන්සේ කියනව, ආනන්ද මේ මී හරක් රංචුව අතරේ සංසාරේ කවදා හෝ සක්විති රජෙක් වෙලා ලොව පාලනය නොකරපු එකෙක්වත් නැති බව මට පේනව කියල. ඉතින් බලන්න මහා සක්විති රජෙක් වෙලා සංසාරේ කවදා හෝ ලොව පාලනය කරපු මේ අයත් අද ඉන්නෙ කොතනද කියල.

ඉතින් ඒ කථාව පිලිගත්තු ආනන්ද හිමියන්ට පුදුමයක් ඇතිවුනේ, මෙච්චර සැප සම්පත් විඳිමින් ලෝකය පාලනය කරපු සක්විති

රජවරුන්ට අද අත් වෙලා තියෙන ඉරණම අහල දැකල හෙම නෙවෙයි, **එදා ලෝකය පාලනය කරපු ධනයෙන්, නිලයෙන්, බලයෙන් වැජඹුනු සක්විති රජවරු දූන් තණකොළ කනව දැක්කම, අනේ අපොයි සංසාරේ හැටි කියල උන්වහන්සේ දුක්වෙන්නේ නැතිව, ඇයි මේ විදියට සතුටෙන් වගේ මඳ සිනා පහළ කළේ කියන කාරණය** සිහිපත් වෙලයි.

මෙන්න මේ කාරණයත් හිතේ තියාගෙන ආනන්ද හිමියන් අහනව, ඉතින් ඇයි ස්වාමීනි එදා උජාරුවෙන් සක්විති රජකම කළත් අද තිරිසන් අපායේ දුකට පත්වෙලා ඉන්න මේ පිරිස දැකල ඔබ වහන්සේ සිනා පහළ කළේ කියල. ඒකට උන්වහන්සේ මෙහෙම පිළිතුරු දෙනවා.

''ඇයි ආනන්ද ඔබට තේරෙන්නෙ නැද්ද මේ අය ධනය බලය වගේම මොන සැප සම්පතක් අඩුවෙච්ච අයද? මේ අයට මේ සංසාර ගමනේදී බුදුවරු කොච්චර නම් මුණ ගැහිල ඇත්ද? ඒත් කෝ සසරින් එගොඩවෙන්න හෝ අඩුම තරමින් සතර අපා දුකෙන් නිදහස් වෙන්න හෝ සුගතිගාමී වෙන්න උවමනා කිසිම දෙයක් කරපු බවක් හෝ අසා දැනගත් බවක් හෝ නෑ. ඒ නිසාම දැන් සතර අපායේ, තිරිසන් යෝනියේ ඉපදිලා තව තවත් පහළින් පහළට ගමන් කරමින් සිටිනවා.''

උන්වහන්සේ පැහැදිලි කරපු මේ කථාවත් කිසිම සැකයකින් තොරව ආනන්ද හිමියන් පිළිගත්තට තවත් නොතේරුණ කොටසක් ඉතිරි වෙච්ච නිසා නැවත අහනව, එහෙමනම් ඇයි ස්වාමීනි ඔබ වහන්සේ මඳ සිනා පහළ කළේ කියල. ඉතින් ආනන්ද හිමියන් අහපු ඒ ප්‍රශ්නයට උන්වහන්සේ දුන්න පිළිතුර ඔබටත් වැදගත් වේවි දැයි බලන්න.

''ආනන්ද, ඔබට වැටහෙන්නෙ නැද්ද, පෙනෙන්නෙ නැද්ද ඔබ ඇතුලු මේ පන්සීයක් භික්ෂූන් වහන්සේලා කොච්චර වාසනාවන්තද කියල? මේ පන්සීයක් භික්ෂූන් වහන්සේලා සියල්ලෝම කොච්චර ගරු කටයුතුද බලන්න. මේ පන්සීයක් භික්ෂූන් වහන්සේලා පිරිස කවදා හෝ සසර ගමනින් නිදහස්වන තුරු තව කොච්චර කාලයක් සසරේ ගමන් කළත් ආයෙත් කිසිම විදියකින් කිසිම හේතුවක් නිසාවත් සුගතියෙන් සුගතියටම යනවා මිසක්, සුගතිය වූ මිනිස් අත්බැවකින් පහළට වැටෙන්නෙ නෑ. මේ පන්සීයක් දෙනාම සසර දුකෙන් නිදහස් වෙන නිවන් මගට පිළිපන්නෝයි.''

මෙයින් කියවෙන්නේ ආනන්ද හිමියන් ඇතුලු පන්සීයක් භික්ෂූන් වහන්සේලාම සතර අපාය ඉක්මවා ගිය බවයි. **බුද්ධ දේශනාවකින් කියවෙන මේ කථාව අනුව බුදු කෙනෙක් ලෝකෙට පහළ වෙලා ධර්මය ජීවමානව පවතින කාලයක මිනිසත් බවක් ලැබූ කෙනෙක් කෙසේ හෝ සතර අපාය ඉක්මවා යන්න කටයුතු කර නොගත්තොත් ඒ පුද්ගලයාට සිද්ධ වෙන දේ ගැන ගෙරි රැළ පෙන්වා කර ඇති මේ අනතුරු** හැඟවීම ඔබට ඒත්තු ගියාද?

එහෙනම් ඔබ සතර අපාය ඉක්මවා නැති, එනම් සංසාර ගමනේ මහා බියකරු අනතුරින් නිදහස් වෙලා නැති කෙනෙක් නම්, මේ මාහැඟි අවස්ථාව මගහැර දැමුවොත් කල්ප ගාණක් නෙවෙයි, සිව්සස් දහම් අවබෝධ නොකරන අනන්ත කාලයක් තුරාම දුගතියේ දුක් විඳින්න සිද්ධ විය හැකි  බව නුවණින් දකින්න ඕන.

**ඒත් මොනයම් හෝ පෙර පිනක්, සුචරිතයක් ශේෂව තිබීමේ හේතුවෙන් කල්ප ගාණකට පසුව හෝ සතර අපා දුකෙන් තාවකාලිකව නිදහස් වෙලා නැවත මනුස්සයෙක් වෙන්න ඉඩක් ලැබුනත්, එදාටත් අබුද්ධෝත්පාද කාලයක් නම්, ඇති වැඩේ මොකක්ද?** එහෙමනම් ඔබට බුදුකෙනෙකුගේ දහමක් අහන්නවත් ලැබෙන්නෙ නෑ. ඒ වගේම තවත් කල්ප සිය දහස් ගාණක් ගෙවිල ගිහින් කවදා හෝ දවසක බුදු කෙනෙක් පහළ වෙලා ඒ දහම ජීවමාන කාලයක මිනිසත් බවක් ලැබුනටමත් ඒ වාසනාව ලැබෙන්නෙ නෑ. **මනුස්සයෙක් වුනාටම මදි. සිහි බුද්ධිය තියෙන මනුස්සයෙක් විදියට, බුදු කෙනෙකුගේ දහම අහන්න පුළුවන් දේශයක, ඒ දහම පිළිගන්නා සම්‍යක් දෘෂ්ටික කුලයක වගේම දහම් හඬ ඇසෙන මානයක, සුචරිතවත් වටපිටාවක් ඇතිව උපදින්න ඕන.**

එහෙනම් අති දුර්ලභව සත්ත්වයෙකුට ලැබෙන ත්‍රිහේතුක වූ මිනිසත් බවකුත් ලැබිල, බුද්ධෝත්පාද කාලෙකුත් වෙලා, ආර්ය ධර්මය ජීවමානව ඇති වෙලාවකුත් වෙලා, ධර්මය ජීවමාන දේශයක, එය පිළිගන්නා සම්‍යක්දෘෂ්ටික කුලයක, දහම් හඬ ඇසෙනා හොඳ වටපිටාවකුත් ඇතිව, හොඳ සිහි බුද්ධියකුත් ඇතිව මේ දහම අහන්න ලැබුනනම් ඔබ කොහොම කෙනෙක්ද?

**ගණනය කරන්න බැරි තරම් වූ ලෝක සත්ත්වයන් සංසාර ගමනක යද්දී, ඒ අතරින් මේ වගේ බුද්ධෝත්පාද කාලයක් හමුවෙලා මනුස්සයෙක් වෙන්න වාසනාවක් පෑදෙන්නත් මහා පිනක්, හේතු වාසනාවක් තියෙන්න ඕන.** ඒවගේම ඔබත් සතර අපා දුකෙන් නිදහස් වෙන්න කියල අනුශාසනා කරමින්, බුදුකෙනෙක් දේශනා කළ ආර්ය ධර්මයක් කියාදෙන්න උත්සාහ කරන කල්‍යාණ මිත්‍රයෙක් මුණගැහෙන්නත් ලේසි පහසු පිනක් තිබිල පුළුවන්ද? **කෝටි ප්‍රකෝටි වූ ලෝක සත්ත්වයන් අතරින් කෙනෙකුට ලැබෙන අහඹු අවස්ථාවක් තමයි මේක.** ඒත් ඒ වාසනාව ලැබෙන්නෙත් බුදුකෙනෙක්ගේ ධර්මයක් ජීවමාන කාලයක, ඒ ධර්මය නිවැරදිව වටහාගත් ආර්ය උත්තමයෙක් මුණගැහිල, ඒවගේම සතර අපාය ඉක්මවා යන දහමක් අසා දැන ගන්න ලැබුනොත් විතරයි. ඒ වගේ අවස්ථාවන් ඉදිරියේදී ලැබෙන්න පුළුවන්. ඒ දහමේ මූල සිද්ධාන්තය මා ඇසූ දැරූ පමණින් වටහා දෙන්න උත්සාහ කරන නිසා මේ හේතුඵල දහම් රටාව ඉවසිල්ලෙන් සැලකිල්ලෙන් විමර්ශනාත්මකව කියවා බලන්න. මෙතෙක් කල් ඔබ මොන පඬිවරයාගෙන් දහම් ඉගෙන ගත්තත්, මේ සුන්දරයි කියා මායාවෙන් වට වූ ලෝකය තවත් සුව සතුට දෙන තැනක් කරගන්න හැටි කියා දෙන ලෞකික දහමක්ම කියා දුන්නා මිසක්, බුදු පියාණන් වහන්සේ දේශනා කරපු නිවන් මගට පත් කරන යමක් කියා දුන්නා දැයි අවසානයේදී විමසා බලන්න. **කොච්චර සුව සතුට දෙන දෙයක් වුනත් අවසානයේ දුකක්ම අත්කර දෙමින් අපව සංසාර ගමනේ තව තවත් අතරමං කරන්න මග පාදන බව බුදුන් වහන්සේ දේශනා කරල** තියෙන බව වත් පහදා දුන්නද? කියල දුන්න නම්, හේතු වාසනාවත් තිබුණ නම් ප්‍රඥාවන්තයින්ට වැටහී යන්න ඕන. වැටහී ගියානම් ඔබ මෙන්න මේවගේ අවබෝධයකින් ඉන්න ඕන. ඒ අවබෝධය තමයි මේ දුකෙන් පිරුණු ලෝකයෙන් තමන්ට කෙසේ හෝ මිදෙන්න ඕන කියන සිතිවිල්ල.

මේ ආකාරයෙන් **මිදෙන්න ඕන කියන සිතිවිල්ල පහළ වෙන්න මහා උගත්කමක් අවශ්‍ය නෑ. එදා කසල සෝධකයන්, වෛශ්‍යාවන්, ඇඟිලි මාල එල්ලගත් මිනී මරපු අය වගේම මළ පොතේ අකුරක් නොදන්න අය පවා අරිහත්වයට පත් වුනේ මේ ආර්ය ධර්මයේ එක ගාථාවක් අහලයි.** සතර අපායෙන් නිදහස් වෙලා මගඵල ලාභී ආර්ය ශ්‍රාවකයන් බවට පත් වුනේ හේතුවක් සහ ඵලයක් කියන ධර්මයේ හේතු නිරෝධයෙන් ඵල නිරෝධ වන මූල සිද්ධාන්තය දැකලයි.

ඒකට මාස ගණන් අවුරුදු ගණන් භාවනා පන්ති යන්නවත්, මාස ගණන් සීල ව්‍යාපාර පවත්වන්නවත් උවමනා වුනේ

නෑ. අද වගේ උගත් ධර්මධරයන්ගෙන්, ත්‍රිපිටකධාරී මහා පඬිවරුන්ගෙන්, ගුවන් විදුලියෙන්, රූපවාහිනියෙන් පැය ගණන් බණ අහන්න උවමනා වුනෙත් නෑ. නමුත් ඒවා වැඩක් නෑ, කරන්න එපා කියන එක නෙවෙයි මේ කියන්නේ. අද වෙනකොට පැය විසි හතරෙම බණ අහන්න ලැබිලත් මොකක්ද ලැබිච්ච ප්‍රතිඵලය? මේ බණ අහන්න පටන් ගත්තේ කවදාද? එදා පටන් නිවන් මගේ කොච්චර දුරක් ගමන් කරල තියෙනවද? මෙතෙක් කල් හිල් කූඩෙන් වතුර ඇද්දා වගේ, නිවන කියන්නෙ මොන වගේ දෙයක්ද කියලවත් තේරුම් ගිය යමක් අවබෝධ වෙලා තියේද කියල කල්පනා කරල බලන්න. මෙතෙක් අහපු බණවල තරමට නිවන අනුමානයෙන්වත් දැකල තියෙන්න ඕන. කෝ ඒව ඔක්කොම ගලපිට කැඳ වත්කළා වගේ මේ කනින් ඇහුවා අනෙක් කනෙන් පිටවෙලා ගිහින්. නිවීම ගැන හදවතට දැනුන යමක් ඉතිරි වෙලා තිබේද කියල නැවත බලන්න. මෙතැනදී දොස් දකින්නේ, නිවන් දැකීම සඳහා බුද්ධ දේශනාවෙන් කරන්න කියපු දේ පැත්තක තියල මෙලොව සැප සුබ විහරණය ගැනම වර්ණනා කිරීම ගැනයි. ඒ වගේම දෙව් මිනිස් සැප කෙලවර කරමින් ලස්සන සසර ගමනක් දිගින් දිගට හදාගන්න හැටි නෙවෙයිද අද පවසන බුද්ධාගමෙන් බොහෝ දෙනෙක් කියාදෙන්නේ? නමුත් **මේ ආකාරයෙන් හෝ බුද්ධාගම රැකුනේ මහා සංඝ රත්නයේ මහා කැප කිරීම නිසයි. ත්‍රිපිටක පොත් ටිකවත් අපේ මහා සංඝ රත්නය දිවි දෙවැනි කොට මෙතෙක් කල් පවත්වාගෙන ආ නිසයි නිවන් දකින බුදු දහම සොයාගන්න අපට මගපෑදිලා තියෙන්නෙ.**

අන්න ඒ නිසා සතර අපාය ඉක්මවා යන දහම බුදුකෙනෙක් දේශනා කරපු ආකාරයටම ජීවමානව මතුවී ගෙන එන අද වගේ දවසක ඒ ධර්මය ශ්‍රවනය කරන්න හේතු ලබමින් ජීවත් වෙන කෙනෙකුත් මහා වාසනාවන්තයෙක් වෙනවා. ඒ වගේම ඒ අය අතුරින් මේ දහම අසා දැනගන්න උත්සාහ කරන කෙනෙක් නම්, ඔහු හෝ ඇය මොන තරම් වාසනාවන්තයෙක්ද? එහෙමනම් සතර අපාය ඉක්මවා යන්නෙ කොහොමද කියන පැනයට පිළිතුරක් අදම අසා දැනගන්න ඒ වාසනාවන්තයාට මග පෑදෙනවා.

එහෙමනම් සිහි බුද්ධිය ඇති මනුස්සයෙක් වෙලා මේ විදියට මේ වගේ බුද්ධෝත්පාද කාලයක ඉපදීමට ලැබීමත් වාසනාවක්. ඒවගේම බුදු කෙනෙක් පහළ වෙලාම පමණක් ලෝකයාට අහන්න ලැබෙන, දැන ගන්න ලැබෙන මහා දුකක් සංසාර ගමනේ දී අත්විඳින්න සිද්ධවෙන බව කල්වේලා ඇතිව දැනගන්න ලැබීමත් වාසනාවක්. ඒ මහා දුක් ගොඩේ බියකරු බව ගැන උන්වහන්සේ කරන ලද මහා අනතුරු හැඟවීමක් අසා දැන ගන්න ලැබීමත්, ඒ මහා අනතුරින් ගැලවෙන මග අසා දැනගන්නැයි කළ්‍යාණ මිත්‍රයෙක් මුණගැසී නැවත සිහිපත් කරදීමත් මහා වාසනාවක් වෙනවා. ඒ නිසා දුර්ලභව මනුස්සයෙක් වූ අප සැමට උරුම සතර අපා දුකෙන් මිදෙන්න මහා වාසනාවක් පෑදුනා කියා මේ ගැන අවධානය යොමු කරන්න උත්සාහ කරන්න.

අන්න ඒ නිසා එදා ආනන්ද හිමියන්ට දුන්න පිළිතුර අනුව, මේ මනුස්සයෙක් වෙලා ඉපදිච්ච වෙලාවෙ සතර අපා දුකෙන් නිදහස් වීමේ ඒකායන මාර්ගය වටහා ගන්න. ඒ සඳහා ඒ මග නිවැරදිව අනුගමනය කරන ආර්ය උත්තමයෙක් ගෙන්ම එය අසා දැනගත යුතු බවත් සිහියට ගන්න. එසේම ඔබට මේ ලැබුන අති දුර්ලභ අවස්ථාවේ වටිනාකම වැටහිලා ඒ නිවන් දකින ආර්ය මග අසා වටහාගෙන අනුගමනය කරන්න උත්සාහ කරන්න.

එදා බුදු හිමියන් සිනා පහල කිරීම ගැන ආනන්ද හිමියන් නැවත ඇසුවේ මොකක්ද? ''එසේනම් ඇයි ස්වාමීනි ඔබ වහන්සේ, ඒ තිරිසන්වෙලා අද දුක් විඳිමින් සිටින සක්විති රජවරුන් දැකල මඳ සිනා පහළ කළේ?'' මෙහෙම අහන්නම වටිනවා. මොකද දුකට වැටිච්ච කෙනෙක් දැකල හිනාවෙන එක බුදුකෙනෙකුට ගැලපෙනවද කියන ප්‍රශ්නය නිසා. ඒත් උන්වහන්සේගේ මඳ සිනහවේ සැඟවුන අරුත කොච්චර වටිනා උපදේශයක්ද කියල බලන්න.

ඒත් මනුස්සයෙක්, සතෙක් සිව්පාවෙක් වත් එහෙම දුකට වැටිල ඉන්නව දැකල ඔබ හිනා වෙනව නම්, ඒක හොඳ දෙයක් නොවන බවත් සිහියට ගන්න.

උන්වහන්සේ, ඒ පැනයට දුන් පිළිතුර අද තියෙන ව්‍යවහාර භාෂාවෙන් මේ විදිහට පැහැදිලි කරන්න පුළුවන්. හොඳින් සිතා බලන්න ආනන්ද, එදා මහා **පින්කම් කරල කල්ප ගණන් මේවගේ දිව්‍ය මනුස්ස අත් බැව්වල ඉපදිලා රජ සිටු වෙලා හිටියත්, කෝටිපති ප්‍රකෝටිපති කියන ධන කුවේරයන් වෙලා, මම අනිත් එවුන්ට වඩා හරි පෝසත් කියන පුහු මානයෙන් ඉදිමිලා පුම්බගෙන හිටියත්, මහා ලොකුවට ලෝකෙටම ලොක්කා වෙලා සක්විති රජකම් කළත්, ඒ අයට අද තණකොළ බුදින්න සිද්ධවෙලා තියෙන හැටි දකිද්දී, ඔබ ඇතුළු මේ පන්සීයක් භික්ෂූන් වහන්සේලා කොච්චර වාසනාවන්තද කියල දන්නවද?** ඔබලා පන්සීයක් දෙනා මේ තුන් ලෝකයේ පෘතජ්ජන වූ සියලු දෙව් මිනිසුන් අභිබවා යන අති උත්තම ගණයේ ගරු කටයුතු පිරිසක් වෙනවා. මොකද මේ ඔබ ඇතුළු පන්සියයක් දෙනා කවදා හෝ සසර ගමන නිමාකර අරිහත්වයෙන් සැනසීම ලබන තුරු කොච්චර කලක් කොහේ ඉපදුනත් නැවත සතර අපා දුකට පත්වෙන්නෙ නෑ. මේ අය දෙව් මිනිස් බ්‍රහ්ම කියන මොන අත්බැවක ඉපදෙමින් මේ තුන් ලෝකේ කොහේ ගමන් කළත්, ආයෙත් කිසිම විදියකින් කිසිම හේතුවක් නිසාවත් සුගතියෙන් සුගතියටම මිසක් මිනිස් අත්බැවකින් පහළ සතර අපා දුකට වැටෙන්න හේතු නෑ. මේ විදිහට මේ ලෝකයේ අසාරත්වය වටහා ගැනීම නිසා මේ පන්සීයක් දෙනාම සෝවාන් ඵලයට හෝ ඉන් එහා ඉහළ තලවලට පත්වී සිටින බව උන්වහන්සේ සහතික කරල දේශනා කළා.

දැන් බලන්න මේ ලෝකයේ අසාරත්වය වටහා ගැනීම තමයි සතර අපාය සදහටම ඉක්මවා යන්න තියෙන පහසුම හා එකම මග. ලෝකය අසාර බව වටහා ගත්තොත් ඒ පුද්ගලයා සම්මා දිට්ඨියට පත්වෙන බවත් ධර්මයේ කියවෙනවා. ඒවගේම ලෝකය අසාර බව වටහා ගත් කෙනා සාර ලෝකයක් පසුපස හඹා යාමේ තරඟයෙන් ඉවත් වූ කෙනෙක් නිසා ආර්ය ශ්‍රාවකයෙක් බවටත් පත්වී හමාරයි. එහෙනම් මේ ආර්ය ශ්‍රාවක පන්සීයක් දෙනාම ලෝකෝත්තර වූ ආර්ය සම්මා දිට්ඨියට පත් වෙලා හිටපු, ආර්ය අෂ්ඨාංගික මාර්ගයේ පළමු පියවර ඉදිරියට තබා හිටපු, නිවන් මගේ ගමන් ආරම්භ කරල හිටපු, සතර අපාය ඉක්මවූ, සෝවාන් ඵලයට පත් වෙලා හිටපු අයයි.

මේ කාරණය තවත් ආකාරයකින් කියනව නම්, මේ ලෝකය අසාර බව වටහාගත් මේ පන්සීයක් දෙනාම රාගය ගින්නක් ලෙසත්, ද්වේශය ගින්නක් ලෙසත්, මෝහය ගින්නක් ලෙසත් මහා නුවණකින් දැකීම නිසා, එගිනි නිවීම නිවනමයි කියා සැක හැර අවබෝධ කරගෙන හිටියා. මේ අවබෝධය නිසා මේ පන්සීයක් වහන්සේලා සෝවාන් ඵලයට පත්වී නිවන දහම් ඇසින් දැක ගත් අයයි. ඒ නිසා දැන් උන්වහන්සේලා නිවන අත්දැකීමට ගමන් කරමින් සිටිනවා. දැන් මේ සෝවාන් ඵලයට පත්වී සිටින ආර්ය ශ්‍රාවකයෙකුට ''නතේ භවං අට්ඨමං ආදියන්තී'' යන

19 වෙනි පිටුවට...

# මස් මාංශ අනුභවය සම්බන්ධයෙන් වූ මතභේදාත්මක ගැටළුව නිවැරදි දහම් ඇසින්

මස් මාංශ අනුභවය සම්බන්ධයෙන් මේ වන විට බෞද්ධයන් අතර විවිධ වූ ව්‍යාකූල අදහස් හා මතවාද ගොඩනැගෙමින් පවතිනවා. කෙනෙක් මස් මාංශ වැළඳීමෙන් පාපයක් හෝ අසාධාරණයක් නොවන බවත්, තවත් කෙනෙක් ඒක පාපයට, අසාධාරණයට හේතු වන බවත් ප්‍රකාශ කරන අතර, මස් මාංශ අනුභව කරන උදවිය අපායට යන බව කියවෙන දේශනාත් ඒ අතර අහන්න ලැබෙනවා. මේ කාරණය කොතෙක් මතවාදීමය ස්වරූපයක් ගෙන ඇද්ද කියනවනම් මේ සම්බන්ධව විවිධ සංගම් හා සමිති පවා බිහි කරගෙන තියෙනවා. ඒ කොච්චර මතිමතාන්තර තිබුණත් ශ්‍රී බුද්ධ දේශනාව අනුව මේ සම්බන්ධව තිබිය හැක්කේ එකම ධර්මතාවක් පමණයි. ත්‍රිපිටකයේ එන සූත්‍ර අනුසාරයෙන් මෙතෙක් නිවැරදිව විසඳාගත නොහැකිව තිබූ මේ ගැටලුවට සාක්ෂි සහිත වූත් හේතුඵල සහිත වූත්, පිළිතුරක් ඉදිරිපත් කරන්නයි මේ උත්සාහ කරන්නේ. සැබැවින්ම මේක අපි හිතනවාට වඩා අති සියුම්ව විසඳගත යුතු කාරණයක් වන නිසා මේ සම්බන්ධව පළවන ලිපි පෙළ අවසාන වන තෙක් පූර්ව නිගමනයකට එළඹීමෙන් වැළකීමත් වඩා යෝග්‍ය වෙනවා.

මජ්ඣිම නිකාය (2), 58 වන පිටුවේ එන <u>ජීවක සූත්‍රයේ</u> මෙහෙම විස්තර වෙනවා. **යම් කිසි කෙනෙක් භික්ෂූන් වහන්සේ නමක් උදෙසා හෝ සතෙක් මැරුවොත් හෝ මරා යම් කිසි පූජාවක් කළොත් ඔහු විසින් පව් පහක් සිද්ධ කර ගන්නවා.** එනම් ''යව සතා ගෙනෙව'' කියා නියෝගයක් කිරීමෙන් ගෙන ගියොත් ඒ හේතුව නිසා පළමු පාප කර්මය සිද්ධ වෙනවා. ඒ සතා ගෙන යාමේදී යම් කිසි මරණ බයක් හෝ තැති ගැන්මක් ඇති වුණොත් හෝ ඇති වන දුක් හේතු කොටගෙන දෙවැනි පාප කර්මය සිද්ධ වෙනවා. ඒ සතා මරණ නියෝගයක් කිරීමෙන් තුන්වන පාප කර්මයත්, ඒ සතා මැරීමේදී හතරවන පාප කර්මයත් සිද්ධ වෙනවා. එසේ අසාධාරණ ලෙස සකස් කරගත් මසින් දන් දීමෙන් පස්වන පාප කර්මය සිද්ධ වෙනවා. හැබැයි මේ පාප කර්මයන්ට භික්ෂූන් වහන්සේගේ සම්බන්ධයක් නෑ. මොකද භික්ෂූන් වහන්සේ නමක් දානය ගන්නේ රස තණ්හාවකින්වත්, කය හැඩවැඩ කර ගැනීමේ බලාපොරොත්තුවෙන්වත් නෙමෙයි. යම් කිසි ලැබෙන්නා වූ දෙයකින් තමාගේ ජීවිතය පවත්වාගෙන ආර්ය මග පූර්ණ කර ගන්නවා කියන හැඟීම පමණයි උන්වහන්සේට තියෙන්නේ. ප්‍රාණඝාතයක් පිළිබඳව හෝ මේ මස් මාංශයි කියා වෙන්



කර ගැනීමේ බලාපොරොත්තුවක් හෝ රස විඳීමේ බලාපොරොත්තුවක් හෝ නැති නිසා භික්ෂූන් වහන්සේට පාප සම්බන්ධයක් නෑ. රස විඳීමේ බලාපොරොත්තුවෙන් ගත්තොත් සසර ගමනට හේතු වන මෙන්ම මස් ලේ සහිත ඕලාරික කයක් හටගැනීමට හේතු වන ඡන්ද රාගය ගොඩනැගෙනවා. ඒ විදිහට අසාධාරණ ලෙස හරි හම්බ කරගෙන යම් මස් මාංශයක් පූජා කළොත් ඒ අසාධාරණ ලෙස පූජා කිරීමේ පාපය අයිති වන්නේ පූජා කරන දායකයාටයි. නමුත් අදිට්ඨං, අසුතං, අපරිසංඛිතං කියන ත්‍රිකෝටික (තුන් කෙළවරකින්) පාරිශුද්ධික මාංශය කියා දෙයක් තියෙනවා. මෙහෙම දෙයක් පැන වූයේ එක්තරා කාරණාවක් මුල් කරගෙනයි.

සීහ සේනාපති බුදුන් වහන්සේට දානයක් දුන්නා. දානය දෙන්න පෙර ඔහු නිගණ්ඨනාථපුත්‍රගේ ශ්‍රාවකයෙක්. මේ නිසා ඔහු නිගණ්ඨනාථපුත්‍රගෙන් වෙන් වෙනකොට නිගණ්ඨනාථපුත්‍රට ඒ සම්බන්ධව අමනාපයක් තිබුණා. ඉන්පසු සීහ සේනාපති බුදුන් වහන්සේට මාංශවලින් දානයක් දෙන්න හදන බව නිගණ්ඨනාථපුත්‍රට ආරංචි වුණා. මෙතනදී **''ගච්ඡබනේ පවත්ත මංශං ජානාහී''** කියා දෙයක් පෙළ දහමේ පෙන්වනවා. සගය, ඉක්මනට ගිහින් පවත්ත මාංශයක් අරගෙන එන්න කියා ඒ අය ගිහින් මැරිච්ච සතෙකුගේ මළ කඳක් ගෙනා බවත් දහමේ සඳහන් වෙනවා. මේ අවස්ථාවේදී නිගණ්ඨනාථපුත්‍ර කෑ ගහන්න පටන් ගත්තා, දූන් සීහ සේනාපති මිථ්‍යා දෘෂ්ටියකට පුරුදු වෙලා මරාගත් සතුන්ගේ මසින් ජීවත් වෙනවා, ඒ මස්වලින් දන් දෙනවා, මෙන්න මෙහෙම අසාධාරණයක් කරනවා කියා. ඒ වෙලාවේදී සීහ සේනාපති බුදුන් වහන්සේට පිරිකරත් පූජකරලා දානයත් දුන්නා. සීහ සේනාපති කිසිම හේතුවකටවත් සතුන් මරන්නෙ නෑ. අපිට ඒකෙ ප්‍රශ්නයකුත් නෑ, මේ මැරිච්ච සතෙකුගේ මසින් දන් දෙන නිසා අපි දානය දෙමුයි කියා සීහ සේනාපති දන් දුන්නා. බුදුන් වහන්සේ ඒ දානෙත් වළඳා වැඩියා.

මේ අවස්ථාවේදී ඒ ප්‍රශ්නය මුල් කරගෙන ත්‍රිකෝටික පාරිශුද්ධික මාංශය ගැන දේශනා කළා. (අං:නි: (5) 65 පිටුවේ එන <u>සීහ සේනාපති සූත්‍රය</u>) අදිට්ඨං, අසුතං අපරිසංඛිතං කියා මෙහිදී පෙන්වා තියෙනවා. දැක්කේ නැති, ඇසීමෙන් හෝ හැඟවීමෙන් දැනුණේ නැති, සැක නැති කියා කිව්වත් මේක විග්‍රහ කරගත යුතුයි. දැක්කේ නැති, දැනුනේ නැති, සැක නැති කියා කිව්වේ සතා තමා වෙනුවෙන් මරනවද කියා දැක්කෙ නෑ, දැනුනෙ නෑ, සැක නෑ යනුවෙන් අදහසකුත් අද වෙනකොට අරගන්නවා. එතකොට මරණ බව දැක්කෙ නැති, මරල ගත්ත බව දැනුණෙ නැති හෝ ඇසුවෙ නැති, මරල ගත්ත බවට සැක නැති ලෙසයි අදහස ගත

යුත්තේ. මොකද ඒකටත් හේතුවක් තියෙනවා. කොසොල් රජ්ජුරුවන් බමුණන්ගේ කීමකට අනුව සප්ත ශතක දානය කියා දානයක් දුන්නා. ඒ සඳහා එළුවෝ 700 යි, කුකුළන් 700 යි, ගවයන් 700 යි ආදී ලෙසින් 700 බැගින් මරා ගෙන මුළු රට වැසියන් ඇතුළු සියලු දෙනාටම දානයක් දෙන්න ලෑස්ති කළා. මෙතැනදී භික්ෂූන් වහන්සේලා උදෙසා කියා වෙන් කිරීමක් තිබුණෙ නෑ. ඒ වගේම අහවල් කෙනා උදෙසා මැරුවයි කියා හෝ මේ අහවල් කෙනාට දන් දෙනවයි කියා හෝ විශේෂ කිරීමක් තිබුණෙත් නෑ. පොදුවේ මුළු රට වැසියන්ටම දෙනවයි කියන කාරණාවයි තිබුණේ. ඒ නිසා මේ දානයට සියල්ලෝම පැමිණිය යුතුයි කියා රාජ නියෝගයක් පනවා අණ බෙරත් ගැහුවා. එතකොට භික්ෂූන් වහන්සේලාට ප්‍රශ්නයක් ඇති වුණා මේ දානයට වඩිනවද නැද්ද කියා. මෙහිදී බුදුන් වහන්සේ මෙහෙම දේශනා කළා.

''අජේල කාව ගාවෝ'ච **විවිධායත්ත හඤ්ඤරේ - න තං සමග්ගතං යඤ්ඤං උපයන්ති මහේසිනෝ''** එළුවන්, **ගවයන් ආදී විවිධ සතුන් මරා සකස් කරගත් දානය යහපත් විදිහට සකස් කරගත් දානයක් නොවන නිසා බුද්ධාදී උත්තමයන් ඊට සහභාගි වෙන්නෙ නෑ** කියලයි එයින් දේශනා කළේ. මෙහිදී භික්ෂූන් වහන්සේලා උදෙසා මැරුවා කියලවත් කතාවක් නෑ. මරා සකස් කරගත් දානය යහපතින් හඳුපු දානයක් නොවන නිසයි සහභාගි නොවුණේ. මෙහිදී මරා සකස් කරගත් බව දැක ගන්නත් ලැබුණා. ඒ වගේම දැන ගන්නත් ලැබුණා. දැනීමකුත් ලැබුණා. මැරූ බවට සැකයකුත් නෑ. ඒ නිසා ඒකට බුද්ධාදී උත්තමයන් සහභාගි වුණේ නෑ. මේ නිසා **මොන විදිහකින් හෝ සතෙක් මරණ බව දැනගන්න ලැබුන නම් ඒක දිට්ඨං, සුතං, පරිසංකිතං කියන මොකක් හෝ කොටසකට අයිති වෙනවා. ඇහුනා කිව්වම කනින් ඇහීම විතරක් නෙවෙයි, ඇසූ පිරූ අර්ථයෙනුයි අදහස ගන්න ඕන. කවුරු හරි කොල කෑල්ලක ලියල ගෙනාවත්, අතින් පයින් සංඥා කරල කිව්වත් ඒකත් ඇහුනා දැනුනා කියන කොටසට අයිති වෙනවා.**

**මෙහිදී සතුන් මරා සකස් කරගත් දානයක අසාධාරණයක් තියෙන බව දැකීම විශේෂ ගුණයක්.** එහෙම නැතිව පව් කියන සිද්ධියක් නෙවෙයි. සතා මරන, මරවන, උදව් කරන, නියෝග කරන, අනුබල දෙන හා වර්ණනා කරන පුද්ගලයන්ටයි ඒකෙ පාපය අයිති වෙන්නේ. මෙතනදී **අනුබල වීමයි, අනුබල දීමයි කියන්නේ කාරණා දෙකක්.** සමහර කෙනෙක් කරන කටයුත්තක් තවත් කෙනෙකුට අනුබලයක් වෙන්න පුළුවන්. ඒක ඒ පුද්ගලයන් දෙදෙනා අතර සෘජු සම්බන්ධයකින් හෝ දැනීමකින් තොරවයි සිද්ධ වෙන්නේ. ඒක අනුබල වීම. නමුත් අනුබල දීමේදී පුද්ගලයන් අන්‍යොන්‍ය වශයෙන් දැනුවත් වෙලයි, චේතනාන්විතවයි ඒක සිද්ධ කරන්නේ.

මෙහිදී අසාධාරණ ලෙස සකස් කරගත් මසක් ලෙස සැලකීමට අසාධාරණය වන ක්‍රමයක් තිබිය යුතුයි. ඒ **මාංශය ගැනීම නිසා තව තවත් අසාධාරණ සිද්ධ වේ නම් ඒක අනුබල වෙනවා. එවිටයි ඒ ක්‍රමය අසාධාරණයට වැටෙන්නේ. අනුබල දීම කියන්නේ කොහොමත් පාපයක්. අනුබල වීම පාපයක් නොවුණත් ඒක නතර කරන එක වැඩි ගුණයක්. ඒක දයානුකම්පාවට අයිතියි.** බුදුපියාණන් වහන්සේ එක්තරා භික්ෂූන් වහන්සේ නමකගෙන් අහනවා නුඹට ප්‍රාණීන් කෙරෙහි දයානුකම්පාවක් තිබේ නම් පොළොව කොටන්න පුළුවන්ද කියා. නමුත් ගිහි අයගෙන් එහෙම අහල නෑ. **මොකද දයානුකම්පාව කියන එක සියල්ලන්ටම සියලු ආකාරයෙන් කරන්න බෑ. හැබැයි පැවිදි අය කියන්නේ ගිහි අයට වඩා එහාට දයානුකම්පාව ක්‍රියාත්මක කරන්න පුළුවන් අයයි. ඒ නිසයි භික්ෂූන් වහන්සේලාට පොළොව කොටන කටයුතු පවා කරන්න එපා කිව්වේ.** ගිහි අයට ඒක උපරිමයෙන් ක්‍රියාත්මක කරන්න බැරි තත්ත්වයක් තියෙනවා. නමුත් ගිහි අයකුට වුණත් ඒ ගුණය ඒ මට්ටමටම වැඩුණොත්, අනේ මම කොහොමද ගිහිව ඉඳගෙන මේ රස්සාවල් කරන්නේ, මීට හොඳයි පැවිදි වුණොත් කියා අදහසක් එනවා. එවිට ඒ පුද්ගලයා ගිහි මට්ටම ඉක්මවා යනවා. ඒ ගුණය ඒ ඒ පුද්ගලයා අනුව වෙනස් වෙනවා. නමුත් මෙතැනදී සිදුවෙන්නේ පවක් නෙවෙයි, සතුන් මැරීම නිසා එබන්දක් තමාට හෝ තමන්ගේ අයෙකුට වුනා නම් යනුවෙන් ''අත්තානං උපමං කත්වා'' යැයි කියන දහම් කාරණය අනුව දයානුකම්පාව පිළිබඳ ප්‍රශ්නයක් තමයි පැන නගින්නේ.

නමුත් මේ කාරණය නිගණ්ඨ නාථපුත්‍රගේ දයානුකම්පාව යටතට ගන්න බෑ. සමහර අය හිතයි අපි කියන මේ දයානුකම්පාවත් නිගන්ඨනාථපුත්‍ර වගේ අති ධාවනය කරපු එකක් කියා. නමුත් අතිධාවනය කියන්නේ මේක නෙවෙයි. හුස්ම ගත්තත් සතුන් ඇදිල එන නිසා, කට ඇරගෙන හිටියොත් ක්ෂුද්‍ර ජීවීන් ඇදිල එන නිසා ප්‍රාණීන් මැරෙයි කියන බයට නාසයේ පුළුන් කැලි ගහගෙන ඉන්නවා, කට වහගෙන ඉන්නවා. මේ තමයි නිගණ්ඨනාථපුත්‍ර අනුගමනය කරපු ක්‍රමය. නමුත් ඒක එහෙම කරන්න ගියොත් අපිට තේ එකක්වත් උණු කරල බොන්න බෑ. පොළොවේ පය ගහල ඇවිදින්නත් බෑ. පණු අමාරුවක්, උණක් ආදී ලෙඩක් හැදුණොත් බෙහෙත් ගන්නත් බෑ. මොකද ප්‍රාණීන් මැරෙන නිසා. බුදු දහමේ කියන්නේ එවැනි පරම අවිහිංසාවාදයක් ගැන නෙවෙයි. නමුත් **තමන් නිසා තවත් ක්ෂුද්‍ර ජීවියෙකුටවත් කරදරයක් වෙනවට කැමති නැති නිසා ඒකත් පැවැත්මේ ආදීනවයක් ලෙස හිතනකොට පැවැත්මට ඇති ඡන්ද රාගය දුරු වෙන්න හේතු** වෙනවා.

ත්‍රිකෝටික පාරිශුද්ධික මාංශයේදී තමා උදෙසා මැරූ සතුන්ගේ මස් කෑම හොඳ නෑ කියා කතාවක් හදාගෙන තියෙනවා. නමුත් මෙසේ **තමා උදෙසා මැරුවයි කියන කොට පොදුවේ කවුරුන් හෝ උදෙසා මැරුව නම් ඒකත් ඊට අයත් වන බව දැන ගැනීම වැදගත්.** එදා කොසොල් රජතුමා දුන් දානය භික්ෂූන් උදෙසා පමණක් නෙවෙයි රට වැසියන් සියල්ලම උදෙසායි දුන්නේ. නමුත් ඒකට භික්ෂූන් වහන්සේලාටත් සහභාගි වෙන්න වටින්නෙ නෑ කියා පෙන්නුවා. ඒ නිසා අහවලුන් උදෙසාම කියා නම් කරන්න අවශ්‍ය නෑ. **දානයක් හෝ ආහාරයක් උදෙසා සතෙක් මැරුව නම් ඒක අයහපත් ආකාරයට සකස් කරගත් දානයක්, ආහාරයක්. තමා උදෙසාම සකස් කර ගත්තක් විය යුතුයි කියා අපට ඕන විදිහට අර්ථකථනයන් දෙන්න බෑ.** අටුවා ආදිය ලියන කොට තමයි ආචාර්යවරුන් ඒ වගේ අර්ථ නිරූපණයක් දීලා ''තමා උදෙසා මැරුවොත්'' යන්න හදා ගත්තේ. **උදෙසා මැරූ සතෙක්ගේ මස කිව්වම දානයක් හෝ ආහාරයක් උදෙසා මැරූ සතෙකුගේ මසක් නම් අජේල කාව.. ආදී ලෙසින් පෙන්වූ ගාථාව අනුව ඒ මසත් උදෙසා මැරූ මසට අයිති වෙනවා.** නමුත් මේ මස් මාංශ අනුභවයේදී සිදුවන්නේ පාපයක් නෙවෙයි දයානුකම්පාව පිළිබඳ ප්‍රශ්නයක් බවත් දැන ගන්න ඕන. ඒක මේ විදිහට පහදන්න පුළුවන්.

කෙනෙක් කන බොන දෙයක් හෝ පරිහරණය කරන දෙයක් හෝ දැකලා ඒක යම් කිසි පුද්ගලයෙක් විසින් අසාධාරණ ලෙස ගොඩගසා අත්පත් කර ගත්තොත් ඒකෙ පාපය අයිති වන්නේ ඒ පුද්ගලයාටයි. මේ නිසා ඒ පුද්ගලයාගෙන් මිලදී ගන්නා හෝ ලබා ගන්නා කෙනාට පාප සම්බන්ධයක් නෑ. **නමුත් ඒක**

**අසාධාරණ බව දැකලා මිලදී ගැනීමෙන් හෝ ලබාගැනීමෙන් වැළකීම විශේෂ ගුණයක්.** එහෙම නැතිව පාපය ක්‍රියාවාදයක් විදිහට තවත් අය කරා එන්නෙ නෑ. ඒක ඔප්පු වෙන තැනක් මෙසේ දක්වන්න පුළුවන්. සච්චක බුදුන් වහන්සේට දානයක් දුන්නා. සච්චක තමන්ගේ දායකයන්ට කිව්වා, මම හෙට භවත් ගෞතමයන් වහන්සේටයි, සංඝයාටයි දානයක් දෙනවා, එම නිසා මට ගේන දානය ඒ සඳහා යොදා ගන්න ඉක්මනට ගේන්න කියා. සච්චක තමන්ට ලැබුණු දානයෙන් බුදුන් වහන්සේ ඇතුළු සංඝයාට දානයක් දුන්නා. දානය දීලා සච්චක තර්කයකුත් ඉදිරිපත් කළා. "ඒ මිනිස්සු මට දානය ගෙනත් දීපු නිසයි ඔබවහන්සේ ඇතුළු පිරිසට දන් දෙන්න පුළුවන් වුණේ, ඒ අය මට දානය ගෙනත් දුන්නෙ නැති නම් මට දානය දෙන්න විදිහක් නෑ. ඒ නිසා මම කර ගත්ත පිනෙන් කොටසක් ඒ අයටත් අයිති වෙනවා" කියන තර්කය තමයි ඒ. දැන් මේ තර්කය ක්‍රියාවාදයට නම් හරි. හැබැයි බුදුන් වහන්සේ දේශනා කරපු පින් පව් ක්‍රමය ඊට හාත්පසින්ම වෙනස්. රාග, ද්වේශ, මෝහ සහිත වන්නා වූ පෘථජ්ජනයෙකුට දෙන දානයෙන් යම් පිනක් ඇත්නම් ඒ පින ඔබට දානය ගෙනත් දුන් ඒ පිරිසට හිමි වන බවත්, රාගක්ෂය, ද්වේශක්ෂය, මෝහක්ෂය කළ තථාගතයන් වහන්සේට දුන් දානයක් ඇත්නම් ඒ පින සච්චකට හිමි වන බවත් බුදුන් වහන්සේ දේශනා කළා. **පින් පව්, ක්‍රියාවාදයක් සමග නොයන බව ඔප්පු වන තැනක් තමයි මේ.**

ඒ නිසා අපි දැන ගන්න ඕන, අපි කන නිසයි ඒ අය සතුන් මරන්නේ, ඒ නිසා ඒක කෑවොත් අපිටත් පව් ඇදිල එයි කියන මෙවැනි දෙයක් සිදු නොවන බව. චේතනාව කර්මයයි කිව්වේ මෙතනදීයි. අපි යම් දෙයක් ප්‍රාණඝාත චේතනාවකින් කියනවද, කරනවද, අපි ප්‍රාණඝාත අකුසලයට අහුවෙනවා. මේ නිසා මැරූ මස මිළදී ගන්න කෙනා හෝ ආහාරයට ගන්න කෙනා ප්‍රාණඝාතයට අහුවෙන්නෙ නෑ. නමුත් මෙතන වෙනත් විශේෂ දෙයක් තියෙනවා. **අසාධාරණයෙන් ගොඩනගපු දෙයක් ඇත්නම් ඊට බුද්ධාදී උත්තමයන් සහභාගි වෙන්නෙ නෑ. ඒක විශිෂ්ට ගුණයක්. දයානුකම්පිත ගුණයක්. ඒ ගුණය අපිටත් වඩන්න පුළුවන්නම් බොහොම හොඳයි. භික්ෂූන් වහන්සේ** උදෙසා නෙවෙයි, ආර්ය ශ්‍රාවකයන් වහන්සේ හෝ වෙනත් කවුරුන් උදෙසා **හෝ වේවා අසාධාරණයෙන් සකස් කර ගත් දෙයක් බව දැන ගත්තම ඒක පරිහරණය නොකරනවා නම් සත් පුරුෂ ගුණයක්.**

අනෙක දැනට **තියෙන මස් මාංශ කියන්නේ අසාධාරණය නිසාම ඒකටම** ගොඩනගාගත් ඒකෙම වස්තුවක්. හැබැයි **පාපය නිසා පරිහරණය නොකරන එකයි, දයානුකම්පාව නිසා පරිහරණය නොකරන එකයි වෙන් කර හඳුනා ගන්න ඕන.** දයානුකම්පාවේත් තමන්ට ක්‍රියාත්මක කරන්න පුළුවන් මට්ටම දැනගත යුතුයි.





විශේෂයෙන් ක්‍රියාවාදයත් සමග පින් පව් නොයන බවත් දැන ගන්න ඕන. උදාහරණ ලෙස කෘමිනාශක යොදා සතුන් විනාශ කර එළවළු වගා කරන්න පුළුවන්. මෙතනදී එළවළු කියන්නේ වෙනම මාධ්‍යයක්. කෘමිනාශක පාවිච්චිය නිසා කෘමීන් විනාශ වීම එළවළු නිසා කරන තවත් කාරණයක් මිසක් කෘමීන් මැරීමේ සෘජු ප්‍රතිඵලය නෙවෙයි, එළවළු කියන්නේ. ඒනිසා කෘමිනාශක යෙදීමෙන් කෘමීන් විනාශ වීම නිසා වන ප්‍රාණඝාතයට කෘමිනාශක යොදා එළවලු වගා කරන උදවිය සම්බන්ධ වුනත් ඒවා විකුණන හෝ අනුභව කරන අයගේ සම්බන්ධයක් නෑ. නමුත් ජෛන ආගමට අනුව පරම අවිහිංසාවාදයේදී නම් ඒකත් එහිම ප්‍රතිඵලයක් ලෙසයි ගන්නේ. නමුත් **බුදු දහමේ පෙන්වන්නේ යම් කිසි දෙයක් අසාධාරණයි කියා තමන්ට වැටහේ නම් එයින් මිදෙන්න ඕන කියන එකයි.**

මෙහිදී ප්‍රධාන චේතනාව මොකක්ද කියල වටහාගත යුතුයි. **සතුන් වද හිංසා කර මරා උපක්‍රමශීලීව මනුෂ්‍යයා විසින් සකස් කරගත් දෙයක් වේ නම් ඒක අසාධාරණ ලෙස ගොඩනගාගත් දෙයක් වෙනවා.** හැබැයි සතෙක් තවත් සතෙක් මරාගෙන කන එක එවැනි උපක්‍රමශීලී දෙයක් නෙවෙයි. අන් අයට කන්න සතුන් මරල දෙන පිළිවෙතක් සතුන් ළඟ නෑ. ඌ කරන්නේ උගේ ආහාරය සඳහා සතෙක් මරාගෙන කාලා ඌට වැඩක් නැති කොටස ඉතිරි කර යන්න යන එකයි. ඉතිරි කොටස ගන්න උගේ බලාපොරොත්තුවක් නෑ. ඒ මාංශයට කියන්නේ පස් වෙලා යන පාංශුකූල මාංශය කියලයි. ඒක කවුරුහරි ගත්තොත් පවත්ත මාංශයට අයිතියි. ඒ **වගේම කිසිම මරන බලාපොරොත්තුවක් නැතිව වෙනත් බාහිර හේතුවකින් මැරී ගිය සතෙක් ඉන්නවා නම් ඒකත් වැටී ගිය පාංශුකූල මාංශයටම අයිතියි. ඒවාට අයිතිකාරයෙක් හෝ හිමිකාරයෙක් නෑ. ඒක කවුරුන් හෝ ගත්තොත් ඒකත් පවත්ත මාංශයක්.** ඒවගේම අං සහ කුර සඳහා මැරූ සතෙකුගේ මසත් පවත්ත මාංශයි කියා ධර්මයේ පෙන්වා තියෙනවා. මොකද මෙතනදී සතුන් මරන්නේ අං හා කුර ගැනීම සඳහා මිසක් මස් සඳහා නෙවෙයි. ඔවුන් අං හා කුර අරගෙන මස්ටික ඉවතට දානවා. එම නිසා එවැනි සතෙකුගේ මසක් ගත්තා කියා ඒ හේතුවෙන් එවැනි සතුන් මරන්න තවත් අනුබල වීමක් සිද්ධ වෙන්නෙ නෑ. ඒ මස කවුරුන් හෝ විසින් ගත්තත් නැතත් ඔවුන් ඒ සතුන් මරනවා. ඒ, අං හා කුර ගැනීම සඳහායි. එතකොට ඉතිරි වන මස අහක දාන නිසා ඒක පාංශුකූලයි. ඒක කවුරුන් හෝ ගත්තත් පවත්ත මාංශයට අයිතියි.

හැබැයි **අද කඩේ තියෙන මස්, මාළු, කරවල, උම්බලකඩ... ආදිය උපක්‍රමශීලීව අසාධාරණ ලෙස අනුභවය පිණිසම මරා සකස් කරගත් මාංශ නිසා ඒවා පවත්ත මාංශයට වැටෙන්නෙ නෑ.** ඒනිසා ඒවා ආහාරයට ගත්තොත් පවත්ත මාංශ සම්බන්ධයක් නෑ කියන එකයි ධර්මානුකූලව කියන්න තියෙන්නේ. ඒනිසා **කඩවල්වල වෙළඳමට තියෙන මස් මාංශ හා වැටී ගිය (පාංශුකූල) පවත්ත මාංශ අතර තියෙන වෙනස ධර්මානුකූලව**

**හඳුනාගත යුතුයි.** එසේ නොවුණොත් අපි දෘෂ්ටිගත වී ඒ දෘෂ්ටියෙන් මස් මාංශ අනුභව කරන හෝ අනුභව නොකරන පිරිසක් බවට පත් වෙනවා.

මනුෂ්‍යයාට සත්ත්ව ඝාතනයෙන් තොරව ස්වභාවිකව මස්මාංශ ලැබුණු ක්‍රම රටාව මනුෂ්‍යයාගේම ක්‍රියාකලාපයන් නිසා මේ වන විට නැතිව ගොස් ඇති නිසා අද **බොහෝකොටම තියෙන්නේ සතුන්ට වද දීලා හිංසා කරලා අසාධාරණ ලෙස සකසාගත් මස් මාංශයි.** හැබැයි ඔය පවත්ත මාංශ හෝ කුමන මසක් ගැන හෝ කලකිරිලා කතා කරන අයට, ඒ ගැන බියක් දක්වන උදවියට එළවළුයි, බතුයි විතරක් ආහාරයට ගන්න පුළුවන් ආහාර වෙළඳසැල් අද වෙනකොට ඇති වී තියෙනවා. **එළවළු භක්ෂකයින් (වෙජිටේරියන්ස්) කියා හඳුන්වන එවැනි පිරිස් සැලකිය යුතු ප්‍රමාණයක් අද සමාජයේ සිටියත් ඒ අයගෙන් බොහොමයක් එසේ මස් මාංශ අනුභවයෙන් වැළකී සිටින්නේ එහි යථා ධර්ම ස්වභාවය දැනගෙන නම් නෙවෙයි. සමහරු මස් මාංශ නොගන්නේ අප්පිරියාව නිසයි. නමුත් දයානුකම්පාවත් සමග ඒකෙ කිසිම සම්බන්ධයක් නෑ. ඒ වගේම පව් නිසා කන්නෙ නැති කොටසකුත් ඉන්නවා. ඒ අය එතකොට දෘෂ්ටියකට වැටෙනවා. ඒ, යථාර්ථය දක්කෙ නැති නිසයි. මොකද පව් නොවන දෙයක් පව් කියා හිතා ගත්තොත් ඒකත් දෘෂ්ටියක්. නමුත් මස් මාංශ කියන්නේ සත්ත්වයන්ට වධ හිංසා දීල අසාධාරණයෙන් ගොඩනගාගත් දෙයක් නිසා ඒ හේතුවෙන් අනුභව කරන්නෙ නෑ කිව්වොත් ඒක සත්‍යයට යථාර්ථයට ගැලපෙනවා. එතකොට එතැන දයානුකම්පිත බවේ ආනිසංසයක් තියෙනවා.** අප්පිරියාව නිසා කන්නෙ නෑ, ඕව අපිට අයිති නැති නිසා කන්නෙ නෑ කියා මේ වගේ බාහිර මතයන් දරන පිරිස් ඉන්නවා. නමුත් ඒවා ධර්මානුකූල අදහස් නෙවෙයි. මොකද සමහර විට අප්පිරියාව නිසා කරවිල වගේ සමහර එළවළු ජාති කන්නෙ නැති අයත් ඉන්නවා. සමහර අයට ගෝව ගෙඩියේ පණුවො ඉන්නව දැක්කොත් අප්පිරියයි. ඉන්පසු ගෝව උයල දුන්නත් කන්නෙ නෑ. කෙසේ හෝ මේ **අප්පිරියාව නිසා මස් මාංශ නොවැළඳීම යහපතට හෝ දයානුකම්පාවට හේතුවන කාරණයක් නෙවෙයි.** නමුත් වැඩි පිරිසක් මෙවැනි ධර්මානුකූල නොවන අදහස් නිසා මස් මාංශ අනුභව කිරීමෙන් වැළකී සිටින අතර ඒ වගේම එමගින් යහපතක් සිදුවන බව සිතන අයත් ඉන්නවා. එම නිසා අපි දැන ගන්න ඕන සම්මා දිට්ඨියෙන් යුක්තව මේ කාරණය වෙන්කර හඳුනා ගන්න.

ඉස්සර කාලෙත් තිබුණා මිනිසුන් විසින් සතුන් නොමරා, ස්වභාවිකව හෝ යම් උවදුරක් නිසා හෝ මිය ගිය සතුන්ගේ මසයි, සතුන් කාලා ඉතිරි කරල ගියපු මසයි කියන පාංශුකූල මස්. ඒ කාලයේ හිටපු උදවිය ඒවා පාංශුකූල සංඥාවෙන් ගත්තා. ඒ කියන්නේ ඒවාට අයිතිකාරයෙක් නෑ. සතෙක් තවත් සතෙක් මරා ඕන ටික කාලා ඉතිරිය අතහරිනවා. පසුවට කන්න ඉතිරි කරගන්නවා කියා දෙයක් සතාට නෑ. ඉතිරිය පස්වෙලා යන්න තියෙන කොටසයි. එහෙම නැත්නම් ඉතිරිය වෙනත් සතුන් කනවා. මේ විදියට පස්වෙලා යන මසට, ඉවත් කරපු මසට කියන්නේ පාංශුකූල මාංශය කියලයි. ඒවා, මරපු හිමිකාරයාගෙන් ඉවත් වී ගිය ඒවායි. විසිකරල දාපු ඒවායි. ඒක කවුරුහරි ගත්තත් පවත්ත (ජීවන වෘතය පහවූ) මාංශමයි. සත්ත්ව ඝාතනයක් හෝ හිංසාවක් කර අසාධාරණ ලෙස සකස් කර ගැනීමක් නොවන නිසා මෙවැනි පවත්ත මාංශ ආහාරයට ගැනීම ගැටළුවක් නෙවෙයි. එමගින් ලෝකානුකම්පාවට හෝ දයානුකම්පාවට බාධාවක් වෙන්නෙ නෑ. අසාධාරණයට හඳාගත් මසක් මාංශයක් වෙන්නේ උපක්‍රමශීලීව හිංසාකර සතෙක් මරා මස්කර වෙළඳපොළට නිකුත් කර හෝ තමන්ගේ අයිතියේ තබාගෙන හෝ ආහාරයට ගත්තොත් තමයි. නමුත් ඒ වෙළඳසැලෙන් හෝ ඔවුන්ගේ අයිතියෙන් යම්කිසි හේතුවක් නිසා ඒවා ඉවත්කර විසිකර දැම්මොත් එතැන් පටන් ඒක පාංශුකූල මාංශයක් බවට පත් වෙනවා. එතකොට ඒක ඔවුන්ගේ හිමිකමින් ඉවත් වී පස්වෙලා යන මසක් වෙනවා. මෙහිදී වැදගත් කාරණාව නම් එවැනි පාංශුකූල හෝ පවත්ත මසක් ගැනීම නිසා තවත් සතෙකුගේ මරණයට අනුබල දීමක් හෝ අනුබල වීමක් සිදු නොවීමයි. එම නිසා ඒක අසාධාරණයට හේතු වෙන්නෙ නෑ. නමුත් **වෙළඳපොළකින් මිලදී ගත්තොත් ඒවා මරා සකස් කරන පිරිසට තව තවත් සතුන් මැරීමට අනුබල වීමක් සිදුවන නිසා එතැන අසාධාරණයක් සිද්ධ වෙනවා.** සතෙකු විසින් මරා ඉවතලන මස පරිහරණයට ගැනීමෙන් අසාධාරණයක් නොවන්නේ එසේ ගන්නා නිසාම ඒ සතා වෙනත් සතුන් මැරීමට මනුෂ්‍යයන් වගේ පෙලඹෙන්නෙ නැති නිසයි. මොකද සතෙක් තමාගේ කුසගින්න නිවා ගැනීම උදෙසා සතෙක් මරනවා මිසක් වෙනත් අයට කන්න දෙන්න හෝ මිලමුදල් හම්බ කරන්න සතුන් නොමරන නිසයි. නමුත් මනුෂ්‍යයන් විසින් මස් සඳහා සතුන් මරන්නේ ලාභයක් ලබා ගැනීමට විකිණීමේ අදහසින් හෝ තම ආහාරයට ගැනීම සඳහායි. එම නිසා එතැන අසාධාරණයෙන් ගොඩනගා ගත් දෙයක් තියෙනවා. ඒවා මිලදී ගැනීමෙන් තවත් සත්ත්ව ඝාතනයන්ට අනුබල වීමක් සිද්ධ වෙනවා. මොකද සතුන්ට වගේ නෙවෙයි මනුෂ්‍යයන්ට යමක් තේරුම්ගෙන උපක්‍රමශීලීව යම් දෙයක් ක්‍රියාවට නංවන්න පුළුවන්. **එම නිසා එවැනි අසාධාරණයකින් ගොඩනගපු මසකින් ජීවත් වෙනවාට වඩා ඒවා නොගැනීම උතුම් ගුණයක්.** හැබැයි පවත්ත හෝ පාංශුකූල මාංශයෙන් ජීවත් වීම එවැනි අසාධාරණයකට අයිති නෑ. නමුත් අසාධාරණයෙන් ගොඩනගාගත් මාංශවල දයානුකම්පිත බවට පහරක් තියෙනවා. එම නිසා **එවැනි දේවලින් වැළකීමෙන් ඇත්ත වශයෙන්ම විශේෂත්වයක්, චිත්ත ශාන්තියක් තියෙන** බව සාක්ෂි හා අත්දැකීම් තියෙනවා.

කඩේ තියෙන මස් මාංශ කරවල ආදියත්, එහි හිමිකාරයා සමග සම්බන්ධ වෙලා තියෙන නිසා ඔවුන්ගෙන් මිලදී ගත්තත් හිමිකාරයෙක් බවට පත් වෙනවා. හැබැයි ඒක විකුණා ගන්න බැරිව හෝ නරක් වීම නිසා හෝ විසිකර දැම්ම නම් එතැන් පටන් ඒක පාංශුකූල මසක් බවට පත්වෙනවා. උදාහරණයක් ලෙස අපි හිතමු යම්කිසි අයිතිකාරයකුගේ ඇඳුමක් තියෙනවා කියා. ඔහු ළඟ එය තියෙන තාක් එහි හිමිකමක් තියෙනවා. එතකොට ඒක පාංශුකූල වෙලා නෑ. හැබැයි ඒක මීයො කාල හරි, දිරල ගිහින් හරි තමන්ට වැඩක් නැතිවෙලා හරි විසිකළොත් එතැන් පටන් ඒක පාංශුකූල රෙද්දක් වෙනවා. මේ වගේ තමයි මස් මාංශයක් වුණත් විසිකළොත් ඒක වැටෙන්නේ පාංශු කූලයටයි. එතකොට ඒකෙ අසාධාරණ සම්බන්ධය ඉවරයි. ඒනිසා පාංශුකූලය කැපයි. එහෙනම් අද **කඩේ තියෙන මස් මාංශ ගත්තොත් අසාධාරණයෙන් ගොඩනගාගත් දෙයක් පරිභෝජනය කිරීමට සම්බන්ධ බවත් මෙසේ ධර්මානුකූලව තේරුම් ගන්න** ඕන. හැබැයි පාපයක් නිසා නෙවෙයි, දයානුකම්පාව මුල් කරගෙනයි. **දැන් මෙවැනි ගුණ වැඩීම් මුල් කරගෙන අංශු මාත්‍රයක හෝ අසාධාරණයක් කරපු දේවල් පරිහරණය නොකරපු භික්ෂූන් වහන්සේලාත් ආර්ය උත්තමයන් වහන්සේලාත් හිටපු බවට සාක්ෂි තියෙනවා.**

සැරියුත් හිමියන්ට එක් අවස්ථාවක බඩේ අමාරුවක් හැදුනා. එහිදී උන්වහන්සේගෙන් මුගලන් හිමියන් ඇහුවා, මීට පෙර බඩේ අමාරුවක් හැදුනම

ගත්තෙ මොනවද කියල. දිය නුමුසු කිරිබතක් ගත් බව උන්වහන්සේ පැවසුවා. මේ කාරණය අහගෙන හිටපු වෘක්ෂ දේවතාවෙක් නිතර දන් දෙන ගෙදරක දරුවෙකුට ආවේශ වෙලා ගෙදර අයට කිව්වා, සැරියුත් හිමියන්ට දිය නුමුසු කිරිබතක් දන් දෙන්න කියා. ඉන්පසු මුගලන් හිමියන් හිතනවා අද පිණ්ඩපාත වඩින කොට ඒ ජාතියේම කිරිබතක් හම්බවුණොත් උන්වහන්සේගේම වාසනාව තමයි කියලා. මෙහෙම හිතමින් පිණ්ඩපාතය වඩින කොට අර නිවසින් ඒ ජාතියේම කිරිබතක් ලැබුණා. මේක නම් විශේෂ සිද්ධියක්, සැරියුත් හිමියන්ගේ වාසනාවටම තමයි මේක හම්බවුණේ, ඉක්මනට ගිහින් උන්වහන්සේට පූජා කරන්න ඕනෙයි කියා ආපසු හැරෙනකොටම ගෙහිමියා කිව්වා, ඕක ඔබවහන්සේ වළඳන්න, සැරියුත් හිමියන්ගේ කොටස වෙන් කරලයි තියෙන්නෙ කියා. ඉන්පසු මුගලන් හිමියන් ගෙහිමියාගෙන් ඒ බව දැනගත්තේ කොහොමදැයි විමසුවාම, අර දේවතාවා දරුවාට ආවේශ වෙලා කියපු කතාවට අනුව ඒ පොරොන්දුව ඉටු කිරීමට එසේ කළ බවත් ගෙහිමියා පැවසුවා. මුගලන් හිමියන් මේ දානය සැරියුත් හිමියන්ට පිළිගන්වමින් එය ලැබුණු හැටි විස්තර කළා. **නියෝග කරලා අණපනවලා ගත්ත දානයෙන් මම ජීවත් වෙන්නෙ නෑ, මේක විසිකරල දාන්න කියා සැරියුත් හිමියන් ඒක ප්‍රතික්ෂේප කළා.** එතකොට උන්වහන්සේ ඒ දානය පිළිගත්තෙ නෑ. දන් අර සත්ත්ව ඝාතනය වගේ දරුණු වැඩක් කරලවත් නෙවෙයි, මේ නිතර දන්දෙන ගෙදරකට නියෝගයක් පනවලා දෙන දානය අසාධාරණයක් බව දැක්ක නිසා උන්වහන්සේ ඒක පිළිගත්තෙ නෑ. **මේ උන්වහන්සේ ළඟ තිබුණු උතුම්ම ගුණයක්. නිවාත ගුණය කියන්නේ මේකටයි. ඒ ගති ලක්ෂණය නිසා කෙනෙකුගේ හිත රිදෙන විදිහට යමක් ගැනීමටවත් උන්වහන්සේ කැමති වුණේ නෑ. එතකොට ඒ ගුණය නිසාම උන්වහන්සේගේ බඩේ අමාරුවත් සුව වෙලා නැවත හැදුනෙ නැති බවත්** ධර්මයේ සඳහන් වෙනවා.

මේ වගේ **උතුමන්ගේ උතුම් ගුණයක් තමයි අසාධාරණ විදිහට ලබාගත් දෙයකින් ජීවත් නොවීම. මේ කාරණය මස් මාංශවලට විතරක් නෙවෙයි අනෙක් ඕනෑම අවස්ථාවකටත් අදාල කරගන්න පුළුවන්.** සැබෑ දයානුකම්පාව ඇතිවෙනවා කියන්නේ මේකටයි. මෙත් වැඩීම හෙවත් මෛත්‍රී චිත්තයක් පහල වීමයි මෙහිදී සිදුවන්නේ. **හුස්මක් ඉහළට ගෙන පහළට දමන වෙලාවකත් මෙත් සිත පැතිරෙව්වොත් ඒක අන් සියලු පිංවලට වඩා වැඩියි.** එමගින් ආර්ය මාර්ගය වඩා ගැනීමටත් වඩාත් පහසුවක් ඇතිවෙනවා. බඩගින්නට, තමන්ගේ මිය ගිය එකම පුතාගේ මස් කමින් කාන්තාර ගමන තරණය කර ක්ෂේම භූමියට ගිය **උපමාව පරිදි** ජීවිතය පවත්වා ගනිමින් ආර්ය මාර්ගය පූර්ණ කරගන්න ආහාර ගනිමියි යන අදිටන ඇති ආර්යන්ට, මේ ආහාර රසයට කැදර වෙලා කරන තර්ක වාද ගැන හිතන්නවත් දෙයක් නෑ.

දන් ඊලඟට තවත් ප්‍රශ්නයක් ඇතිවෙන්න පුළුවන්. බුදුන් වහන්සේ දේශනා කරල තියෙනවා සප්ත ප්‍රණීතයෙන් දන් දෙන්න කියා, ඒ කියන සප්ත ප්‍රණීතයට මස් මාංශත් අයිතියි නේද කියන ප්‍රශ්ණය තමයි ඒ. කාරණය ඇත්ත. මස් මාංශ කියන්නේ කොහොමත් ප්‍රණීත දෙයක්. ප්‍රණීත දෙයින් දන් දෙන්න කියලත් දේශනා කරල තියෙනවා. නමුත් මෙතැනදී භික්ෂුණ්වහන්සේලාට කැප වෙන්නෙ පවත්ත මාංශයයි. ඒ කැප මසින් දන් දීමයි මෙතැනදී පෙන්වා තියෙන්නේ. එහෙම නැතුව කොහොම හරි මස් මාංශයෙන් දන් දෙන්න කියන එක නෙවෙයි මේ කියන්නේ. දෙනව නම් දෙන්න ඕන පවත්ත මාංශයෙන්. බොහෝ කොට අසනීපයකට බෙහෙතක් ලෙසයි ඒවත් පෙන්වල තියෙන්නේ.

දන් තවත් ප්‍රශ්ණයක් තියෙනවා. එනම් මෙච්චර මහා ලෝකානුකම්පාවක් දයානුකම්පාවක් තිබ්ච්ච ලොව්තුරා බුදුන් වහන්සේ මස් මාංශ වැළඳුවාද යන්නත්, චුන්දකර්මකාරක පුත්‍ර විසින් දුන් අවසන් දානය මේ හේතුවෙන් ඌරු මසක් වෙන්නේ කොහොමද යන්නත් සමහර පින්වතුන් විසින් තර්ක වාදයට ලක් කරනවා. මෙතැනදී චුන්දකර්මකාරක පුත්‍ර කියන්නේ බුදුන් වහන්සේට අන්තිම දානය දෙන්න පාරමිතා පුරාගෙන ආපු විශේෂිත පුද්ගලයෙක්. ඒ වගේම බුද්දක නිකායේ බුද්ධ වංශ හා චරියා පිටක පාලියේ සංඥාපනයේ, සියලු බුදුවරයන් වහන්සේලාගේ ධර්මතා තිහක් ගැන සඳහන් වන අතර එයින් විසි නවවන ධර්මතාවය ලෙස සෑම බුදුවරයෙකු විසින්ම ලබාගන්නා අන්තිම දානය මාංශමය දානයක් වෙනවයි කියන කාරණයත් සඳහන් වෙනවා. නමුත් ඒ මාංශය පවත්ත මාංශයක් මිසක් කවදාවත් කිසිම හේතුවකින්වත් අසාධාරණ ලෙස මරා සකසා ගත්තක් වෙන්නෙ නෑ. නමුත් සූකර මද්ද කියන්නේ ඌරු මසක් නෙවෙයි හතු වර්ගයක්ය, බෙහෙත් වර්ගයක්ය කියා අද විවිධ මති මතාන්තර තියෙනවා. ඒ මතිමතාන්තර සියල්ලම අරගෙන තියෙන්නේ ලෝකයාට මෙච්චර මහා කරුණාවෙන් හිටපු බුදුන් වහන්සේ මස් මාංශ වළඳනවාද කියන තර්කය උඩයි. ඒ තර්කයට පහරක් නොවදින්න තමයි මේ වගේ මති මතාන්තර ගේන්නේ. ඉතින් පවත්ත මාංශයත් හතු වගේම තමයි, දෙකම එකයි. අසාධාරණයකින් ගොඩ නගපු ඒවා නෙවෙයි. නමුත් අර මස් කියන වචනයටත් නිගරු කරලා විවිධ මතිමතාන්තර පල කරනවා. මස් මාංශ ගැනීම පව් කියා කෙනෙක් දෘෂ්ඨිගත වෙනවා, එමනිසා පව් පිරෙන දෙයක් බුදුන් වහන්සේ කොහොමටවත් ගන්නෙ නෑ කියනවා, ඒක මහා අසාධාරණයක් කියා තවත් පිරිසක් කියනවා. ඉතින් මෙතැනදී අපි දෘෂ්ඨි ගත නොවී පින් පව් හඳුනාගෙන බොහොම ප්‍රවේසමෙන් තේරුම් ගත යුතුයි.

යමක් අසාධාරණ නැත්නම්, වැරදි නැත්නම්, ඒක ආහාරයක් වශයෙන් ගන්නවනම්, ඒක ගැනීම සිරිතක් වුණා. බුදුන් වහන්සේ ඒක පිළිකුල් කළෙත් නෑ, නොපිළිකුල් කළෙත් නෑ, ප්‍රියමනාපයෙන් ගන්න ගියෙත් නෑ. ජීවිතය පැවැත්වීමට යමක් ගන්නවද ඒක උන්වහන්සේත් ගත්තා. හැබැයි අසාධාරණයක් වෙනව දැක්කොත් ඒක ගත්තෙ නෑ. **මස් මාංශ විතරක් නෙවෙයි මොනම දෙයක් හෝ අසාධාරණයෙන් සකස් කරපු දෙයක්නම් ඒක ගත්තෙ නෑ.**

නිවාත ගුණය ගැන කථා කරනකොට සීලයෙන්, සමාධියෙන්, ප්‍රඥාවෙන් බුදුන්වහන්සේ සියල්ලන්ටම වඩා අග්‍රයි. එහෙනම් අර පුංචි අණක් තිබූ කිරිබත් දානය පවා නොගත් සැරියුත් හිමියන්ට දෙවැනි වෙන්නෙ නෑ. සැරියුත් හිමියන් පුංචි අණක් තිබූ කිරිබත් දානයත් පුංචි අසාධාරණයක් දැකල ප්‍රතික්ෂේප කළා. අසාධාරණ විදියට සකස් කරපු මස් මාංශ කොහොමටවත් ගත්තෙ නෑ. නමුත් සැරියුත් හිමියන් සීල ගුණයෙන් බුදුන්වහන්සේට වඩා වැඩි නෑ. තුන් ලෝකයෙන්ම බුදුන් වහන්සේ තමයි මේ ගුණයන්ගෙන් අග්‍ර වෙන්නේ. එහෙනම් බුදුන්වහන්සේ ලඟ ඒ ගුණය අසීමිතව තිබිය යුතුයි. **සැරියුත් හිමියන්ගේ ශ්‍රාවක ගුණයත්, අයුක්තියෙන් අසාධාරණයෙන් හදපු කිරිබත ප්‍රතික්ෂේප කළා නම්, අසාධාරණයෙන් ගොඩනගපු මස් මාංශ ප්‍රතික්ෂේප කරනවයි කියන එක අමුතු කාරණයක් නෙවෙයි.** එහෙනම් බුදුන් වහන්සේ අයුක්තියෙන් අසාධාරණයෙන් හදපු දෙයක් නොගැනීම අතින් ඊටත් වඩා ඉහලයි. ඒ නිසා **කවදාවත් උන්වහන්සේ**

**පවත්ත නොවන මසක් ගත්තෙ නෑ.** පාංශුකූල මාංශය කිව්වත් ඒකත් පවත්ත මස වගේමයි. පාංශුකූල මස කියන්නේ විසිකරල දාපු මසයි, අහකට දාපු මසයි, හිමිකාරයෙක් නැති මසයි. මරල විසිකරල දැම්මත් ඒක විසි කළාට පසු පාංශුකූලයි. ඒ මස එක්කෝ සතෙක් කාල යනවා, නැත්නම් කුණු වෙලා යනවා. ඒ මස ගත්තා කියා තවත් සතෙක් මැරෙන්න හේතු වෙන්නෙ නෑ. ඒ විදිහටම පාංශුකූල මස යම්කිසි පුද්ගලයෙක් විසින් ලෙඩකට බේතක් වශයෙන් හෝ අවශ්‍ය වෙලාවට ගන්න හෝ විකුණගන්න හෝ තම සන්තකයට ගත්තම ඒක පවත්ත මාංශයක්මයි. නැවතත් ඒක මට එපා කියල වීසි කළොත් පාංශුකූල වෙනවා. හැබැයි ඒ මස, මරපු කෙනා විසි කරන්නෙ නැතිව මුදල්වලට වික්කොත් හෝ ආහාර පිණිස ගත්තොත් ඒක පවත්ත නෙවෙයි. අසාධාරණ මස් මාංශයට වැටෙනවා. ඉතින් මේ කියන කාරණය දෘෂ්ටියකට නොවැටී හේතු ඵල න්‍යාය ධර්මයට අනුව තේරුම් ගත යුතුයි.

**මීලඟ වැදගත් කාරණය නම් පවත්ත වුනත් භික්ෂූන්වහන්සේලා විසින් නොවැළඳිය යුතු මස් වර්ග 10ක් නම්කර තිබීමයි.** ඒවානම් මිනී මස්, අලි මස්, අශ්ව මස්, වලස් මස්, කරබානා වලස් මස්, දිවි මස්, සිංහ මස්, ව්‍යාඝ්‍ර මස්, සර්ප මස් හා බලු මසයි. මේ 10න් පළමුවෙන්ම තහනම් කළේ මිනී මසයි (සුප්පියා බණවර - <u>භේසජ්ජ ඛන්ධකය</u>, විනය පිඨකය - මහා වග්ග පාලිය 2 - 6 <u>භේසජ්ජ ඛන්ධකය</u> - පිටුව 554) එක්තරා භික්ෂූන්වහන්සේ නමකට වෛද්‍යවරයෙක් කියල තිබුණා, ශරීරයේ පෝෂණ දුර්වලතාවයකට මස් අනුභව කරන ලෙස. සුප්පියා උපාසිකාව කියන්නේ නිතරම ඇප උපස්ථානවලට කැප වෙලා හිටපු කෙනෙක් නිසා ඒ හිමි නම ඇයගෙන් මස් ව්‍යංජනයක් හදාගෙන එන ලෙස ඉල්ලීමක් කළා. ඒ පොරොන්දුව ඇය භාරගෙන හැමතැනම ගිහින් පවත්ත මාංශයක් හෙව්වත් හොයාගන්න බැරි වුණා. මේ නිසා ඇය සිය කලවයෙන් මස් කෑල්ලක් කපා උයාගෙන ගිහින් අහවල් හිමියන්ට දෙන්න කියා දාසියකට භාර දුන්නා. ඇයි සුප්පියා උපාසිකාව ආවේ නැත්තෙ කියා විමසීමක් කළොත් අසනීප වෙලා නිදාගන්නා බව කියන්න කියලත් කිව්වා. මේ සිද්ධිය සම්පූර්ණයෙන්ම බුදුන්වහන්සේ බුදු ඇසින් දැක තිබුණා. ඉන්පසු ඒ දානය ඒ භික්ෂූන්වහන්සේ වැළඳුවාට පසු උන්වහන්සේ හමුවෙන්න ගිය බුදුන්වහන්සේ ඇහුවා, අද දානයට මොනවද ගත්තෙ කියලා. වෛද්‍යවරයෙකුගේ උපදෙස් මත නියම වූ මස් ව්‍යංජනයක් සුප්පියා උපාසිකාව එවා තිබූ බවත් ඒ හිමියන් උත්තර දුන්නා. මොන මස්ද ගත්තෙ කියා ඇහුවාම ඒකනම් දන්නෙ නෑ කිව්වා. උඹ අරගෙන තියෙන්නේ සුප්පියා උපාසිකාව කලවයෙන් කපල දුන්න මිනී මස්, ඇයි මෝඩයෝ මසක් ගන්න පෙර මොන මස්ද කියා අහන්න තිබුණා යැයි කියා මේ කාරණයෙන් තමයි බුදුන් වහන්සේ මිනී මස් තහනම් කරල ඇවැතක් පැනෙව්වේ. මොකද තමන්ගේ වර්ගයාගේ මසුත් වළඳන ම්ලේච්ඡයන් ලෙස බාහිර සමාජයෙන් හංවඩු ගහන්න පුළුවන් නිසයි ඒවගේ ඇවැතක් පැනෙව්වේ.

ඊළඟට බලුමස් වගේ මස් වර්ග සැඩොල් කුලයේ උදවිය තමයි ආහාරයට ගත්තේ. මිනිස්සු බලු මස් කෑම නින්දා කරනවා, පිළිකුල් කරනවා, අවමන් කරනවා. එතකොට භික්ෂූන්වහන්සේලා ඒ මස් වැළඳුවොත් මිනිස්සු කෑ ගහනවා, භවත් ගෞතමයන්වහන්සේගේ ශ්‍රාවකයන් නීච බල්ලන්ගේ මසුත් කනවා කියා. ඒ සිද්ධිය මුල් කරගෙන බලු මස් තහනම් කළා. සිංහ, කොටි, ව්‍යාඝ්‍ර ආදී මස් වළඳලා භික්ෂූන්වහන්සේලා කැලෑ මැද්දෙන් වඩින කොට ඒ ඉව සිංහයන්ට, කොටියන්ට, ව්‍යාඝ්‍රයන්ට විස වෙලා, උන් භික්ෂූන්වහන්සේලාගේ ඇඟට පනින්න පටන් ගත්තා. ඉතින් නිකං ඉන්න සිංහ, කොටි සැඩපරුෂ වෙලා භික්ෂූන්වහන්සේලාට පහර දීමෙන් වන ආපදාව දැකලා ඒ මස් වර්ග තහනම් කළා. වලස් මස්, කරබානා වලස් මස් තහනම් කරන්න හේතුවත් ඒකමයි.

සර්ප මසත් හිරිකිතයි, පිළිකුල්, මිනිස්සු නින්දා කරනවා. භවත් ගෞතමයන්වහන්සේගේ ශ්‍රාවකයෝ සැඩොල්ලු වගේ නීච සර්ප මසුත් වළඳනවයි කියා අපවාද එනකොට ඒ මසත් තහනම් කළා. ඒ වගේම සුඵස්ස නම් නා රජු විසින්, භාග්‍යවතුන්වහන්සේ හට ශ්‍රද්ධා නැති නොපහන් නාගයෝ ඇති බවත්, ඉතා කුඩා කරුණකින් වුනත් භික්ෂූන් වහන්සේලාට හිරිහැර කරන්න බලාගෙන ඉන්න බවත් දන්වා සර්ප මසත් නොවළඳිනවා නම් යහපත් බව වරෙක දන්වා සිටීමත්, සර්ප මස් වැළඳීම තහනම් කරන්න හේතුවක් වුනා. (විනය පිටකය - මහා වග්ග පාලිය 2 - 6 <u>භේසජ්ජ ඛන්ධකය</u> - පිටුව 558)

ඊළඟට එදා හිටපු රජ්ජුරුවන්ගේ මංගල හස්තියා මළාට පසු ''මංගල හස්තියා හරි වාසනාවන්තයි, ඒක වැළඳුවොත් මස් ටික කුණු වෙලා යන නිසා ජීවය අපි ලඟට ගමු'' යි කියා දෘෂ්ටියක් හදාගෙන ඒ ඇතාගේ මස් උයාගෙන කෑවා. භික්ෂූන්වහන්සේලාට ඒකෙන් දානෙත් දුන්නා. ඒක දැකපු අන්‍ය පරිබ්‍රාජකයෝ කෑගහන්න පටන් ගත්තා, භවත් ගෞතමයන්ගේ ශ්‍රාවකයෝ මංගල ගුණයෙන් හදපු සතාගේ මසුත් කනවයි කියා. ඒක මුල්කරගෙන ඇත් මස් තහනම් කළා. අශ්ව මස් තහනම් කරන්න හේතුවත් රජ මාළිගාවේ හදන සත්වයෙක් නිසා ඒ මස් ගත්තොත් භික්ෂූන්වහන්සේලා අර වගේ අපවාදයකට ලක්වන නිසයි.

එතකොට මේ වගේ මස් වර්ග 10ක් තහනම් කළේ හේතු ඇතිවයි. බාහිර සමාජයෙන් එන නින්දා අපහාස වගේ පහර දීම් නිසා වන බාහිර හේතූන් මත තහනම් කළා මිසක් පව් නිසාවත් ඒ මස් වැළඳුවා කියා ශාසන මාර්ගය වඩන්න බාධාවක් වන නිසාවත් නෙවෙයි. මේ විදියට සමාජ සම්මතයන්ට විරුද්ධ වීම නිසා ඇතිවන භේදතාවය දුරු කරන්නයි මස් වර්ග 10 ක් විශේෂයෙන් තහනම් කළේ. **භික්ෂූන්වහන්සේලා විතරක් නෙවෙයි ගිහියෙක් හෝ වේවා පවත්ත වුනත් මේ මස් වර්ග දහය ආහාරයට ගැනීමෙන් අවස්ථානුකූලව වැළකීම වැදගත් වෙනවා.** ඒ, අර වගේ බාහිර ප්‍රශ්න එන්න පුළුවන් නිසයි. ඒ වගේම භික්ෂූන්වහන්සේ නමක් මස් මාංශ වළඳනවා නම් (පවත්ත වුනත්), මස් මාංශ කියන ප්‍රිය මනාප අදහස අත්හැරලා, ලැබිච්ච ආහාරයකින් ජීවත් වන මානසිකත්වය ඇති කරගන්න ඕන. ඒනිසා භික්ෂූන්වහන්සේ නමකට ඒක ගැටළුවක් වෙන්නෙ නෑ. නමුත් මිනිස්සු භික්ෂූන්වහන්සේලා වෙනුවෙන් සතුන් මරා මස් මාංශ හැදුවොත් ඒක මිනිස්සුන්ට කොහොමත් අවැඩක් පාපයක් වෙනවා වගේම, **මරා සකස්කරගත් මස් මාංශ අයුක්තියෙන් අසාධාරණයෙන් ගොඩනගපු එකක් නිසා ඒක වළඳන්න එපා කියාත් විශේෂයෙන් පෙන්වා තියෙනවා.**

(ඉතිරි කොටස ලබන කලාපයෙන්)

*වැහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :*

**නීතිඥ චන්දන සිරිවර්ධන**

**අභයරතනාලංකාරය - 09**

# දුර්ලභ වූ පටිභාන කවීත්වය තුළින් ගෙතුණු පුංචි දහම් කථාවක්...



**- වහරක අභයරතනාලංකාර හිමි**

*පසුගිය කලාපයෙන් -*
*මාර සේනාවන් සමග කළ සංවාදවලින් සහ මාර උගුල්වලින් ජය ලැබූ හැටි..... එතැන් සිට...*

කෙනෙක්ගේ ශරීරයට අතවත් නොතබා ලෙඩ රෝග ආදියත්, ඊට හේතුවත්, ප්‍රතිකර්මත් පෙන්වා දෙන ගුප්ත ක්‍රමවේද නිසාම ලංකාවේ විවිධ ප්‍රදේශවලින් සෙනග එන්න පටන් ගත්තා. මේ කටයුතු ආරම්භ කරපු මුල් කාලයේ තවත් වටිනා ශාන්ති ක්‍රමයකටත් ක්‍රමවේදයක් මතු වුනා.

දිනක් රාත්‍රී නින්දේදී සිය ගණනක පිරිසක් වෙත සෙත් කවි ශාන්තියක් කරමින්, අත අනුකූලව කරකවමින් පිරිසට විශාල සෙත් කිරණ ධාරාවක් යවන ආකාරය හීනෙන් දැක්කා. පැය කාලකට වැඩි වෙලාවක් එසේ කළ ලෙසයි වැටහුනේ. ඒ කවි ඉතා ශාන්තයි. අක්ෂර, ගණ, එලිසම, එලිවැට... ආදී සියල්ලෙන් පූර්ණ වූ ලෝවැඩ සඟරාව, බුදුගුණ අලංකාරය... ආදී පොත්වල තියෙන කවි වගෙයි, හෙළ බසට ආවේනික පදමාලාවන්ගෙන් හැදී ගලාගෙන එන ස්වභාවයේ ඒවායි. ඒවා **හිත හිතා පද ගොතමින් කියපු කවි නෙවෙයි.** ඒ මොහොතේ රාත්‍රී නින්දෙන් අවිදි වූ මා හට, ''මා කෙසේ කවි කීවේද? කවි හදා හෝ කියා පුරුද්දක් නැති මට එබඳු කවියක් හිතෙන් හදාගෙන පොතක ලියන්නත් පැය කාලක් වත් ගතවෙයි'' කියා හිතුනා. නමුත් මේ හීනෙන් කරපු විශේෂ ශාන්තිය ප්‍රකෘතියෙන් ගන්න පුළුවන් දැයි, ඊළඟ දවසේ සමාධි ක්‍රමයෙන් බලන්න හිතාගෙන නැවතත් නින්දට ගියා.

එළිවුන දවස විශේෂ දිනයක් වුනා. ගෙදර තිබ්බ්ච සුළු සුළු කටයුතු ඉවර කර උදේ අටට පමණ කුටියට ගිහින් ගුරුතුමා මවා රාත්‍රියේ සිදු වූ සිද්ධිය පවසා ඒ කාව්‍යමය සෙත් කිරීම ප්‍රකෘති පියවි ස්වභාවයෙන් ගන්න පුළුවන් දැයි ඇසුවා. එසේ හැකි බව පැවසූ ගුරුතුමා, පෑනක් සහ පොතක් රැගෙන කුටියට එන්න කියා දැන්නුවා. ඉන්පසු පොත පෙරලාගෙන ගෙයක් හදන හැටි කියා මාතෘකාව ලියන්න කිව්වා. ගුරුතුමා පදෙන් පදය කියනකොට ලියා ගන්නැයි පැවසුවා. මමත් ඒ කවි, පදයෙන් පදය අසමින් ලිව්වා. කවි 23 කින් ඒ කවි පන්තිය ලිව්ව ලෙසයි මතක. ඒ කවි කියා දුන් ආකාරය සිහි කරන කොට, මේ මගේ මනසේ නිපැයුමක්දැයි සිතීමත් පුදුම සහගත වුනා.

ඉන්පසු කිව්වේ, දැන් ලිව්වා ඇති ගෙදර ගිහින් වතුර බෝතල් තුනක් අල්ලන ජෝගුවට පුරවා ගත් වතුර ජෝගුවක් සහ වතුර බෝතලයක් අල්ලන ලොකු වීදුරුවකට පිරෙන්න වතුර එකක් රැගෙන එන ලෙසයි. ඉන්පසු පළමුවෙන්ම මෙහෙම උපදෙස් දුන්නා. ''දැන් කවි පදයක් මනසට එවනවා. ඒක කටින් පිටවෙන්න සිතන්න. කවි පදය පිටවෙනකොට දැඩි වෙහෙසක් සහ පිපාසයක් දැනෙයි. බය නැතිව වතුර බොන්න.''

මෙහෙම කියල දැන් කවි පදය එන්න මනස සැකසෙන්න හිතන්නැයි කිව්වා. ක්‍රමයෙන් හිස තදවෙන්නට වුනා. පැල මදයක් (පැලපී) තරම් ප්‍රමාණයෙන් මොළය හිරවෙමින් කුඩා වෙන ආකාරයත් දැනෙන්න වුනා. ඒක ටෙනිස් බෝලයක් තරම් ලෙසත්, දොඹ ගෙඩියක් තරමට කුඩා වූ ලෙසත්, ජිල් බෝලයක් පමණ, කෝපි ගෙඩියක් පමණ, අබ ඇටයක් පමණ ආදී ලෙසින් හිර වෙමින් කුඩා වෙන ආකාරය දැනෙන්න වුනා. ඊළඟට ඉදිකටු තුඩක් තරම් කුඩා වී නැති වී, හිස් කබල හා හිසකෙස් ආදියත් නොදැනී හිස් මුදුන අහසට විවෘත වුනා වගේ දැනුනා. දැන් තදවීම උපරිම ලෙසට තවමත් දැනෙනවා. ''ඔන්න කවි පදය කටින් පිටවෙන්න එවනවා'' කියන හඬත් සමගම කවි පදයක් කටින් පිටවුනා. ඒත් සමගම හිර කරපු දෙයක් සම්පූර්ණයෙන් අතහැර නිදහස් කළා සේ වැටහුණා. උගුර කට වේළී ගියා. මම වතුර වීදුරු තුන් කාලක් පමණ බීගෙන ගියා. නැවතත් ජෝගුවෙන් වීදුරුවට වතුර පුරවා තැබුවා. ''හා ලැහැස්ති වෙන්න දෙවනි පදය එවන්න'' යැයි ගුරුතුමා දැනුම් දුන්නා. පෙර පරිදිම ඔළුව, මොළය හිරවෙන්න පටන් ගත්තා. කලින් වගේම කුඩා වී ගිහින් හිස් මුදුන අහසට විවෘත වුනා වගේ දැනුනා. ඔන්න දෙවනි පදය එවනවා යැයි ගුරුතුමාගේ හඬත් සමගම දෙවනි පදය පිටවුනා. කලින් වගේම වතුර පිපාසය දැනෙන්න වුනා. වතුර බී නැවතත් ජෝගුවෙන් වීදුරුව පුරවා තැබුවා. තුන්වැනි පදය එවන්න යලි සැරසෙන ලෙස ගුරුතුමාගෙන් අණ ලැබුණා. ඒකත් ඒ විදිහටම පිටවුනා. මේ විදිහට විනාඩි පහක් පමණ යනකොට වතුර වීදුරු හතරම බී අවසන් වුනා.

දැන් මනස අහස වගේ නිදහස්. කිසිම වෙහෙසක් දැනෙන්නෙ නෑ. හිතෙන හිතෙන දේ කවියට නැගී පිටවෙන්නේ නිරායාසයෙන්. ඉතා වේගයෙන් කියන්න හිතුවොත් වේගයෙන් ගලාගෙන එනවා. අකුරු පද හඬ නැගීමේදී තොල කට දිව හසුරුවන්න යම් තරමක් වේගයෙන් පුළුවන්ද, ඒ තරමට වැඩි ඉක්මනින් මනස කාව්‍යමය බලයෙන් ක්‍රියාත්මක වෙන්න වුනා. මට මතක හැටියට මේ සිද්ධිය සිද්ධ වුනේ 1986 වසරේදී පමණ. එදා ඉඳන් අද වෙනතුරු ඒ හැකියාවේ අඩු වැඩියක් නෑ. කවි කියල ප්‍රගුණ වීම නිසා කියල

**වෙනසකුත් නෑ. මේවා එකම රටාවක කවි නෙවෙයි. විවිධ මාදිලියේ ක්‍රම රටාවන්ට නැගී එන කවි. ශාන්ත භාවයට පත් කරන්න, නටවන්න, ගෙන්වන්න, පළවා හරින්න, බෙර පද විලාසයට, හේවිසි පද විලාසයට ගැයෙන සතර පද විලාසයෙන් හෝ නිසඳැස් ක්‍රමයටත් ගැයීමේ හැකියාව ඒ මොහොතේ පටන්ම ඇති වුනා.** පිපාසය දනීමේදී බීපු වතුර බෝතල් හතරක් බඩේ ඇති බවවත් දැනුනෙ නෑ. ඒවා මුත්‍රා ලෙසටත් ගියේ නෑ. ගුරුතුමාගෙන් අහනකොට කිව්වේ, මොළයේ අක්‍රියව තිබිච්ච සෛල විශාල ප්‍රමාණයක් වහගෙන තිබුණ අපද්‍රව්‍ය පිටකිරීමට රසායනික සංයුතියක් හැදී කිරණක් බවට පත්වෙලා විසිර ගිය බවයි.

එදිනම හවස අවට පවුල්වල කුඩා ළමයින් හත් අටදෙනෙක් එකතු කරගෙන පුංචි ආදර්ශ කතාවක් ගුරුතුමාගේ දැනුම්දීම අනුව මේ ක්‍රමයටම කළා. ඒවා ළමයි අහගෙන හිටියේ ඉතා සතුටින්. හොඳට තේරෙන නිසඳැස් කව්වලින් නාට්‍යයක රඟ දක්වන ආකාරයට අත්, ඇඟ, හිස... ආදී කායික අංගත් අනුකූලව චලනය කරමින් මනා සිහියෙන් ඒ රංගනය කළා. **මේ පහතින් පෙන්වන්නේ ඒ කවි පන්තියම නෙවෙයි, ඒ අදහස ගැබ්වෙලා තියෙන කවි රටාවයි. මොකද කතා කරපු දෙයක් ඒ අකුරු හා ඒ පදවලින්ම ඒ විදිහටම නැවතත් කියන්න බැරි වගේ, මේ කවි කීමත් එසේමයි. පාඩම් කරගත්තු කවි නම් ඒ විදිහටම කියන්න පුළුවන්. ඒත් මේ කවි ඒ වගේ නෙවෙයි. මේ තමයි පටිභාන කාව්‍ය රටාව.**

<u>දේශක -</u>
ඔන්න පුතුනි එක දවසක්
පුංචි ළමයි කට්ටියකුත්
සෙල්ලම් කරනට කියලා
ගියා නොවෑ පිට්ටනියට

පුංචි ළමයි එකතු වෙලා
දෙපිලක් විලසට බෙදිලා
නායකයන් තෝරාගෙන
දෙපිල හැදුනෙ මෙන්න මෙහෙම

දෙන්න දෙන්න වෙන්ව ගොසින්
එකෙක් අතේ ගල් කැටයක්
අනික අතේ තණකොලයක්
හංගාගෙන දෙන්න ඇවිත්
නිලද ගලද? නිලද ගලද?

නිල කිව් අය එක පිලකට
ගල කිව් අය එක පිලකට
මෙහෙම බෙදිල දෙපිල හැදිල
බෝල ගහන්නයි හදන්නෙ

පළමු පිලට පිත්ත දුන්න
දෙවැනි පිලට බෝලෙ දුන්න
එකෙක් ගහපු බෝල පාර
හරිම සැරයි හරිම සැරයි

අල්ල ගන්න බැරුව ගියා
බෝලෙ කැලෑවටම ගියා

<u>ළමයි:-</u>
හොයමු හොයමු බෝලෙ හොයමු

<u>දේශක:-</u>
සේරම දැන් බෝලෙ හොයයි
බෝලෙ දැක්ක එක ළමයෙක්
ගන්නට නැමුනා විතරයි
මෙන්න බොලේ පුදුම වැඩක්
පිහාටුවක් දඟලනවා

බලා ඉන්න පුදුම වැඩේ
මේ බලපන් පුදුම වැඩක්
එහෙට නැමිල මෙහෙට නැමිල
දඟල දඟල නැගිටිනවා

<u>පළමු ළමයා:-</u>
කෝ බලන්න කෝ බලන්න
පිහාටුවක් කොහොමද බං
ඔය විදිහට දඟලන්නේ
හුතයෙක්ගෙ වැඩක් ඕක
හුතයෙක්ගෙ වැඩක් ඕක

<u>ඔක්කොම ළමයි:-</u>
දුවමු දුවමු පැනල දුවමු
අපි අල්ලන්නත් බැරි නෑ

<u>දේශක:-</u>
මෙහෙම කියපු පුංචි ළමයි
පස්ස නොබල ගෙදර දිව්ව
මෙහෙම කියපු පුංචි ළමයි
පස්ස නොබල ගෙදර දිව්ව

<u>පළමු ළමයා:-</u>
අම්මෙ අම්මෙ හරි වැඩේනෙ
පිහාටුවක් දඟලනවා
හුතයෙක්ගෙ ආවේසෙන්
පිහාටුවක් දඟලනවා

<u>මව (සුද්දී):-</u>
කොහෙද පුතේ? කොහෙද පුතේ?

<u>ළමයා:-</u>
බෝල ගහන පිට්ටනියේ
එහා කැලේ එහා කැලේ

<u>මව (සුද්දී):-</u>
උඹ කොහෙවත් යන්න එපා
ගෙදර හිටින් ගෙදර හිටින්
මම පොඩියක් පොඩි වැඩකට
උඩහ ගෙදර පැත්තෙ යනව

<u>ජොසී:-</u>
කොහෙද බොලන් හති දාගෙන
ජර මරේට මේ දුවන්නෙ

<u>සුද්දී:-</u>
හරි වැඩේනෙ ජොසී අක්කෙ
කා හටවත් කියනු එපා
හුතයෙක්ගෙ ආවේසෙන්
කුරුල්ලෙකුගෙ අත් තටුවක්
පිට්ටනියේ උඩ පැන පැන
ආවේසෙන් දඟලනවලු

<u>ජොසී:-</u>
මොනව යකෝ පුදුම වැඩක්
කවුද ඕක උඹට කිව්වෙ?

<u>සුද්දී:-</u>
වෙන කවුරුත් නොවෙයි බොලන්
මගේ පුතා මගේ පුතා
උෟ උස්සන් යයි කියලා
ඒක බයේ ගෙදර දිව්ව

<u>ජොසී:-</u>
බය නැතුවයැ පොඩි එකානෙ
බය නැතුවයැ පොඩි එකානෙ
විග විගහට ගෙදර ගිහින්
පොඩි එකාව බලාගනින්
මට යන්නට පොඩි ගමනක්
තියෙන හින්ද මං යනවා

ආරංචිය පැතිර යන්ට
ඉස්සෙල්ලම යන්ට ඕනැ
රොසලින් අක්කට කියන්ට
ඉක්මනටම යන්ට ඕනැ

<u>රොසලින්:-</u>
කොහෙද ජොසී මේ දුවන්නෙ
හති දාගෙන ජර මරේට?

<u>ජොසී:-</u>
ඇයි රොසලින් දන්නෙ නැද්ද
පුදුම වැඩක් පුදුම වැඩක්

<u>රොසලින්:-</u>
මොකක්ද බං පුදුම වැඩේ
මටත් අහන්නට කියපන්

<u>ජොසී:-</u>
මැරුණ කුරුල්ලෙක් ඇවිදින්
හුතයෙකුගෙ ආවේසෙන්
පිට්ටනියේ උඩ පැන පැන
කැරකි කැරකි දඟලනවලු

<u>රොසලින්:-</u>
කවුද ඕක උඹට කිව්වෙ
කවුද ඕක උඹට කිව්වෙ?

ජොසී:-
කවුරු කිව්වත් උඹට මොකද
වැඩේ ඇත්ත වැඩේ ඇත්ත

රොසලින්:- අනේ අපොයි පුදුම දෙයක්
ලෝකෙට මේ මොකද වෙන්නෙ
හිතා ගන්ට බැරි දේවල්
කලි යුගයට සිද්ධ වෙන්නෙ
කවුද අතන අර ඉන්නේ
ජේන් අක්ක ජේන් අක්ක
ආරංචිය එන්ට කලින්
යන්ට ඕනැ මෙය කියන්න

ජේන් අක්කෙ ඔහොම හිටින්
ජේන් අක්කෙ ඔහොම හිටින්

ජේන්:-
ඇයි රොසලින් හඬ තලන්නෙ
කරදරයක් වත් වෙලාද?

රොසලින්:-
දන්නෙ නැද්ද ජේන් අක්කෙ
පිට්ටනියේ හරි වැඩක්නෙ
උකුස්සො දෙන්නෙක් මැරිලා
වේලිලාලු කර වෙලාලු
භූතාවේශයක් ඇවිත්
දෙන්න කොටා ගන්නවාලු

ජේන්:-
සද්දෙ ටිකක් මටත් ඇහුන
උඹට කියන්නටයි හිටියෙ
කඩේ පැත්තෙ යන්න හින්ද
ඉක්මන් කර මම යනවා

මේ ටිකටත් ආරංචිය
කඩ මන්ඩියෙ පැතිරිල ඇති
මමයි මේක දැක්කෙ කියල
ආරංචිය පතුරවන්න

අනේ අපොයි මෙහෙම දෙයක්
කවද දකින්නද මේවා
මෙහෙම දෙයක් දැක ගන්නත්
පිනක් තියෙන්නට ඕනැ

අතන ඉන්නෙ ලොකු සෙනගක්
එකිනෙකාගෙ කසුකුසුවක්
ආරංචිය හොයා ගන්න
බැරුව වගෙයි බැරුව වගෙයි

දේශක:-
ගමේ සැවොම එකතු වෙලා
කප් හිටවන්නට හදනව
භූත දෝසෙ හැර දමන්න
දේව පිහිට ලබාගන්න

පිරිසත් වට පිට බලනව
කවුද වටෙන් එන්නෙ කියල

පිරිස:-
ඔළුව ටිකක් කරකව කව
ජේන් අක්ක නේද එන්නෙ
කලක හිටන් දේවාලේ
කපුකම ඇය නොවැ කරන්නෙ

ජේන්:-
නර පැටවුනි මෙහෙට වරෙව්
නර පැටවුනි මෙහෙට වරෙව්
උකුස්සො හත් දෙනෙක් මරල
වේල වේල හිටපු යකුන්
ආවේසෙන් උන් අරගෙන
පිට්ටනියේ උඩ පනිනව
යකුන් මෙල්ල කර යවන්න
දේවාලෙට වරෙව් යන්න

දේශක:-
තවත් වැඩක් මේ වෙලාවෙ
මේ විදහට සිද්ධ වුනා

පිරිස:-
කවුද කෙනෙක් මෙහෙ එනවා
බස්තමකුත් අතේ අරන්
රැවුල දිගට වවල ඉන්නෙ
නෙත් දෙක නම් හරි තේජස්
ගාම්භීර මහ කටහඬ
පෙර අපෙ මුල් ගුරුතුමානෙ
ගරු කළ යුතු උතුම් අයට
වැඳලා ගරු කරල හිටිමු

ගුරුතුමා:-
සුවපත් වේවා සැම දෙන
සුවපත් වේවා සැම දෙන
මොකද මෙතන සියලු දෙනා
එකතු වෙලා මේ කරන්නෙ

පිරිස:-
අනේ අපේ ගුරු උතුමනි
භූත දෝසෙ ගමට ඇවිත්
අපි වැනසෙන්නට ඉස්සර
දේව පිහිට ලබා ගන්න
දෙවියන් හට බාර වෙන්න
ජේන් මැණි අඬගසනව

ගුරුතුමා:-
මොකක් කිව්ව ජේන් මැණි
කවුරුද ඒ ජේන් මැණි

ජේන්:-
මං මං මං මහත්තයෝ
ජෙජ්.. ජෙජ්.. ජෙජ්.. ජේන් නෝන

ගුරුතුමා:-
ජේන් නෝන මට මතකයි
ඒ කාලේ පුංචි කෙල්ල
දාංගලේ වැඩි හින්දා
කෝටු පාර දෙකක් දුන්න

ඊට පස්සෙ කලබල නෑ
හොඳට අකුරු ඉගෙන ගත්ත
මොකක්ද ඔය භූත දෝසෙ
කවුරුද ඒ ලෙස කියන්නෙ

පිරිස:-
ජේන් අක්ක ආවේසෙන්
දෙයියො කිව්ව ලෙස කියනව
උකුස්සො හත් දෙනෙක් මරල
වේල වේල හිටපු යකුන්
ආවේසෙන් උන් අරගෙන
පිට්ටනියේ උඩ පනිනව
දේව සාපයක් හින්දම
භූත දෝසයක් හැදිලලු

ගුරුතුමා:-
ජේන් නෝනො මෙහෙට වරෙං
මොන දෙයියොද උඹට කිව්වෙ
පුංචි කාලෙ කෝටු පාර
මතක් කරල දැන් කියපන්

ජේන්:-
අනේ අනේ මහත්තයෝ
දෙද්.. දෙද්.. දෙද්.. දෙයියො නෙවෙයි
රොසලින් අක්කයි කීවේ
බොරු කීවට කමා වෙන්න

ගුරුතුමා:-
බොරු කියන්න පුරුදු අයගෙ
කටත් කෙටේරියක් වගේ
ලෝ සදහම් වනසවන්නෙ
කෙටේරියක් වගේ කටයි
ඉස්කෝලෙදි කියා දුන්න
ජේන් උඹට මතක නැද්ද?

රොසලින් ඔය උඹට කිව්ව
දේම නෙවෙයි උඹ කියන්නෙ
හාත් පසින් වෙනස් දෙයක්
ගොතල තමයි උඹ කියන්නෙ
මාත් සමග යන්ට වරෙව්
ඔප්පු කරල පෙන්වන්නම්

කෝ රොසලින් කෝ රොසලින්
වරෙන් වරෙන් මෙහෙට වරෙන්
ජේන්ගෙ කන කොනේ තියල
උඹ මොකක්ද ඇයට කිව්වෙ?

රොසලින්:-
මාගෙන් වරදක් වී නම්
මහත්තයෝ කමා වෙන්න
මැරිලා වේලී කරවුණු
මහා උකුස්සෝ දෙන්නෙක්
භූතාවේශයක් නිසා
ඔවුන් කොටා ගන්නවාලු
ඔය ටිකමයි මම කිව්වේ
ඔය ටිකමයි මම කිව්වේ

ගුරුතුමාඃ-
මුලදිම මං කිව්ව නේද
හාත් පසින් ගොතපු දෙයක්
මේ රොසලින් කිව්ව කියල
ජේන් නෝන ගොතපු බොරුව

(ජේන් මුහුණ සඟවා ගනිමින්
පාපොච්චාරණය කරයි)

තැනක් ගන්න යයි හිතලා
බොරුවක් ගොතලා කීවම
ලැජ්ජා වෙන්නට වෙනවා
නැණවතුන්ගෙ ගැරහුම් මැද

ගුරුතුමාඃ-
දැන් රොසලින් උඹ කියපන්
කවුද ඕක උඹට කිව්වෙ?

රොසලින්ඃ-
ජොසී අක්ක ජොසී අක්ක
එයා තමයි මෙමට කිව්වෙ

ගුරුතුමාඃ-
බොරු කියන්නෙ ඇයි රොසලින්
ඒක පාපයක් කියලා
ඉගැන්නුවා මතක නැද්ද
සිහි කරපන් සිහි කරපන්
ඔප්පු කරල පෙන්නනන්නම්
කොහෙද ජොසී කොහෙද ජොසී

පිරිසඃ-
අන්න අන්න ජොසී අක්ක
වට පිට බල බල දුවනව

ගුරුතුමාඃ-
මෙහෙට වරෙන් මෙහෙට වරෙන්
කොහේද උඹ ඔය දුවන්නෙ
කියපන් දැන් වෙච්ච හදිය
කොහොමද රොසලින්ට කිව්වෙ?

ජොසීඃ-
අනේ අනේ මහත්තයෝ
වරදක් නම් කමා වෙන්න
මැරුණ කුරුල්ලෙක් ඇවිදින්
හුතයෙකුගෙ ආවේසෙන්
පිට්ටනියේ උඩ පැන පැන
නටන බවයි මං කිව්වේ

ගුරුතුමාඃ-
ඔය ටික මං කියල නැද්ද
අල්ලේ පැලවෙන මහ බොරු
කියන්න හොඳ නෑ රොසලින්
ඉගැන්නුවා මතක නැද්ද
සමාජයෙන් කොන් වෙන හැටි
ඇකිලී ඉන්නට වෙන හැටි

රොසලින්ඃ-
ඇත්ත තමයි වරද මගෙයි
ගුරුන් වදන් අත්දුටුවයි
මින් පසු නම් කිසිම දිනක
මම බොරුවක් නැහැ කියන්නෙ

ගුරුතුමාඃ-
ඇත්ත තවම අහලක නෑ
ඇත්ත තවම අහලක නෑ
කවුද ජොසී උඹට කිව්වෙ
කිව්ව කෙනා මට කියපන්

ජොසීඃ-
කමා වෙන්න මහත්තයෝ
මාගෙන් වරදක් වුනි නම්
සුද්දි ඇවිත් ලඟි ලඟියේ
මා හට මෙය කියා ගියා

ගුරුතුමාඃ-
ඇත්ත එකක් උඹ අනිකක්
කිව්ව නේද බොරුම ගොඩක්
ඔප්පු කරල පෙන්වන්නම්
සුද්දි හොයාගෙන වරෙල්ල

පිරිසඃ-
අන්න අන්න සුද්දි යනව
පැනල දුවන්නට හදනව
මෙහෙට වරෙන් මෙහෙට වරෙන්
උත්තර දීලා පලයන්

ගුරුතුමාඃ-
මෙහෙට වරෙන් මෙහෙට වරෙන්
මේකිද මේ සුද්දි කෙල්ල
කට රතු පොඩි පුංචි එකී
ඒ කාලේ මට මතකයි
අතේ තිබෙන කෝටු කෙටිය
දක්ක ගමන් අඬ අඬ විත්
බොරු කියන්නෙ නෑ මම නම්
කිය කිය වැඳගෙන ඉන්නව
මතක් කළේ උගන්නපුව
දැන් කියපන් වෙච්ච හරිය

සුද්දිඃ-
අනේ අනේ මහත්තයෝ
ගුරු ගුණයට ගරු කරනව
වරදක් මාගෙන් වී නම්
කමා කරනු මැන මා හට

වියලී ගිය කුරුල්ලෙකුගෙ
තටුවක් වෙත පණ ඇවිදින්
හුතයෙකුගෙ ආවේසෙන්
පිට්ටනියේ උඩ පැන පැන
දඟලනවා කියල තමයි
ජොසී අක්කට මම කීවේ

ගුරුතුමාඃ-
ජොසී කිව්ව බොරු සේරම
මේ මොහොතෙම ඔප්පු වුනා
බොරු කීමෙන් විශ්වාසය
තැබිය නොහැකි කෙනෙක් වුනා

ජොසීඃ-
ඇත්ත තමයි ගුරුන් වදන්
බොරුවෙ දෝසෙ මම දුටුවා
මින් පසු නම් කිසි දවසක
බොරු නොකියමි කට අටවා

ගුරුතුමාඃ-
සුද්දී දැන් උඹ කියපන්
කවුද ඕක උඹට කිව්වෙ
බොරුව නැතිව තතු කියපන්
ඇත්ත නැහැනෙ තවම ආවෙ

සුද්දිඃ-
සමා වෙන්න ගුරු සාමිනි
පුතා තමයි මට කීවේ
කිව්ව ගමන් දුවගෙන විත්
ජොසලින් අක්කට කීවේ

ගුරුතුමාඃ-
කිව්ව ගමන් මට පෙනෙනව
ඇත්ත සත්ත නැහැනෙ මෙතන
පොඩි එකාගෙ කටේ නැහැනෙ
බොරුව සමග ගොතපු වචන
දොස් කියන්නෙ නෑ කිසි විට
පොඩි එකාගෙ බසට ඉතින්
එක්ක එන්න පොඩි පුතාව
සත්ත හොයමු බසින් ඉතින

දේශකඃ-
පොඩි එකාද පිටි පස්සේ
මුල්ලක හැංගිල උන්නේ
ගුරු සීයේ මං මෙතනයි
කියමින් එතැනට එන්නේ

ගුරුතුමාඃ-
හිස අතගා පුංචි පුතුගෙ
පුත මට ඇත්තම කියන්න
ඔයා දැක්කෙ කොහොම දේද
දුටු විලසට මට කියන්න

දරුවාඃ-
අපි ඔක්කොම එකතු වෙලා
සෙල්ලම් කරනට කියලා
සෙල්ලම් පිට්ටනියෙ ඉඳල
දෙපිල බෙදිල බෝල ගැහුව

මමයි ඉතින් බෝලෙ යැව්වෙ
පිත්තෙ වැදුන බෝල පාර
සැර වැඩිවී උඩින් ගිහින්
කැලේ දෙසට වීසි වුනා

බෝලෙ ගන්න ගොස් බැලුවම
පිහාටුවක් දඟලනවා
ඒ පැත්තට මේ පැත්තට
වැනි වැනි එය නැගිටිනවා

භූතයෙකුගෙ වැඩක් කියල
බය හිතිලා ගෙදර දුවල
අම්ම එක්ක එය කිව්වා

මට ගෙට වී ඉන්න කියල
ඉක්මනටම කොහෙද ගිහින්
බයෙන් වාගෙ ගෙදර ආව
මටත් හුඟක් බය හිතුනා

ගුරුතුමාඃ-
ඇත්ත සත්ත කොහොම වුනත්
පුතා කීවෙ දැක්ක දෙයයි
සුද්දි අම්ම කට ගැහුවට
භූතයන්ට හරිම බයයි

ඇත්ත නැත්ත නොදැක්ක අය
භූතයන්ගෙ වැඩ කියලා
නොයෙක් දේට රැවටෙනවා
සොයා බලා තීරණයක්
නොගන්න එක ලොකුම වරද
පුතා එන්න මාත් එක්ක
බලනෙමු අපි ඇත්ත නැත්ත
අනිත් අයත් එන්නකො දැන්
භූතයාගෙ හැටි බලන්න

(සැවොම පිට්ටනියට යයි)
හොඳයි පුතා දැන් කියන්න
කොහෙද පිහාටුව නටන්නෙ?

දරුවාඃ-
අන්න අතන අන්න අතන
බයයි බයයි යන්ට බයයි

ගුරුතුමාඃ-
මං යන්නම් ඉස්සෙල්ලා
පුතා එන්න මගෙ පස්සෙන්

දරුවාඃ-
අර තියෙන්නෙ අර තියෙන්නෙ
දැන් නම් දඟලන්නෙ නැහැනෙ

ගුරුතුමාඃ-
බිමට එබිල හොඳට බලමු
මොකද මෙතන වුනේ කියල
හහ් හහ් හා.... හහ් හහ් හා....
බය වෙන්නට එපා පුතේ
පුංචි පුතා මෙහෙට එන්න
මේ බලන්න කුඹි හිලක්
පිහාටුවේ මුල බලන්න

කුරුල්ලෙකුට කපුටො කොටල
පිහාටුවක් බිමට වැටිල
පිහාටුවේ මුල් කොටසේ
පුංචි පහේ මස් පොඩියක්
කුඹි ගුලට ඒක ඇදන්
මස් ටික කඩ කඩ කනකොට
එහෙට වැනුනි මෙහෙට වැනුනි
නැගිටින ලෙස වගේ පෙනුනි
ඒක කාල දැන් ඉවරයි

පිහාටුවත් පැත්ත වැටිල
තේරුම් ගන්නට බැරුවම
ඕව තමයි භූත දොස
මීට පස්සෙ කිසි දවසක
බය වී දුවනට හොඳ නෑ
හේතුවකින් හැදෙන ඵලය
නොම දනහොත් මිස දිටුවෙක්
හේතුව හොයලා බැලුවම
දුටු මොහොතෙම සම්දිටු වෙයි
පුතුනි අපේ බුදු දහමත්
මුල් කාලෙදි ඔහොම තමයි
ලෝකෙ දකින ලකුණු තුනයි
අවබෝධෙට සිව් කරුණයි
මේ ටික විස්තර කරන්නෙ
සත්තිස් බෝ පැකි දහමයි (පැකි - පාක්‍ෂික)
මේ ටික දැන ගත්ත දාට
සම් දිටු වෙයි නිවන් දකියි

මේ තමයි එදා කුඩා ළමයින්ට රඟ දක්වා පෙන්වපු කතාව අද නිසඳැස් කවියට ගෙතුණු ආකාරය. මේ වගේ කතා ගෙතිල එනකොට ඊළඟට ගෙතිල එන්නෙ මොකක්ද කියල මම දන්නෙ නෑ. මමත් ඒ මොහොතේ ගෙතිල එනකොට ඒකෙ රසය විඳිනවා. නැත්නම් ඒකෙන් එන දහම් පණිවුඩය දැනගන්නවා.

(ඉතිරි කොටස ලබන කලාපයෙන්)

සටහන - නීතිඥ චන්දන සිරිවර්ධන

8 වෙනි පිටුවෙන්...

# එදා සක්විති රජවරුත් අද තණකොළ උලා කති

වැකියෙන් කියන පරිදි අටවැනි භවයක් නෑ. එනම් සෝවාන් ඵලයේ සිටින නිසා එතැන්සිට සකෘදාගාමී, අනාගාමී මාර්ගයේ ඉදිරියට යමින් කල්ප ගණන් සැරි සැරුවත් අරිහත්වයෙන් සසර ගමන කෙලවර කිරීමට තවත් භව හතක් පමණයි ඉතිරි වෙලා තියෙන්නේ. (මෙහි භව යනු අත්බැව් නොවෙයි)

මොකද නිවන් මාර්ගයේ යන ආර්යත්වයට පත් කෙනෙකුගේ පළමුවැනි භවය වන්නේ සෝවාන් මාර්ගයට පත්වීමයි, දෙවන භවය සෝවාන් ඵලයට පත්වීමයි, තුන්වන භවය සකෘදාගාමී මාර්ගයට පත්වීමයි, හතරවන හා පස්වන භවයන් සකෘදාගාමී ඵලය හා අනාගාමී මාර්ගයයි, හයවන හා හත්වන භවයන් අනාගාමී ඵලය හා අරිහත් මාර්ගයයි, අටවැන්න අරිහත්වයෙන් කෙළවර වෙනවා. සෝවාන් පුද්ගලයා සෝවාන් මාර්ගය පසුකර ඵලයේ සිටින නිසා ඔහුට දැනටමත් සිටින සෝවාන් ඵලය සමග තවත් ඇත්තේ භව හතයි. ඒ නිසයි සෝවාන් මාර්ගයට පත් බිම්බිසාර රජතුමා මියගිහින් දේවත්වයක් හා සමාන යස්ස (යසස් ඇති) අත්බැවක මහා විශාල ශරීරයක් ඇතිව ඉපදී මහ මගදී හමුවූ බුදු පියාණන් වහන්සේට, ''ස්වාමීනි, මම ජනවසභ'' යනුවෙන් තමන් හඳුන්වල දීල, තමා මිනිස් අත්බැව් හතකුත් දේව අත්බැව් හතකුත් සැරි සැරූ බවත්, මේ අතර සතර අපා දුකක් නොලද බවත්, යළි මිනිසත් බවක් ලබන්න මෙන්ම සකෘදාගාමී වීමට බලාපොරොත්තු වන බවත් කියා, මේ ගෞතම බුද්ධ සාසනයේම සෝතාපන්න වූ බව කියා ඇත්තේ. (දීඃනිඃ(2) 306 පිටුව <u>ජනවසභ සූත්‍රය</u>) එම නිසා මේ අවස්ථාවේදී ලෝක සම්මත අත්බැව් නම් දැනටමත් දාහතරක් ගෙවී ඇති බව පෙනී යනවා. ආර්යන්ගේ භව කියන්නේ ආර්ය මාර්ග හතරත්, ඵල හතරත් වන නිසයි ඉහත කියපු ආකාරයට භව හතක් වුණේ.

මෙහිදී කෙනෙකුට ප්‍රශ්නයක් ඇති වෙන්න පුළුවන් බිම්බිසාර රජතුමා ගෞතම බුදුන්ගෙන් බණ අහල සෝවාන් වෙලා මිනිස් අත්බවින් චුත වුනා නම්, උන්වහන්සේ ජීවමානව වැඩ විසූ ඒ කාලයේම එච්චර ඉක්මනට තවත් අත්බැව් දාහතරක් සැරි සැරුවේ කොහොමද කියල. සෝවාන් වුනත් බිම්බිසාර රජු රජකම් කරපු කාලයේ කරපු පව්වලට විපාක ලෙස සුගතිගතවත් අකල් මරණ කියන අවස්ථාවන් ඕන තරම් එන්න පුළුවන්. ඒ කියන්නේ කරපු කර්ම විපාකයන් ගෙවන්න මැරි මැරි යළි ඉපදෙනවා. එවැනි විපාක ඵලදීම් ලෙසයි මේ විදිහට කෙටි කාලයක් තුළ අත්බැව් දාහතරක් ලබා ඇත්තේ. උදාහරණ විදිහට යම් කිසි මිනිස් ගන්ධබ්බයෙක් මව් කුසකට ඇවිදින් බිහි වෙන්න පෙර කර්ම විපාක ඵලදීම් ලෙස ගබ්සා වෙලා එතැනින් චුත වී නැවතත් මව් කුසකට ඇවිත් එතැනිනුත් චුත වෙලා විපාක ගෙවෙන තුරු මේ විදිහට අකල් මරණවලට මුහුණ දෙන්න පුළුවන්. අපි අද ගබ්සා වෙනවයි කියල කියන්නෙත් මේ වගේ අවස්ථාවලට තමයි.

(ඉතිරි කොටස ලබන කලාපයෙන්.)

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :*

**වෑබඩ සිරිසේන**

# නියම භික්ෂුවක්, භික්ෂුණියක්, උපාසකයෙක්, උපාසිකාවක් පහළ වන ආකාරය පටිච්ච සමුප්පාද ධර්මය ඇසුරින්

උත්තරීතර ශ්‍රී සද්ධර්මය බබළමින් පවතින කාලයක නිවන් මග වඩන්න ලැබීම කෙතරම් භාග්‍යයක්ද? දුර්ලභ වූ මිනිසත් බවත් සමග ආයු, සැප, බල, වර්ණ, ප්‍රඥා කියන පස් ආකාර වූ සම්පත්ද උරුමයෙන්ම ලබාගෙන උතුම් වූ නිවන් සාක්ශාත් කරගැනීමට මග වඩන්නා වූ භික්ෂු, භික්ෂුණී, උපාසක, උපාසිකා කියන සිව් පිරිස පිළිබඳව අපි දන්නවා.



අපිත් මේ සිව් පිරිසට එක් වෙලා මේ උතුම් සම්බුද්ධ ශාසනයේ ධර්මය මතු කරගෙන ඊට අනුකූලව අපේ ප්‍රතිපත්ති හැඩ ගස්සවා ගෙන ඒ උත්තරීතර ශ්‍රී සද්ධර්මයෙන් ලැබිය යුතු උතුම් මගඵල අවබෝධය ලබා ගන්න හැකි තරම් උත්සාහ ගත යුතුයි. මේ ජාති හතරට පත්වීමට එම වේශයන්ගෙන් හෙවත් වේශ ධාරීව හිටියට බෑ. ඒකටත් පටිච්ච සමුප්පාද ධර්ම න්‍යායක් තියෙනවා. නියම භික්ෂුවක්, භික්ෂුණියක්, උපාසකයෙක්, උපාසිකාවක් පහළ වන ආකාරය, පටිච්චසමුප්පාද ධර්මය ඇසුරින් විග්‍රහ කර ගනිමු.

මුලින්ම පටිච්ච සමුප්පාදය කියන වචනයේ අර්ථය මතක් කර ගන්නවා නම්, ඒ පදය හැදිල තියෙන්නේ පටි+ඉච්ච+සම+උප්පාද කියන වචන කීපයක සම්බන්ධතාවයෙනුයි. **පටි කියන්නේ බැඳීම, ඉච්ච කියන්නේ කැමැත්ත. කැමැත්තට බැඳුනේ යමකටද එයින් හට ගන්න දේ (උපත) ඊට සමානයි.** (මේ සිංහල ලිඛිත භාෂාවේ වේදයට අනුව ගොඩනගන පද බෙදීමේ රීතිය නම් නෙවෙයි. බුදුපියාණන් වහන්සේ අග්ගඤ්ඤ සූත්‍රයේ පෙන්වා ඇති ක්‍රමවේදයයි) **ද්වේෂයට කැමැත්තෙන් බැඳුන නම්, උපත ද්වේෂ සහගතයි,** ඊට අනුකූලයි. රාගයට කැමැත්තෙන් බැඳුන නම් ඒකෙන් හට ගන්න යමක් ඇත්නම් ඒක රාග සහගතයි. මෝහයට බැඳිල කටයුතු කළා නම් එයින් ලැබෙන්නා වූ ප්‍රතිපලය මෝහ සහගතයි. මේ ආකාරයෙන් ආරම්භ කළේ යම් යම් ස්වභාවයෙන් නම් එහි ප්‍රතිඵලය ඊට අනුකූලයි. එහෙනම් හේතුවක් නිසාමයි යම් දෙයක් ලෝකයේ හට ගන්නේ. අන්න ඒ උතුම් න්‍යාය ධර්මය තමයි මේ පටිච්ච සමුප්පාද රටාවෙන් මේ ලෝක පැවැත්ම පෙන්වන්න, සත්ත්ව පැවැත්ම හැදෙන ආකාරය පෙන්වන්න බුදු පියාණන් වහන්සේ දේශනා කර වදාළේ. ඒ අනුව නිවන් මග වඩන්නා වූ භික්ෂු, භික්ෂුණී, උපාසක, උපාසිකා යන ජාති පහළ වන්නේ



කොහොමද කියල පැහැදිලි කර ගනිමු.

<u>විභංග ප්‍රකරණයේ පච්චයාකාර විභංගයේ</u> ඇති ආකාරයට ''කුසල මූල පච්චයා සංඛාරා - සංඛාර පච්චයා විඤ්ඤාණං - විඤ්ඤාණ පච්චයා නාම රූපං - නාම රූප පච්චයා සළායතනං - සළායතන පච්චයා ඵස්සෝ - ඵස්ස පච්චයා වේදනා - වේදනා පච්චයා පසාදෝ - පසාද පච්චයා අධිමොක්ඛෝ - අධිමොක්ඛ පච්චයා භවෝ - භව පච්චයා ජාති - ජාති පච්චයා ජරා මරණං, ඒව මේ තේසං ධම්මානං සමුදයෝ හෝති'' යන පටිච්ච සමුප්පාද ධර්ම චක්‍රයට අනුවයි මේ ආර්ය ජාති හතර පහළ වන්නේ.

මෙහි ආරම්භය අවිද්‍යා ප්‍රත්‍යයෙන් නෙවෙයි කුසල මූල හෙවත් අලෝභ, අද්වේශ, අමෝහ ප්‍රත්‍යයෙනුයි හටගන්නේ. ''වේදනා පච්චයා තණ්හා'' යැයි නොයෙදී ''වේදනා පච්චයා පසාදෝ'' යනුවෙන් තණ්හාව වෙනුවට ප්‍රසාදය උපදින බව පෙන්වා තියෙනවා. ''ඒව මේතස්ස කේවලස්ස දුක්ඛක්ඛන්ධස්ස සමුදයෝ හෝති'' යනුවෙන් මෙසේ සියලු දුක් රැස පහළ වේ වෙනුවට ''ඒව මේ තේසං ධම්මානං සමුදයෝ හෝති'' යනුවෙන් ''මෙසේ ධර්මයන්ගේ පහළ වීම වේ'' කියා පෙන්වා තියෙනවා. ඒ නිසා මේ පටිච්ච සමුප්පාදය දුක හට ගන්වන, මතු දුකට හේතු වන එකක් නෙවෙයි, ආර්ය භාවයට හේතු වන්නක් බව පේනවා. ඒ අනුව කුසල මූල චක්‍රයට අනුව කුසල මූල ප්‍රත්‍යයෙන් හට ගන්නා සංඛාර නිවන් මග වඩන්න අවශ්‍ය පසුතලයට හේතු වන අතර අවිද්‍යා ප්‍රත්‍යයෙන් හට ගන්නා සංඛාර සසර ගමනට හේතු වෙනවා. ''අලෝභෝ කුසල මූලං, අදෝසෝ කුසල මූලං, අමෝහෝ කුසල මූලං'' යන දේශනාවට අනුව අලෝභය, අද්වේශය, අමෝහය කුසල මූලය යැයි පෙන්වනවා. හොඳින් තේරුම් ගන්න ඕන මෙතනදී අලෝභය, අද්වේශය, අමෝහය යයි අදහස් වන්නේ ලෝකෝත්තර මාර්ගයට නැඹුරු වුණු අලෝභය, අද්වේෂය, අමෝහය පිළිබඳවයි. ලෞකික වන්නා වූ, පැවැත්මට හේතු වන අලෝභය අද්වේෂය, අමෝහයක්ද පවතිනවා. ඒ අනුව **නිවන් මග වඩන කෙනාගේ අලෝභය, අද්වේෂය, අමෝහය එකක්. අවිද්‍යාව දුරු නොකර සසර පැවැත්ම ගොඩනගාගෙන යන කෙනාගේ අලෝභය, අද්වේෂය, අමෝහය තව එකක්.** මේ දෙයාකාර වූ අලෝභය, අද්වේෂය, අමෝහය ගොඩනැගෙන්නේ කොහොමද කියල හොඳින් තේරුම් ගන්න ඕන.

පළමුව ලෞකික වන්නා වූ, පැවැත්මට හේතු වන අලෝභය, අද්වේශය, අමෝහය මොකක්ද කියල පැහැදිලි කර ගනිමු.

**ලෞකික අලෝභය...**

ලෝකයේ සුගතියට පත් වෙන්න, දෙව්ලොව, බඹ ලොව උපදින්න හේතු වන ධර්මය විතරක් අහන්න ලැබෙන අබුද්ධෝත්පාද කාලවල සිටින අයත්, ඒ වගේම මේ කාලය වන විට බුද්ධ ධර්මයට අනුකූලව තේරුම් නොගත්ත නිච්චයි, සැපයි, ආත්මයි යන දෘෂ්ඨියෙන් පෘතජ්ජන

ගති ලක්ෂණයෙන් ලෝකය ගැන හිතන අයත්, ඒ ලෞකික ධර්මය අහලා පැහැදිලා මතු සුගතියෙහි, දෙව්ලොවෙහි, බඹ ලොවෙහි උපදින්න, මතු හොඳ තත්වයට පත් වෙලා හොඳ කෙනෙක් වෙන්න, සැප සම්පත් ඇතුව උපදින්න පැතුමක්, බලාපොරොත්තුවක් ඇති කර ගන්නවා. මේ ආදී වශයෙන් **පැවැත්මේ බලාපොරොත්තු අත් හරින්නේ නැතුව, තමා සතුව පවතින දේ තමා සතුයි කියල ලෝභ කමින් තියාගන්නේ නැතුව දන් දීම් ආදී කටයුතු සිදු කරනවා, අන්න ඒ නිසා ඔවුන්ටත් අලෝභී බවක් හට ගන්නවා. මේ අලෝභය ලෞකිකයි, කෙලෙස් සහිතයි, සසර ගමනට හේතු වෙනවා. කාම රාග අනුශය දුරු කරන්න හේතු වෙන්නෙ නෑ.**

**ලෞකික අද්වේෂය...**

යම් පුද්ගලයින් සමගියෙන් සමාදානයෙන් ජීවත් වෙනවා. ලෝක සත්වයින්ට යහපත් ගුණ සිතින් සලකමින්, මෙත් සිතක් පතුරවමින් වෛර, ක්‍රෝධ කරන්නේ නැතුව මිත්‍ර ධර්මයන් පතුරවමින් ජීවත් වෙනවා. එනම් ලෞකික වන්නා වූ අද්වේෂයෙන් ජීවත් වෙනවා. අන්න ඒ අද්වේෂයත් බඹ ලොවක, සුගතියක උපදින්න හේතු කාරක වන දෙයක් නිසා ඒ අදහසින්, ඒ බලාපොරොත්තුවෙන් යුක්තව අද්වේෂයෙන් ජීවත් වෙනවා. **මේ අද්වේෂය ලෞකිකයි, කෙලෙස් සහිතයි, සසර ගමනට හේතු වෙනවා. පටිඝ අනුශය දුරු වෙන්න හේතු වෙන්නෙ නෑ.** බුදුපියාණන් වහන්සේ මජ්: නි: (2), 452 පිටුවේ එන <u>මඛාදේව සූත්‍රයේ</u> අවසානයටත් ඒ බව පෙන්වා තියෙනවා.

**ලෞකික අමෝහය...**

''නත්ථි දානං, නත්ථි යිත්තං, නත්ථි හුතං, නත්ථි සුඛට දුක්ඛානං කම්මානං ඵලං විපාකං, නත්ථි මාතා, නත්ථි පිතා, නත්ථි ඉමං ලෝකෝ, නත්ථි පරෝ ලෝකෝ...'' ආදී වශයෙන් දස වස්තුක මිත්‍යා දෘෂ්ඨිය යැයි කියා තිබෙන පාපයට ගෝචර වන පැත්ත අත් හැරලා එහි අනිත් පැත්ත වන ''අත්ථි දානං, අත්ථි හුතං, අත්ථි සුඛට දුක්ඛානං කම්මානං පලං විපාකං...'' ආදී වශයෙන් දානයේ පින් **තියෙනවා, පූජාවල යහපතක් තියෙනවා, පිනක් තියෙනවා, මව් පිය කියල දෙන්නෙක් විශේෂයෙන් ඉන්නවා, පින් පව් කියල දෙයක් තියෙනවා, මෙලොව පරලොව කියල දෙයක් තියෙනවා...** මේ ආදී වශයෙන් විශ්වාසයෙන් යුතුව ඒවා පිළි අරගෙන යහපත් ජීවිතයක් ගත කරන්නෙමියි සුගතියක් බලාපොරොත්තු වන ගති ලක්ෂණයෙන් යුතුව සිටිනවාට කියනවා ලෞකික වන්නා වූ අමෝහය කියල. **මේ අමෝහය ලෞකිකයි, කෙලෙස් සහිතයි, සසර ගමනට හේතු වෙනවා, අවිද්‍යා අනුශය බිඳෙන්නෙ නෑ.**

මෙන්න මේ තත්ත්වයට පත් වෙලා යම් කෙනෙක් ඉන්නව නම්, අලෝභයයි, අද්වේෂයයි, අමෝහයයි තිබුනට පැවැත්මේ බලාපොරොත්තු නැති වෙලා නැති හින්දා මේ අලෝභය, අද්වේෂය, අමෝහය ''අවිද්‍යා පච්චයා පුඤ්ඤාභි සංඛාරා'' කියන තැනටයි අහු වෙන්නේ. **මෙතනදී හොඳින් තේරුම් ගන්න ඕන, අවිද්‍යාව කියන්නේ ලෝභයයි, ද්වේෂයයි, මෝහයයි කියල අරගෙන මේ දේශනාවට යොදල බැලුවොත් වැරදි අර්ථයක් තමයි එන්නේ.** විභංග ප්‍රකරණයේ අවිද්‍යාව විස්තර කරන කොට කාරණා 23 ක් විග්‍රහ කරලයි අවිද්‍යාව කියන්නේ මොකක්ද කියල පෙන්වන්නේ. එහි අවිද්‍යාව මෝහයට සීමා කර නැති අතර කරුණු 23 ක සම්පිණ්ඩනයක් ලෙසයි විස්තර කරල තියෙන්නේ. එහි විස්තර වන ආකාරයට අවිද්‍යා යන කාරණා 23ක එකතුව එකක් කොට ගත්තම ඒ අවිද්‍යාව භව මූලයක්.

අවිද්‍යාවේ 23 ආකාරය මෙසේයි. සිව් සස් (චතුරාර්ය සත්‍යය) පිළිබඳව 1. නොදැනීමෙක් 2. නොදැකීමෙක් 3. අනවබෝධයෙක් (අවබෝධයක් නැති කම) 4. අනනුබෝධයෙක් (අවබෝධය කරා ආසන්න වීමක් නැති බව) 5. අසම්බෝධයෙක් (සම්බෝධියට පත් නොවීම හෙවත් චතුරාර්ය සත්‍යය සමග සම්බන්ධ නොවීම) 6. අප්පටිවේදයෙක් 7. මනා සේ නොගැනීමෙක් 8. හාත් පසින් නොබැස ගැනීමෙක් 9. සමව නොබැලීමෙක් 10. ප්‍රත්‍යවේක්ෂා නොකිරීමෙක් 11. දුම්මේධ (ගඟක තියෙන කහට මැලියම් බැඳීම වගේ අපවිත්‍ර ස්වභාවයක්) බවෙක් 12. බාල බවෙක් 13. අසම්‍යක් ඥානයෙක් 14. මෝහයෙක් 15. ප්‍රමෝහයෙක් (මෝහයට පැමිණීමේ ආරම්භය) 16. සම්මෝහයෙක් (මෝහය සමග බැඳීම) 17. අවිද්‍යාවෙක් 18. අවිද්‍යා ඕඝයෙක් (මහා ගංගා වගේ ගලන ස්වභාවය) 19. අවිද්‍යා යෝගයෙක් (අවිද්‍යාව සමග එකතු වීමක්) 20. අවිද්‍යා අනුශයෙක් 21. අවිද්‍යා පරියුට්ඨානයෙක් (අවිද්‍යාවේ නැගී සිටීමක්) 22. අවිද්‍යා පරිඝයෙක් (ඒකම නැගිලා ඒකටම ගැටෙන වෙලී හිටින තත්ත්වයට පත්වීම) 23. මෝහ සංඛ්‍යාත අකුසල මූලයෙක් වේද මේ එම විසිතුන් ආකාර අවිද්‍යාවයි.

මෙහි 1 සිට 10 දක්වා අවිද්‍යා කොටස සියලු භව මූල වෙනවා. ඒ කොටස සමග කොටස් 23 කට පාප භව මූලද වෙනවා. එමනිසා **සියලු අවිද්‍යාව පව් කියා ගැනීම යෝග්‍ය නෑ.** මෙයින් ලෝභ, ද්වේශ, මෝහයෝ අවිද්‍යා කොටස් 23 කින් යුක්තයි. ලෞකික බලාපොරොත්තුව ප්‍රධාන කොට ඇති අලෝභ, අද්වේශ, අමෝහයෝ 1 සිට 10 දක්වා අවිද්‍යා කොටසට අයිතියි. ලෞකික වුවත් පින් සිතක ලෝභ, ද්වේශ, මෝහ අකුසල චෛතසික සම්බන්ධ වෙන්නෙ නෑ. 1 සිට 10 දක්වා සුගති පුණ්‍ය භවගාමී කොටසට ලෞකික බලාපොරොත්තු ඇති අලෝභ, අද්වේශ, අමෝහ කොටස අයිති වෙනවා. ආනෙඤ්ජාභි කොටසත් අයිති වෙනවා. අවිද්‍යාව මුල් කර උපදින මේ සියලු සංඛාරවලට පුඤ්ඤාභි සංඛාර, අපුඤ්ඤාභි සංඛාර, ආනෙඤ්ජාභි සංඛාර යන මේ සංඛාර අයිති වෙනවා. ඒ නිසා කුසල මූල පච්චයා සංඛාරා කියන ලෞකික අලෝභ, අද්වේශ, අමෝහ කොටසත් අකුසල මූල පච්චයා සංඛාරා කියන ලෝභ, ද්වේශ, මෝහ සංඛාර කොටසත් අවිජ්ජා පච්චයා සංඛාර නම් වෙනවා.

සමහරු **මේ දහම් කරුණු යටපත්වීම නිසා, දස පුණ්‍ය ක්‍රියාවන් දුකට, පැවැත්මට හේතු වේ කියලත්, එයත් අවිද්‍යා ප්‍රත්‍යයෙන් වන සංඛාර වැඩ පිළිවෙලක් කියලත් වරදවා තේරුම් ගෙන පිං නොකර ඉන්නවා.** අවිජ්ජා පංච්චයා සංඛාරා කියන තැන සංඛාරා යන්නට අර්ථ දෙන කොට ''පුඤ්ඤාභි සංඛාරා, අපුඤ්ඤාභි සංඛාරා, ආනෙඤ්ජාභි සංඛාරා අයං වුච්චති අවිජ්ජා පච්චයා සංඛාරා'' යනුවෙන් අවිද්‍යා ප්‍රත්‍යයෙන් හටගන්න පුණ්‍ය සංඛාර, අපුණ්‍ය සංඛාර, ආනෙඤ්ජාභි සංඛාර (අරූප සංඛාර) යැයි කොටස් 3ක් පෙන්වා තියෙනවා. මේ ආර්ය භාවය සිදු කරන්නට හේතු වන පිං හෝ ආනෙඤ්ජාභි සංඛාර නෙවෙයි. ආර්ය වූ කුසල මූල සංඛාර නම් මේවා නෙවෙයි. මේවා භව ගමනට හේතු කාරකයි. ලෝක සම්මත ලෞකික පැවැත්මකට හේතු වන අලෝභ, අදෝෂ, අමෝහ නම් මේ අවිද්‍යා ප්‍රත්‍ය වන සංඛාර වලට අයිතියි. ආර්ය මාර්ගය වඩන අයගේ අලෝභ, අදෝෂ, අමෝහ මීට හාත්පසින්ම වෙනස්. ලෝකෝත්තර වන්නා වූ අපචයගාමී වූ (ලෝකයේ නොවැඩෙන පැත්තට හෙවත් නිවන කරා ගමන් කරන පැත්තට) අලෝභ, අද්වේෂ, අමෝහ යන කුසල මූල තුලින් හට ගන්නා වූ ප්‍රතිඵලය ආර්ය කුසලයයි. මේ කියන්නා වූ උතුම් වූ ආර්ය කුසලය මොකක්ද කියල ''කෝසානි විචෙය්‍ය කේවලානි දිබ්බං මානුසබංච බ්‍රහ්ම කෝසං, සබ්බ කෝස මූල බන්ධනා පමුත්තෝ කුසලෝතාදි පවුත්තෝ තතත්ථා'' යන දේශනාවෙන් පැහැදිලි කරගන්න පුළුවන්. ඒ දේශනාවෙන් ☞

කියවෙන ආකාරයට දිව්‍ය කෝෂ, මනුස්ස කෝෂ, බ්‍රහ්ම කෝෂ සකලවිධ කර්ම කෝෂ පිළිබඳව ඒවායේ උපතට හේතු වන්නා වූ අවිද්‍යා තෘෂ්ණාවන්ගේ පහ කිරීමක් ඇත්ද ඒකට කුසල් කියල කියනවා. මේ තමයි ආර්ය කුසලය.

තව ක්‍රමයකින් කියනවා නම් විවේක නිශිත, විරාග නිශිත, නිරෝධ නිශිත, වොස්සග්ග පරිනාමී යන කරුණු හතරෙන් යුක්ත සම්මා දිට්ඨි, සම්මා සංකප්ප, සම්මා වාචා, සම්මා කම්මන්ත.... සම්මා සමාධි යන මග වඩන ආර්ය ධ්‍යානවලට ගැලපෙන සිතිවිලි, ක්‍රියා, කතා ආදී කටයුතු නිවනටයි. මෙසේ කරන දස පුණ්‍ය ක්‍රියා ඇතුළු සමථ විදර්ශනා ක්‍රියා කලාප නිවනට හේතු වෙනවා.

දහම් නුවණ තීක්ෂණ කරන්නට මනාසේ සත්‍යයම සිහි කළ යුතුයි. ඒ සඳහා ආයුෂ, වර්ණ, සැප, බල, පටිභාන නුවණ මහත් උපනිශ්‍රයකියි දැනගෙන ඒවායේ අවශ්‍යතාවයටත්, ඒ මග වඩන අයට ඒ උපනිශ්‍රය ලැබීමටත් අවශ්‍ය බව සිතා දන් දෙනවා, සිල් රකිනවා, භාවනා කරනවා, දස පුණ්‍ය ක්‍රියාවන් කරනවා. අලෝභීව, අද්වේශීව, අමෝහීව කරන මේ කටයුතු ආර්යන්ගේ සහ ආර්ය මාර්ගයට ආධාරක බලාපොරොත්තු වන අයගේ කුසල මූල ප්‍රත්‍ය වූ සංඛාර වෙනවා. ඒවා ආචයගාමී (ලෝකය හෙවත් සසර පැත්තට ගමන් කිරීම) හෙවත් සසර වැඩීමට නොව අපචයගාමී හෙවත් සසරින් නික්ම යාමට උපනිශ්‍රය වෙනවා.



කුසල වශයෙන් පෙන්වපු අලෝභය, අද්වේශය, අමෝහය හට ගන්නේ කොහොමද කියල බලමු.

මේ ලෝකයේ පැවැත්මට අයිති වන ලෝකය යයි සම්බන්ධ යමක් ඇද්ද ඇස, කන, නාසය, දිව, ශරීරය, මන කියන ටිකයි රූප, ශබ්ද, ගන්ධ, රස, පොට්ඨබ්බ, ධර්ම කියන ටිකයි, ඔය ටිකට අහුවෙන යම් තාක් දේ ඇත්ද, ගෝචර වන දේ ඇද්ද ලෝකයයි කියල පනවන්නේ ඔන්න ඔය ටික. එහෙනම් ඔය ටික පිළිබඳව අනිච්ච, දුක්ඛ, අනත්ත වශයෙන් ධර්මානුකූලව දැක්ක කෙනෙකුට මේවා තුළ අල්ලගන්න වටින එකක්වත් නෑ නේද කියලා ධර්මාවබෝධයක් ලැබෙනවා. මෙන්න මේ ධර්මාවබෝධයේදී, එබඳු ලෝකයේ ඇලීමෙන් බැඳීමෙන් වෙන්වුනාම නේද සැනසුම, අල්ල ගත්තොත් දුක් කරදර එතන නේද කියන මේ ධර්ම ඥානයට පත් වෙලා යම් කෙනෙක් ඒ හේතුවෙන් ලෝකය හැඳීමෙන් අහක් වෙනවා, අත් හැරීමෙන් මිදීමෙන් නොඇලී යන තත්වයට පත් වෙනවා. **හටගත් සියල්ල විපරිණාමයට පත්ව වැනසී යන ලෝකයේ මොනවා සුබ යැයි අල්ලන්නද,** ඒවා වැඩක් නැතැයි ධර්මාවබෝධය හේතුවෙන් අත් හැරීමක් වේද ඒක ආර්ය අලෝභයයි. යම් ඡන්දරාගයක අතහැරී යාමක් ඇත්ද එයම ආර්ය විනයේ න්‍යාය බව මජ්: නි: (3) 496 පිටුවේ එන ධාතු විභංග සූත්‍රයේ පෙන්වා තියෙනවා.

**මම මොනව ලබා ගන්න ඇලෙන්නද? ගැටෙන්නද? කම්පා වෙන්නද? ලෝක සත්ත්වයා සමග තරඟ කරන්නද? මේ මුලා සහගත හිස් ලෝකයේ මොන වටිනා දෙයක්ද තියෙන්නේ තරඟ කරන්න? මම ලැබෙන හැටියට ජීවත් වෙනවා, මට මේ ලෝකෙට තරඟ කරලා පොර කාලා බදාගෙන ගොඩගහගෙන කරන්න දෙයක් නෑ, ඒ හින්දා මට ගැටෙන්න හේතුවක් නෑ කියලා** ධර්මානුකූලව දැකලා මේ ආකාරයෙන් ද්වේෂයෙන් ඉවත් වීමක් වෙනවා. මේ තමයි ආර්ය අද්වේෂය.

ඒ වගේම ලෝකය නිච්චයි, සුඛයි, අත්තයි කියන්නා වූ යම්කිසි මුලාවක් ඇත් නම් ඒකෙ හරයක් නෑ, අනිච්චයි, දුක්ඛයි, අනත්තයි කියන සත්‍යතාවය මම අවබෝධ කරල තියෙන්නේ, එහෙනම් එබඳු වන්නා වූ දෙයක් තුල මට තව ප්‍රියයි මනාපයි කියල අල්ලන්න වටිනා දෙයක් නෑ නේද කියල යම් අවිද්‍යාවේ දෘෂ්ඨියක් ගැලවිලා යනවා. **මේ ලෝකේ මායා දර්ශනයන්ගෙන් ආස්වාද මායාවන්ගෙන් වැහිච්ච දුකකට ලෝක සත්ත්වයා පත් වෙනවා, ඒ ආස්වාද මායාව ඇමක් වගේ, ඇමක් දාලා බිලී බානවා වගේ දුකට පත් වෙනවා. මේ තමයි ලෝක සත්ත්වයා ලෝකෙ අල්ලන්න ගිහිල්ලා සිද්ධ වෙන දේ.** එහෙනම් මෙබඳු වන්නා වූ ලෝකය තුළ මොන සාරත්වයක්ද කියලා අසාරත්වය දැක්කම අමෝහය හට ගන්නවා. ලෝකයට මුලා වෙන්නෙ නෑ. මේ තමයි ආර්ය අමෝහය. එහෙනම් කුසල මූලය කියන්නේ මේ විස්තර කරපු ආර්ය අලෝභය, ආර්ය අද්වේශය, ආර්ය අමෝහයටයි. කුසල මූල චක්‍රයට අනුව, කුසල මූල ප්‍රත්‍යයෙන් හට ගන්නා සංඛාර නිවන් මග වඩන්න අවශ්‍ය පසුතලයට හේතු වන ආකාරය විස්තර සහිතව පැහැදිලි කර ගනිමු.

''ඒතං සංතං ඒතං පණීතං යදිදං සබ්බ සංඛාර සමතෝ සබ්බූපධි පටිනිස්සග්ගෝ තණ්හක්ඛයෝ විරාගෝ නිරොධෝ නිබ්බානන්තී'' එයම ශාන්තයි, එයම ප්‍රණීතයි, කුමක්ද? ''යදිදං සබ්බ සංඛාරා'' මේ සියළු සංඛාරයන්ගේ සමථයක් ඇත්ද, ''සබ්බූපධි පටිනිස්සග්ගෝ'', සියලු උපධින්ගේ බැඳීම් වල පිළි නොගැනීමක් ඇත්ද, ''තණ්හක්ඛයෝ'' තණ්හාවේ ක්ෂය කිරීමක් ඇත්ද, ''විරාගෝ'' විරාගික බවක් ඇත්ද, රාගයෙන් වෙන් වීමක් ඇත්ද, ''නිරෝධෝ'' සංඛාරයන්හි සැරිසැරීමෙන් නැවතුන ස්වභාවයක් ඇත්ද, ''නිබ්බානන්තී'' සසර බැඳීම්වලින් නික්මෙන්නා වූ නිවනක් ඇත්ද, මෙන්න මේක ශාන්තයි ප්‍රණීතයි කියල දැක්කට පස්සේ නිවන ශාන්ත වශයෙන්, ප්‍රණීත වශයෙන් මෙනෙහි කිරීමත් ඒ වගේම ලෝකයේ ආදීනව අනිච්ච, දුක්ඛ, අනත්ත වශයෙන් මෙනෙහි කිරීමත් කියන මේ කාරණා දෙක සිද්ධ කරනවා නම්, තමන්ගේ සිත, කය, වචනය ඒ අනුව ක්‍රියාකරනවා නම් මේකට කියනවා කුසල මූල පච්චයෙන් සංඛාර ගොඩනගනවයි කියල. නිවන් මග වැඩීම සඳහා මේ කියන්නා වූ ආර්ය සංඛාර වඩා ගත යුතුයි. එය නිවන් දකින්න උපනිශ්‍රය වන ආර්ය සංඛාරයක් වෙනවා.

''සංඛාර පච්චයා විඤ්ඤාණං'' අනුව සංඛාර ප්‍රත්‍යයෙන් හට ගන්නවා විඤ්ඤාණයක්. ඒ සංඛාර, ආර්ය සංඛාර නම් ඒ ප්‍රත්‍යයෙන් හට ගන්නා වූ විඤ්ඤාණය කුසල විඤ්ඤාණයක් වෙනවා. ඒක ආර්ය ධර්මයට ගෙනියන්නා වූ විඤ්ඤාණයක් මිසක් රාග හෝ පාප විඤ්ඤාණයක් නෙවෙයි. එහෙනම් ලෝකෝත්තර බවට පත් කිරීමට මූලාධාර

වන කුසල විඤ්ඤාණයක් පහළ වෙනවා ඔය විදියට.

''විඤ්ඤාණ පච්චයා නාම රූපං'' ඒකෙ බැස ගන්නෙ මොනවද? ආර්ය ධර්මයට අනුකුල දෙයක්ම බැස ගන්නවා මිසක් බාහිර ලෝභ, ද්වේශ මෝහ සහගත ලෝක ආස්වාද දෙයක් බැස ගන්නෙ නෑ.

''නාම රූප පච්චයා සලායතනං'' ඇස, කන, දිව, නාසය, ශරීරය ආයතන වන්නේ මොනවටද? අන්න ඒ කියන්නා වූ ආර්ය ධර්මයට අනුකූල දේ කරන්නයි.

''සලායතන පච්චයා ඵස්සෝ'' ආර්ය ධර්මයට අනුකුල ශාන්තියක්, ආර්ය ධ්‍යාන මගඵල ආදී ශාන්තියක් ඇත්ද ඒකයි ස්පර්ශ කරන්නේ.

''ඵස්ස පච්චයා වේදනා'' ඒ කියන්නා වූ නිරාමිස සුවය මුල් කරගත්ත ඒ සුඛ විහරණයෙන් නිරාමිස සුඛ වින්දනයයි ඒ වැටහෙන්නේ.

''වේදනා පච්චයා තණ්හා'' යෙදෙන්නෙ නෑ. එහෙනම් මොකක්ද යෙදෙන්නේ? බැඳෙන්න දෙයක් ඒකෙ නෑ කියල දැකල ඉවරයි. ''වේදනා පච්චයා පසාදෝ'' පසාදය නැගෙනවා, චිත්ත ප්‍රසාදය නැගෙනවා. පස්සද්දිය නැගිල එනවා.

''පසාද පච්චයා අධිමොක්ඛෝ'' ඒ සත්‍යතාවය, ප්‍රසාදය මුදුන්පත් වෙනවා. ඒ බවට ඔහු පත් වෙනවා.

''අධිමොක්ඛ පච්චියා භවෝ'' කියන ආර්ය භවකට පත් වෙනවා. මොකක්ද භව? එක්කො භික්ෂු භව, භික්ෂුණී භව, එහෙම නැත්නම් උපාසක භව, උපාසිකා භව. නියම භික්ෂුවක්, භික්ෂුණියක්, උපාසකයෙක්, උපාසිකාවක් බිහි කරන්නේ මේ ක්‍රමය තුළින්. එහෙනම් මෙලොව පහළ වෙන්නා වූ ජාති තුලින් උත්තම ජාති හතරෙන් කෙනෙක් බවට පත් වෙනවා, ඒ පසුතලයේ හිටපු කෙනාට යථාවබෝධය ලැබෙනවා, ඒ පුද්ගලයා නිවන් දැක ගන්නවා. එහෙනම් භව පච්චයා ජාති කියල එතනින් පහළ වන ජාතිය නිසා ''ජාති පච්චයා ජරා මරණං'' කියල **භික්ෂුව වුනත්, භික්ෂුණිය වුනත්, උපාසක වුනත්, උපාසිකාව වුනත් ජරාවට, මරණයට පත් වෙනවා, වළක්වන්න බෑ.** නමුත් එක දෙයක් සිද්ධ වෙනවා ''ඒව මේ තස්ස කේවලස්ස දුක්ඛක්ඛන්ධස්ස සමුදයෝහෝතී'' කියන එකට වැටෙන්නෙ නෑ. ඊට හේතුව මේ හතර ජාතියම ආර්ය ගුණ හතරක්. ගත හිත ආධාර වුනේ ඒ ගුණ හතර පහළ කරගන්නයි. එම නිසා **මේ ගුණ ජාති හතර දුක් කන්දරාවට වැටිලා සසර ගමනට හේතු වෙන්නෙ නෑ.** ධර්මයෝ පහළ කරල දුන්නා. චතුරාර්ය සත්‍යය අවබෝධ කරල දුන්නා. ඒව මේ තේසං ධම්මානං සමුදයෝ හෝතී කියලා, ඔය පටිච්ච සමුප්පාදය කෙළවර වෙනවා.

එහෙනම් නිවන් දකින්න අපිට වඩන්න තියෙන පටිච්ච සමුප්පාදයක් තියෙනවා. නිකන් හිටියට නිවන් දකින්න බෑ. සත්‍යාවබෝධය ලබා ගන්න, ලෝකයේ යථාර්ථය දැකලා ඊට අනුකූලව අනිච්ච, දුක්ඛ, අනත්ත වශයෙන් තේරුම් අරගෙන ඊට අනුව හිතල කියල කරල එයින් නැගෙන සත්‍යයට අනුව සිත, කය වචනය හසුරවලා ඒ ධර්ම මාර්ගයට අනුව කටයුතු කරගෙන යනකොට ඒකාන්තයෙන් නියම භික්ෂුවක්, භික්ෂුණියක්, උපාසකයෙක්, උපාසිකාවක් කියන නියම සිව් පිරිසේ උත්තමයන් බවට පත් වෙලා චතුරාර්ය සත්‍ය ධර්මය අවබෝධ කරගෙන මාර්ගඵල අවබෝධය සිද්ධ කරගෙන නිවන් අවබෝධ කරනවා.

මේ උත්තරීතර වන්නා වූ සත්‍ය මාර්ගය හරියට වටහා ගත්ත කෙනෙකුට තමයි මේ නිවන් දැකීම සඳහා ධර්ම මාර්ගය වැටහෙන්නේ. ඒ නිසා නිවන් දකින්න අවශ්‍ය හැම කෙනෙක්ම ඒ උත්තරීතර වන්නා වූ චතුරාර්ය සත්‍ය ධර්මය අවබෝධ කර ගන්න අවශ්‍යයි. එසේ අවශ්‍ය නම් මේ කුසල මූල ප්‍රත්‍යයෙන් හට ගන්නා වූ මේ ආර්ය පටිච්ච සමුප්පාදය අනුගමනය කරල නිවන් දකින්න මාර්ගයක් තියෙන බව තේරුම් ගන්න ඕන. ඒ නිසා බාහිර තියෙන සියලුම දෘෂ්ඨි අතහැරලා යම් කෙනෙකුට නිවන් දකින්න ඕන නම්, මේ දහම ගෙනාවෙ කවුද? කොහොමද ගෙනාවෙ? මොන පොතේද තිබුනෙ? අර පොතේ කොහොමද තිබුනෙ?.... ආදී වශයෙන් හෝ පරම්පරාවෙන්ද ගෙනාවෙ... ආදී වශයෙන් අර ගන්න කිසිම දෙයක් නෑ, නිසැකවම මනා නුවණින් යුක්තව නිදහස් චින්තනයෙන් යථාර්තයෙන් හිතලා නිවන් දකින මාර්ගය බුදුපියාණන් වහන්සේ දේශනා කරල තියෙන බව හොඳින් තේරුම් ගෙන, ප්‍රඥාව මෙහෙයවලා ඔය කියන චතුරාර්ය සත්‍ය ධර්මය අවබෝධ කර ගන්න අවශ්‍ය වන පටිච්ච සමුප්පාද ධර්මය තේරුම් ගන්න ඕන.

මේ ධර්මය අනුගමනය කරපු කෙනෙකුට උතුම් වු නිවන් සාක්ශාත් කර ගන්න හේතු වාසනාව ලැබෙනවා. **මෙබඳු වන්නා වූ උත්තරීතර මාර්ගයන් කාලයක් තිස්සේ වැහිල තිබුණා.** මෙබඳු ශ්‍රේෂ්ඨ වන්නා වූ ආර්ය මාර්ගය මතු කරල තේරුම් ගත්ත දාට පුළුවන් හැම කෙනාටම ගුරුවරයෙක් නැතුව නිවන් දකින්න මග පාදා ගන්න. බුදු පියාණන් වහන්සේ දේශනා කරනවා **44 ක් නුවණ ඇති එසේ නැත්නම් 77 ක් නුවණ ඇති පටිච්ච සමුප්පාදය යම් කෙනෙක් දකිනවා නම්, ඔහුට ගුරුවරයෙක් අවශ්‍ය නෑ, බාධක නැතුව නිවන් දැකීමට ඒ ටික ඇති කියල.**

එහෙනම් අපි දකින්න ඕන, මොනවද ඔය ආකාරයෙන් පෙන්වූයේ කියල. සංඛාර, විඤ්ඤාන, නාම රූප, සලායතන, ස්පර්ෂ, වේදනා, තණ්හා, උපාදාන, භව, ජාති, ජරා, මරණ කියන මේවායින් අවිද්‍යාව කියන එක මේ සෑම තැනකම යෙදිල තියෙනවා. අවිද්‍යාව මුල් කරගෙන හට ගත්තා වූ යම් තරමක් සංඛාර, විඤ්ඤාණ ආදී 11 ක් කාරණා තියෙන බව යථාර්ථයෙන් දකින්න ඕන. ඒ වගේම නිවන් දැකීමට හේතු වන්නා වූ සංඛාර, විඤ්ඤාණ දකින්න ඕන. ආර්ය මාර්ගයට හේතු වන සංඛාර, විඤ්ඤාණ, නාම රූප, සලායතන ආදිය ඒ ආකාරයෙන් තේරුම් අරගෙන, ලෝකයේ තිබෙන්නා වූ ලෝක පැවැත්මට හේතු වන අවිද්‍යා සහගත වූ සංඛාර, විඤ්ඤාණ, නාම රූප, සලායතන, ස්පර්ෂ, වේදනා ආදිය තේරුම් අරගෙන මේ ආකාරයෙන් මූල ධර්මය තේරුම් ගත්ත නම් ඒ ඒ කාරණය තේරුම් ගැනීම නිසා කාරණා එකොලහට ඥාන එකොලහක් එනවා. එක එක කාරණයට හතර ගානෙ යෙදෙන්නෙ මෙහෙමයි. මේ සංඛාර කියල දැන ගන්නවා, ඒ වගේම මේ සංඛාරවලට හේතුව කියල දැන ගන්නවා, මේ සංඛාර නිරෝධය කියල දැන ගන්නවා, මේ සංඛාර නිරෝධ කරන මාර්ගයයි කියල දැන ගන්නවා. මේ උතුම් වූ පටිච්ච සමුප්පාද ධර්මය අනුගමනය කරලා ඒ අනුව නිවන් මග වඩන්නා වූ භික්ෂු, භික්ෂුණී, උපාසක, උපාසිකා යන ජාති අතරින් කෙනෙකු බවට පත්වෙලා උතුම් නිවන් සාක්ශාත් කරගැනීමට අධිෂ්ඨාන කරගන්න.

(44 ක් හා 77 ක් වූ ඥාන දර්ශන ගැන ඊළඟ කලාපයෙන් බලාපොරොත්තු වන්න.)

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :*

**නයනා නිශ්ශංක**
**(ගෘහ නිර්මාණ ශිල්පිනී)**
**කැළණිය.**

# සත්වත්ත්වය ගොඩනැගූ ඡන්දරාගය නිරෝධ කිරීම නිවනයි

වචන දැනගත්ත පලියට සෝවාන් වෙන්නෙ නෑ.

සත්කාය දිට්ඨි, විචිකිච්ඡා, සීලබ්බත පරාමාස යන පාලි පදවලින් පෙන්වන, සිතේ පහලවන කෙලෙස් කොටස් තුනක් සෝතාපන්න වීමේදී සහමුලින්ම නිරුද්ධ වෙලා යනවා. නැවත කිසිම අවස්ථාවක ඒ කෙලෙස්, සිත තුළ හටගන්නෙ නෑ. මේ වචන තුන දැනගෙන නොහිටියත් සෝතාපන්න වීමේදී මේ කෙලෙස් තුන පහ වෙලා යනවා. ඒ වචන හෝ ඒවායේ අර්ථය දැනගැනීම අමතර කරුණක්. මේ පිළබඳව දැන ගැනීමෙන් යහපතක් මෙන්ම අයහපතක් ද සිදුවෙන්න පුළුවන්. මේ කරුණු වරද්දලා නම් දැනගත්තෙ, මේ කෙලෙස් මා ළඟ නම් නෑ, මම සෝතාපන්නයි කියල වැරදියට වටහා ගැනීමෙන් අයහපතක් වෙන්න පුළුවන්. ඒ පෙන්වන ලද කෙලෙස් මා ළඟ තවමත් තියෙනවා කියල පමණ ඉක්මවල නම් වටහා ගත්තෙ, අනේ මම තවම සෝවාන් වෙලා නැහැනෙ, ඒක නම් මට කරගන්න පුළුවන් දෙයක් නෙවෙයි කියල අධෛර්යයටත් අසතුටටත් පත්වෙන්න පුළුවන්.

ධර්ම ශ්‍රවනය කරල ලෝකය අනිච්ච, දුක්ඛ, අනත්ත වශයෙන් එහි අසාරත්වය යථාර්තවත්ව දැකල, ධර්මානුකූලව කළ යුතු දේ කරගෙන ගියා නම් ලැබෙන ඵලය කවදා හෝ ලැබෙයි. විශාඛ උපාසකතුමා අනාගාමී ඵලයට පත් වෙලා හිටපු තැනැත්තෙක්. එතුමා ධම්මදින්නා මෙහෙණින් වහන්සේ මුණගැහිල අහනව ''සත්කායො', සත්කායො'' කියනව, සත්කාය කියල කියන්නෙ මොන විදිහෙ ක්‍රියාවක්ද කියල (මජ්ජිම නිකාය (1) 702 පිටුව - <u>චූල වේදල්ල සූත්‍රය</u>) අනාගාමී ඵලයට පත්වෙලා හිටියට විශාඛ උපාසකතුමා මේ කරුණු ඒ පදවලින් දැනගෙන හිටියෙ නෑ. **සත්කාය සහ සත්කාය දිට්ඨිය කියන්නේ කාරණා දෙකක්.**

## <u>ගිනි බෝලෙන් ගිනි වලල්ලක්</u>

මේ සත්කාය දිට්ඨිය, වීසතිවිධ සත්කාය දිට්ඨිය කියල විසි ආකාරයකින් ධර්මයේ විග්‍රහ කරල තියෙනවා. ''මම'' කියල කෙනෙක් හිතේ හරි ගතේ හරි ඉන්නවා, මම දුවනවා, මම පනිනවා, මම සැප විඳිනවා, මම දුක් විඳිනවා, මම යනවා, මම එනවා... ආදී වශයෙන් විවිධාකාර වූ මේ සියලු ක්‍රියාවන් කරන්නෙ, විඳින්නෙ ''මම'' කියන කෙනෙක් කියල ඒ කෙරෙහි දෘෂ්ටියකින් බැඳිලයි. කිසියම් ක්‍රියා දාමයකට බාහිරින් බැඳිලා ඒ තුළින් ගොඩනගාගන්න දෘෂ්ඨියක් තමයි ''මම'' කියන සංකල්පය. **ගිනි බෝලයක් කරකවන කොට ඒ ක්‍රියාවලිය තුළ ගිනි වලල්ලක් පෙනෙන්න ගන්නවා.** එහිදී මායා දර්ශනයක් වශයෙනුයි ගිනි වලල්ලක් **විද්‍යමාන වෙන්නේ. ඒ විද්‍යමාන වෙන්නේ ගිනි වලල්ලක්මයි කියල ගත්තොත් ඒක වැරදි නිගමනයක්.** එසේම මේ පංචස්කන්ධ ක්‍රියාවලියත් සිද්ධ වෙන ආකාරයෙන්ම, ''මම'' කියන හැඟීමෙන් මායා දර්ශනයක් පේනවා. මේක මායාවක් කියල තේරුම් ගත්ත නම්, මේ තුළ මමෙක් ඉන්නව කියල ගත්ත වැරදි දෘෂ්ඨිය දුරුවෙලා යනවා. මේ කරුණ හොඳින් තේරුම් ගත්ත නම් ඒක විග්‍රහ කරල බලන්න කියල බුදු පියාණන් වහන්සේ දේශනා කරනවා. ගතයි සිතයි කියන්නෙ ''මම'' කියලයි බොහෝ කොටම හිතාගෙන ඉන්නේ. මේ ගතයි, සිතයි කොටස් පහකට බෙදන්න පුළුවන්. ගත



කිව්වෙ රූප කොටසටයි. සිත හෙවත් නාම කොටස වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ කියල කොටස් හතරකට බෙදෙනවා. මේ නාම රූප ගොඩවල් පහේ ක්‍රියාකාරීත්වයෙන් නැගෙන මායා දර්ශනය තුළිනුයි ''මම'' කියන දෘෂ්ඨිය ගොඩනැගෙන්නේ. මම කියන දෘෂ්ඨිය නැති කරගන්න මේ ස්කන්ධ හෙවත් ගොඩවල් පහ තවත් විග්‍රහ කරල බලන්න ඕන.

රූප මමද? මම කියන්නෙ රූපද? රූප රූප මිසක් රූප තුළ මම වෙනවද? මමෙක් තුළ රූප තියෙනවද? මේ විධියට රූපය පිළිබඳව හතර ආකාරයකින් බැලුවම රූපය මමත් නෙවෙයි, මම රූපයත් නෙවෙයි, රූපය තුළ මමත් නෑ, මමෙක් තුළ රූපයත් නෑ කියල ''මම'' නෑ කියන දෘෂ්ඨියට වැටෙන්නෙ නැතුව, රූප මම යැයි ගැනීමට සුදුසු නොවන බව දකින්න ඕන. මම රූපය යයි ගැනීමට සුදුසු නොවන බව දකින්න ඕන. මේ අනුව ''මම'' කියන්නෙ ගොඩනගාගත් දෘෂ්ඨියක් කියල දකින්න ඕන.

මීළඟට වේදනා මමද? මම වේදනාද? වේදනා වේදනා මිසක් වේදනා තුළ මම වෙනවද? මමෙක් තුළ වේදනාව තියෙනවද? මේ ආකාරයට වේදනාව පිළිබඳව හතර ආකාරයකින් බැලුවම වේදනා මමත් නෙවෙයි, මම වේදනාත් නෙවෙයි, වේදනා තුළ මමත් නෑ, මමෙක් තුළ වේදනාත් නෑ කියල ''මම'' නෑ කියන දෘෂ්ඨියට වැටෙන්නෙ නැතුව වේදනා ''මම'' යැයි ගැනීමට සුදුසු නොවන බව දකින්න ඕන.

සංඥා මමද? මම සංඥාද? මම තුළ සංඥාව තියෙනවද? සංඥාව තුළ මම ඉන්නවද? සංඛාර මමද? මම සංඛාරද? මම තුළ සංඛාර තියෙනවද? සංඛාර තුළ මම ඉන්නවද? විඤ්ඤාණ මමද? මම විඤ්ඤාණද? මම තුළ විඤ්ඤාණ තියෙනවද? විඤ්ඤාණ තුළ මම ඉන්නවද? මේ විදිහට විසි ආකාරයකින් විග්‍රහ කරගන්න ඕන. මම රූපද? මම වේදනාද? මම සංඥාද? මම සංඛාරද? මම විඤ්ඤාණද? කියල මෙහෙම ඇහුවොත් මම යැයි ගැනීම සුදුසු නොවන බවත් දකින්න ඕන. ඒ පහේ ක්‍රියාදාමයට මමෙක් ඉන්වා කියන දෘෂ්ටියක් ගොඩනැගෙනවා. ''මම'' කියන්නෙ පංචස්කන්ධ ක්‍රියාවලියක මායා දර්ශනයක් කියල දකින්න ඕන.

එහෙනම් ''මම'' කියල කෙනෙක් නැද්ද? නැහැ කියල ගත්තම උච්චේද දෘෂ්ටියට වැටෙනවා. සසර බොහෝ කලක් ''ඇත, නැත'' කියන දෘෂ්ටි දෙක අතර හිරවෙලා හිටිය ලෝක සත්ත්වයා ''මම නෙවෙයි'' කියන අදහසින් භාවනා කරන්න ගියොත් උච්චේද දෘෂ්ටියට වැටිල ගැටළුවක් ඇති කරගන්නවා. **මමෙක් නැත්නම් පින් පව් කළාම කාට ඵල දෙන්නද කියන ප්‍රශ්නය මතුවෙනවා. එසේම මමෙක් නැත්නම් ''මම'' කියල කතා කරන්නෙ කවුද කියන ප්‍රශ්නයත් ඇති වෙනවා.** බුදු දහමේ පෙන්වා තියෙන්නේ ''මම'' යැයි ගැනීම සුදුසු නොවන බවයි. නැත්නම් ''මම'' යැයි අල්ලා ගැනීමට තරම් වටිනා දෙයක් නැති බවයි. ප්‍රියයි මනාපයි කියල අල්ලගන්න කිසිවක් කැමති සේ පවත්වන්න බැරි නම් ''මම'' යැයි, ''මගේ'' යැයි කියල අල්ලගන්න සුදුසුද කියලයි බලන්න කිව්වෙ. ''ඒව මේතං සම්ම පඤ්ඤාය දට්ඨබ්බං'' යනුවෙන් මේ ලෙස මනා නුවණින් දකින්න ඕන කියල දේශනා කළා මිසක් එහෙම නැතුව ''මම'' නෑ කියමින් භාවිතා කර කර ඉන්න කිව්වෙ නෑ.

මමෙක් ඇත කියල ගත්තොත් සාස්වත දෘෂ්ටියට වැටෙනවා. ''මම ඇත'' කිව්වොත් මම නිවන් දකිනවා කියන දේ සිදු වෙන්න බෑ. එතකොට සදාතනිකව ඇති දෙයක් නැති කරන්න බෑ කියන දෘෂ්ටියට වැටෙනවා. සදාතනික වන්නා වූ ආත්මය නැති කරන්න බැහැ කියල අන්‍ය යෝගීන්

දරන්නේ සාස්වත දෘෂ්ටියයි. ''ඇත'' කියන්නෙ එක අන්තයක්, ''නැත'' කියන්නෙ තවත් අන්තයක්. මේ අන්ත දෙකම බැහැර කරල මාධ්‍ය (මැදුම් පිළිවෙත) තුළිනුයි තථාගතයන් වහන්සේ යථාවබෝධය ලබා ගත්තේ.

සත්වත්ත්වය ඇති වෙන්නෙ ඡන්ද රාගයෙන් බැඳුනමයි. කාය සත් කියල, නැත්නම් යහපත් කියල ගන්න තාක් ''සත්ත්වයෙක් ඇත, සත්ත්වයෙක් සැරිසරනවා'' කියන සංඥාව අත්හරින්න බෑ. සත්ත්වයා යන්න කිසියම් රූපාකාරයකට හෝ වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ කියන පොදියක ආකාරයකට හෝ කොටසකට හෝ වෙන් කළොත් ඒ තැනැත්තා දෘෂ්ටියකට අහුවෙලා ඉන්නවා මිසක් සත්ත්වයා දැකල නෑ. ''ස්වාමීනි, සත්ත්ව සත්ත්ව කියනවා, මොන හේතුවකින්ද සත්ත්වයා කියන්නේ?'' යනුවෙන් සත්ත්ව සූත්‍රයේදී භික්ෂූන් වහන්සේලා බුදුපියාණන් වහන්සේගෙන් විමසනවා. රූපස්කන්ධයේ, වේදනා ස්කන්ධයේ, සංඥා ස්කන්ධයේ, සංඛාර ස්කන්ධයේ, විඤ්ඤාණ ස්කන්ධයේ ඡන්ද රාගයෙන් බැඳුනම සත්ත්ව විද්‍යමාන වෙනවා. ලෝක සත්ත්වයාට අවිද්‍යාව නිසා මේ ක්‍රියාදාමයෙන් වෙන් වෙන්න බෑ. ඒ අනුව ඡන්ද රාගය නම් රැහැනින් බැඳිලා, ''අතීතයෙත් මම හිටියා, වර්තමානයෙත් මම ඉන්නවා, මතුවටත් මම ඉන්න ඕන'' කියන දෘෂ්ටියට බහිනවා.

**ලෝකයට අයත් දේවල්වල පවතින ප්‍රිය මධුර ස්වභාවයට බැඳීමයි ඡන්ද රාගය කිව්වෙ.** මෙසේ ස්කන්ධ පහේ ඡන්ද රාගයෙන් බැඳුනම ''සත්ත්ව'' විද්‍යමාන වෙනවා. මේ අනුව ඡන්ද රාගය සුදුද, කළුද, උසද, මහතද, කෙට්ටුද, හීනිද, පුංචිද කියල ගන්න පුළුවන්ද? ඡන්ද රාගය ඒ ඒ මොහොතෙ ගොඩනැගෙන දෙයක් නම්, සිදුවෙන්නේ සත්ත්වයා ගොඩනැගීමයි. සත්ත්වයා ගොඩනැගීම හේතු ඵලයක්. එහෙනම් ''මම නෑ'' කියන දෘෂ්ටියෙත්, ''මම ඉන්නවා'' කියන දෘෂ්ටියෙත් නොසිට මේ අන්ත දෙකම අතහැරල මේ දෘෂ්ටිය ගොඩනැගුනෙ කොහොමද කියල බලන්න ඕන. එතකොට පටිච්ච සමුප්පාද වශයෙන් මේක ගොඩනැගුණ හැටි පේනවා. අතීතයේ රූපස්කන්ධයකට ''මම'' කිව්වනම් හෝ ''මගෙ'' කිව්ව නම් ඒ රූපස්කන්ධය දැන් තියෙනවද? එසේම අතීතයේ වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ කියන ස්කන්ධයන්ට ''මම'' කිව්ව නම් ඒ ස්කන්ධ දැන් තියෙනවද? ඒ ස්කන්ධ කොහොමද තිබුණේ? මනුෂ්‍යයෙක්, දෙවියෙක් හෝ සත්ත්වයෙක් වශයෙන් තමයි ඉඳල තියෙන්නෙ. දෙවියෙක් වෙලා සිටියදී තිබුණ රූපස්කන්ධය අද තියෙනවද? තිරිසනෙක් වෙලා හිටියනම් ඒ රූපස්කන්ධය අද තියෙනවද? **ඊයෙ විද්‍යමාන වුනේ, ඊයෙ ගොඩනැගුණ සත්ත්වයායි. අද ගොඩනැගුණ ඡන්ද රාගයටයි අද සත්ත්වයා විද්‍යමාන වෙන්නේ. ඡන්ද රාගය හෙට තිබුණොත් තමයි හෙට සත්ත්වයෙක් විද්‍යමාන වෙන්නේ.** පැයකට පමණ පෙර තිබුණ ඡන්ද රාගයෙනුයි ඒ සත්ත්වයා ගොඩනැගුණේ. මේ ආකාරයට විනාඩියකට හෝ තප්පරයකට හෝ මොහොතකට හෝ ගත්ත නම් ඒ ඒ ආකාරයටමයි සිද්ධ වෙන්නේ. පැයකට පෙර හෝ විනාඩියකට පෙර හෝ තිබුණ හේතුවටයි ඒ වෙලාවෙ සත්වත්ත්වය ගොඩනැගුණේ. ඒ අනුව සත්ත්වයා ගොඩනැගෙන්නෙ හේතු ඵලයකට අනුවයි. මමෙක් ගොඩනගාගෙනයි ආස්වාද විඳින්නේ.

''මම'' කියන වචනයේ පළමුව ''ම'' කියල දෙවනුව ''ම'' කියන කොට එබඳු ක්ෂණ කීයක් නම් ගෙවිලද? එසේනම් ''මම'' කියන තෙක් පවත්වන්න පුළුවන් රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ නැත්නම් ''මම'' කිව්වෙ මොකකටද? ගෙවුනු මතක සටහනුයි, අනාගතයේ බලාපොරොත්තු වන්නා වූ සටහනුයි එකතු කරල, නැති මමෙක් ගොඩනගාගෙනයි මේ ආස්වාද විඳින්නේ. මේ ක්‍රියාදාමය යම් තාක් පැවතීගෙන එනවද, ඒ තුළයි මායාවක් ගොඩනැගෙන්නේ. මේ විද්‍යමාන වන මායාවට ''මම'' කියන දෘෂ්ටියෙන් බැඳෙනවා, සංඥාවෙන් බැඳෙනවා. **''මම'' කියන දෘෂ්ඨිය යම් තැනකද, එතැන නොකැඩේවා, නොබිඳේවා, කැමති සේ පවතීවා කිව්වට ඒක වෙන්නෙ නෑ. කැමති සේ පවත්වන්න ඕන කියන අදහස ''මම'' කියන දෘෂ්ටියත් එක්කයි බැඳිල තියෙන්නේ.** මේක යම් දවසක දැක්ක නම් බැරි දෙයක් කරන්න නේද මේ දඟලන්නෙ කියල අවබෝධ කරගත්තම රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ කියන ස්කන්ධ පහ ''මම'' කියල ගන්න සුදුසු නෑ නේද කියල තමාටම වැටහෙනවා. ඉන්පසු ලෝක සම්මතයේ කථා කරන්න පමණක් ''මම, මගෙ'' කියන එක සීමා වෙනවා.

මේ අනුව **සත්ත්වවලට දිග පළලක්, උස මහතක් කියන්න බෑ.** කොහේ ඉඳන් ආවද, යන්නෙ කොහාටද කියන්න බෑ. හේතුවේ ඵලය තියෙන තාක් විද්‍යමානයි. මෙසේ සත්වත්ත්වය තෝරගන්න ඕන. **භාවනා කරන කොට සියළු සත්ත්වයෝ නිදුක් වෙත්වා, නිරෝගී වෙත්වා, සුවපත් වෙත්වා, දුකින් මිදෙත්වා කියල කියන්න බොහෝ අය පුරුදු වෙලා තියෙන්නේ, දෙවියන් බ්‍රහ්මයන් වැනි සුගතිවල ඉන්න අයත්, අලි කොටි වලස්සු වැනි තිරිසන් දුගතිවල ඉන්න සත්ත්වයනුත් ඒ ඒ ආකාරයෙන් හැඩ රුව, උස මහත අනුව අරගෙනයි.** සත්ත්ව දෘෂ්ටිය, ආත්ම දෘෂ්ටිය ඉවත් කරගන්නෙ නැතුව මෙත් වඩන්න ගියාම ඒකෙන් ඵලයක් ලබන්න බෑ. **අහසෙ හිටියත්, පොළොවෙ හිටියත්, කොයි දිසාවෙ හිටියත් ඡන්ද රාගයෙන් බැඳීම ගොඩනගල නම් තියෙන්නෙ එවිට සත්වත්ත්වය තුළයි ඉන්නේ. යථාර්ථය අවබෝධ කරගත්ත නම්, භාවනා කරනකොට සත්ත්වයින්ගේ හැඩ රුව අරගෙන මෙත් වඩන්නෙ නෑ. සත්වත්ත්වය ගත්ත අයට ඒ සත්වත්ත්වයෙන් මිදෙන්නයි මෙත් වඩන්න ඕන.** අවිද්‍යාවේ හේතු ඵලයක් ලෙසයි සත්වත්ත්වය ක්‍රියාත්මක වෙන්නේ. අවිද්‍යාව නිරෝධ කළා නම් හේතු නිරෝධයෙන් ඵල නිරෝධ වෙනවා. අවිද්‍යා දෘෂ්ඨියෙන් අරගෙන හිටපු ''මම, මගෙ'' යන අදහස ඇත්ත දැකීමේ විද්‍යාව පහළ වෙනකොටම දුරුවෙලා, දිට්ඨිංච අනුප ගම්ම කියන තත්ත්වයට පත්වෙනවා.

සත්වත්ත්වයෙන් මිදීම නිවනයි. **සෝතාපන්න වෙනකොට සතර අපාගත වන ස්වභාවයේ යම් සත්වත්ත්වයක් තිබුණ නම් ඒ ටික නිරෝධ වෙනවා.** දෘෂ්ඨි නිරෝධයත් සමග සකෘදගාමී ඵලයට පත්වෙනකොට කාම රාග, පටිඝ දැඩි ලෙස හටගන්නා ස්වභාවයේ යම් සත්වත්ත්වයක් තිබුණ නම් එයින් මිදෙනවා. අනාගාමී බවට පත්වෙනකොට කාම ලෝකය හා සම්බන්ධ යම් සත්වත්ත්වයක් තිබුණ නම් ඒ ටිකත් ඉවරයි. සංඥා නිරෝධයත් සමග අරිහත්වයට පත්වෙනකොට තුන් ලෝකය පිළිබඳ යම් සත්වත්ත්වයක් ඉතිරි වී තිබුණ නම් ඒ සියල්ලෙන් මිදෙනවා. චිත්ත නිරෝධයත් සමග බුදු පියාණන් වහන්සේ සෝපාදිසේස පිරිනිවනට පත්වෙනකොට රූපය තියෙනවා, නමුත් සත්වත්ත්වයක් නෑ. **අරිහතුන් වහන්සේ සත්වත්ත්වය ඉක්මවූ තැනැත්තෙක්. බුදුරජාණන් වහන්සේ සත්ත්වයෙක්ද කියල ඇහුවම නෑ කියල තියෙනවා. උන්වහන්සේ සත්වත්ත්වයෙන් මිදුණු උත්තමයෙක්.**

රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ කියන ස්කන්ධ අනිච්ච, දුක්ඛ, අනත්ත වශයෙන් දකින්න පුරුදු වුනා නම්, රූපය තුළවත්, වේදනා තුළවත්, සංඥා තුළවත්, සංඛාර තුළවත්, විඤ්ඤාණ තුළවත් ඡන්ද රාගයෙන් බැඳිල සත් ගුණයෙන් ගන්න වටිනා දෙයක් නෑ කියල අවබෝධ වුනාම සත්වත්ත්වයෙන් මිදෙනවා. සත්ත්ව යැයි පැනවූ ඡන්ද රාගයක් ගොඩනැගෙමින් තිබුණ නම්, අරිහත්වයට පත් වුනාම ඒක මුළුමනින්ම නිරෝධ වෙනවා.

ප්‍රඥාව තුළින් ලෝකයේ අසාරත්වය දැක්කම අත් හැරී, නොඇලී, මිදී යාමේ ක්‍රියාවලිය සිද්ධ වෙනවා. පංචස්කන්ධය, පංච උපාදානස්කන්ධයක් කරගන්නෙ නෑ. උපාදානයෙන් මිදුනම භවයක් හටගන්නෙ නෑ. භවයක් නැත්නම් ජාතියක් නෑ. ජාතියක් නැත්නම් ජරා, ව්‍යාධි, මරණ කෙළවර වෙනවා. එසේ අත්හැරී නොඇලී මිදී යන්නේ ඡන්ද රාගයයි. ඉකුත් පිරිනිවන් පෑ තථාගතයන් වහන්සේලා යම් රූපයකින්, වේදනාවකින්, සංඥාවකින්, සංඛාරයකින්, විඤ්ඤාණයකින් පනවන්නෙක් පනවා නම් එබඳු රූපයක්, වේදනාවක්, සංඥාවක්, සංඛාරයක්, විඤ්ඤාණයක් නැත්මයි කියා දේශනා කර තියෙනවා.

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :*

**ඇල්. අමරසිංහ**
**(විශ්‍රාමික ලංකා බැංකු ජ්‍යෙෂ්ඨ කළමනාකරු)**
**පිළියන්දල.**

# වේදනා සහ සම්ඵස්සජා වේදනා අතර වෙනස

ප්‍රසුගිය කලාපයෙන් විඤ්ඤාණ පච්චයා නාම රූපත්, නාම රූප පච්චයා සළායතනත් විග්‍රහ කළා. සළායතන කියන්නේ ඉන්ද්‍රියන් රාග, ද්වේශ, මෝහ කෙලෙස් සහිතව පාවිච්චි කිරීමේදී ඇතිවන තත්ත්වයක් බවත් සඳහන් කළා. ඉන්ද්‍රියක් ආයතනයක් වන ආකාරයත් සාකච්ඡා කළා.

සම්ඵස්සයෝ කියල කියන්නේ ඉන්ද්‍රියන්ට බාහිර අරමුණු ගෝචර වීම නෙවෙයි, සළායතනවලට අරමුණු ගෝචර වීමයි. මේ දෙකේ වෙනස දැනගන්න ඕන. **ඵස්ස යන්න යෙදෙන්නේ ඉන්ද්‍රියන්ට අරමුණු ගෝචර වීමේදීයි. සම්ඵස්ස යෙදෙන්නේ සළායතනවලට අරමුණු ගෝචර වීමේදීයි.** ඉන්ද්‍රියන් හා ආයතන අතර වෙනස පෙර ලිපියේදී පැහැදිලි කළා. වෙනස මොකක්ද? කෙලෙස් සහිත වූ විඤ්ඤාණයක් ගොඩනැගෙන පරිදි ඡන්ද රාග සහගතව රූප, ශබ්ද... ආදී අරමුණක් නිසා ගොඩනැගෙන කෙලෙස් සහිත වූ සළායතනයන්ගේ ගැටීම සම්ඵස්සය නම් වෙනවා. එහෙනම් සම්ඵස්සයක් ඇතිවීමට කෙලෙස් සහිත වූ සළායතනයත්, කෙලෙස් සහිත වූ විඤ්ඤාණයත් ගොඩනැගෙන පරිදි ඡන්ද රාග සහගතව බාහිර අරමුණක් හා ගැටිය යුතුයි. එනම් කාරණා තුනක් සපිරිය යුතුයි. ''තින්නං සංගති ඵස්සෝ'' යනුවෙන් සං:නි: (4), 182 පිටුවේ එන <u>දුක්ඛ සමුදය සූත්‍රයේ</u> විග්‍රහ වෙන්නේ මේ ක්‍රියාවලියයි. **කෙලෙස් ප්‍රහාණය කළ අරිහතුන් වහන්සේ තුළ සම්ඵස්සය යන ක්‍රියාවලිය ජනිත වෙන්නෙ නෑ.** සම්ඵස්ස නම් වූ ක්‍රියාවලියෙන් ජනිත වන්නා වූ වේදනාව සම්ඵස්සජා වේදනාව නමින් හැඳින්වෙනවා. එහෙනම් **ඵස්ස කියන්නෙ ඉන්ද්‍රියක් අරමුණක් හා ගැටීමයි. එයින් හටගන්නේ වේදනාවක් පමණයි. සං ඵස්ස වුනාට පසු තවත් කෙලෙස් ප්‍රමාණයක් ඒකට එකතු වෙනවා.** එහෙනම් කෙලෙස් සහිත වූ ඉන්ද්‍රිය හෙවත් ආයතනය කෙලෙස් සහිත වූ අරමුණක් සමග කෙලෙස් සහිත වූ විඤ්ඤාණයත් ආශ්‍රය කරමිනුයි සම්ඵස්සය උදාවෙන්නේ.

උදාහරණයක් විදිහට මත්පැන් බෝතලයක් ගෙදරකට ගෙනගිය අවස්ථාවක් ගැන මින් පෙර පැහැදිලි කළා. මත්පැන් බොන මිතුරෙක් මුණගැහෙන්න යන අවස්ථාවක මත්පැන් බෝතලයක් ගෙන ගියේ යැයි සිතමු. මේ මත්පැන් බෝතලය දෙස ගෙදර ස්වාමි පුරුෂයා බලන්නේ කොහොමද? ඔහු මත්පැන්වලට ගිජු බවක් දක්වන පුද්ගලයෙක් නම්, ඒ සඳහා රාගික විඤ්ඤාණයක් ගොඩනැගෙන පරිදි ඡන්ද රාග සහගතව මත්පැන් බෝතලය දෙස බලනවා. එහෙනම් කාරණා තුනක් එහිදී එකතු වෙනවා. මත්පැන් සඳහා තිබූ රාගික විඤ්ඤාණය ගොඩනැගෙන පරිදි ඔහුගේ ඇස රාගිකව පාවිච්චි කරමින් ඡන්ද රාග





සහගතව මත්පැන් බෝතලය දෙස බලනවා. අන්න ''තින්නං සංගති ඵස්සෝ'' කියල කාරණා තුනක් එකතු වුනා. එතකොට ඔහුට රාග විඤ්ඤාණයක් ඇති වෙනවා. ඔහු රාගිකව මේ ගැන සිතමින් සතුටු වෙනවා.

ඔහුගේම බිරිඳ දන් මේ ස්ථානයට පැමිණියොත් ඇය මේ මත්පැන් බෝතලය දෙස බලන්නේ කොහොමද? ඇය කැමති නෑ තමන්ගේ සැමියට පත්පැන් පොවනවට. එහෙනම් ඇය තුළ පූර්ව ද්වේශ සහගත විඤ්ඤාණයක් කර්ම භවයේ සටහන් වෙලා තියෙනවා මත්පැන් කියන්නේ අප්‍රිය දෙයක් කියා. ඒක ගැටීම් සහිත විඤ්ඤාණයක්. ඒත් සමගම ඇය තමන්ගේ චක්ඛායතනය පාවිච්චි කරමින් මත්පැන් බෝතලය දෙස බැලුවම ඇයට ඇති වන්නේ ද්වේශ සහගත හැඟීමක්. (විඤ්ඤාණයක්) එයින් ඇය පීඩාවට පත් වෙනවා. එහෙනම් **එකම මත්පැන් බෝතලය මගින් ස්වාමි පුරුෂයා කාම සහගත ප්‍රීති සුඛ සහිත මනසක් ඇතිකර ගත්තා. ඒ මත්පැන් බෝතලයම දැකලා භාර්යාව වේදනාවට පත්වුනා.** එතකොට එකම වස්තුව දෙස ඇස පාවිච්චි කරමින් බැලුවට ඊට අමතරව ඊට පාදක වූ විඤ්ඤාණයක් සමග එකතු වෙච්ච නිසා තමයි **ස්වාමි පුරුෂයාට සැප ආශ්‍රිත සිතිවිල්ලකුත්, භාර්යාවට දුක් සහිත සිතිවිල්ලකුත්** ඇතිවුනේ (සං ස්පර්ශ වුනේ).

**මේ මත්පැන් බෝතලය රහතන් වහන්සේ නමක් දැක්කොත් උන්වහන්සේ ඒ පිළිබඳව සැපවත් භාවය සහිත චේතනාවක් හෝ දුක් සහිත චේතනාවක් හෝ ඇතිකරගන්නෙ නෑ. නමුත් උන්වහන්සෙත් මත්පැන් බෝතලය දකිනවා.** රහතන් වහන්සේ මැත්පැන් බෝතලය දකින්නේ ඇස යන ඉන්ද්‍රිය මත්පැන් බෝතලය සමග ගැටීම නිසා ගොඩනැගෙන ස්පර්ශය අනුවයි. ඊට අමතරව ස්වාමි පුරුෂයා මත්පැන් බෝතලය දකීමේදී ඡන්ද රාග සහගතව අරමුණු කිරීම නිසා රාග සහගත විඤ්ඤාණයක් සහ චක්ඛායතනයක් ගොඩනැගෙන අතර ඒ සමග ක්‍රියාත්මක වෙන ස්පර්ශය සහ වේදනාවයි සම්ඵස්ස සහ සම්ඵස්සජා වේදනා ලෙස හඳුන්වන්නේ. එම නිසා ඔහුට ඇතිවුනේ සම්ඵස්සජා සහ සම්ඵස්සජා වේදනාවයි. බිරිඳ මත්පැන් බෝතලය ද්වේශ සහගතව අරමුණු කිරීම නිසා ද්වේශ සහගත වූ චක්ඛායතනයක් සහ විඤ්ඤාණයක් පහළ වෙලා ද්වේශ සහගත සම්ඵස්සයක් සහ සම්ඵස්සජා වේදනාවක් ඇතිවුනා. මේ අවස්ථා තුන ගත්තොත් රහතන් වහන්සේට ඵස්ස යන ක්‍රියාවලිය පමණක් සිදුවුණා. ස්වාමිපුරුෂයාට රාග සම්ඵස්සජා වේදනාවත්, බිරිඳට ද්වේශ සම්ඵස්සජා වේදනාවත් ඇතිවුණා.

එහෙනම් ඵස්සය, රාග සම්ඵස්සජා වේදනාව, ද්වේශ සම්ඵස්සජා වේදනාව කියන මේ කාරණා තුනම ගොඩනැගීමට මත්පැන් බෝතලය තමයි පාදක වුනේ. එක් එක් අවස්ථාවලදී ඒ ඒ සම්ඵස්සය ඇති වෙච්ච ආකාරයත්, රහතුන් වහන්සේට ඵස්සය පමණක් ☞

ඇතිවෙච්ච ආකාරයත් මැනවින් තේරුම් ගත යුතුයි.

එක්තරා තරුණ යුවලක් විවාහ වෙලා අවුරුදු දෙකක් පමණ සතුටින් කාලය ගත කළා කියල හිතන්න. මෙසේ සතුටින් ජීවත් වන කාලයේදී එක්තරා දවසක ස්වාමි පුරුෂයාට යම් කිසි තරහක් ඇවිල්ල බිරිඳට කම්මුල් පහරක් ගැහුව කියලත් හිතන්න. මේ ගහපු කම්මුල් පහර කොච්චර වේදනාකාරීද? **අතුල් පහර ගැසීමෙන් පමණක් ඇති වූ වේදනාව විනාඩි කීයක් තියෙයිද?** පොඩ්ඩක් මූණ රතු වෙලා වැඩිම වුනොත් විනාඩි 20 ක් පමණ මේ රිදෙන ගතිය තියෙයි. නමුත් එදා දවස පුරාම ඇය අඬන්න ගන්නවා. අතුල් පහර වැදීම තුළින් ඒ නිසාම ඇති වූ වේදනාව විනාඩි 20 කින් පමණ ඉවර වුනා. එතකොට රෑ වෙනකල් අඬන්නෙ මොන හේතුවක් නිසාද? අතුල් පහර වැදීම නිසා ඇතිවෙච්ච වේදනාවට අමතරව ඇ විසින් අවිද්‍යා සහගත මනෝ මූලිකව තවත් වේදනාවක් ගොඩනගා ගත්තා. කොහොමද ඒ වේදනාව ගොඩනගා ගත්තෙ? මම මෙච්චර හොඳට සලකපු, මෙච්චර හොඳට ආදරෙන් හිටපු මේ මනුස්සය මට කම්මුලට ගැහුව කියල ඇය ද්වේශ සහගත විඤ්ඤාණයක් ගොඩනගා ගත්තා. මේ විඤ්ඤාණය මත පිහිටමින් අර ලබාපු අතුල් පහර ගැන නැවත නැවත හිතනවා. එහෙනම් ඒ **අතුල් පහරින් ලැබිච්ච වේදනාවට අමතරව ඊට සම්බන්ධව ගොඩනගාගත්ත මනෝ විඤ්ඤාණයක් (විකෘති ඥානයක්) නිසා තවත් වේදනාවක් ඇයට ඇතිවෙලා තියෙනවා.** මෙන්න මේ වේදනාව සම්ඵස්සජා වේදනාව වශයෙන් දැකින්න ඕන.

අතුල් පහරක් කම්මුලට වැදිච්ච නිසා ඇතිවන වේදනාව එස්ස හා ඒ මත ඇතිවෙච්ච වේදනාව සම්ඵස්සජා වේදනාව වශයෙන් දකින අතර මගේ ආදරණීය ස්වාමි පුරුෂයා කම්මුල් පහරක් ගැහුව නේද කියන කාරණය මත ඇතිකරගත්ත විඤ්ඤාණය පාදක කරගනිමින් තවදුරටත් වේදනාව දෙගුණ තෙගුණ කරගන්න කොටස මනෝ සම්ඵස්සජා වේදනා වශයෙන් හඳුනගන්න ඕන. **එහෙනම් විනාඩි 20 කට පස්සෙ ඇය අඬන්නෙ තමන්ට ඇති වෙච්ච කායික වේදනාව නිසා නෙවෙයි. මනෝ මූලිකව හදාගත්ත තවත් වේදනාවක් නිසා.** එහෙමනම් සම්ඵස්සජා වේදනා හදාගැනීම සඳහා තමන්ට අතුල් පහරකින් ලැබිච්ච ස්පර්ශය හා ඒ පිළිබඳව ගොඩනගා ගත්ත විඤ්ඤාණයත්, ඉන් ඇති වූ ද්වේශ සහගත වේදනාවත් නිසා ඒ වේදනාව දවස් ගණන් ඇදී යනවා. එහෙමනම් **මේ කාන්තාව මේ කාරණය මතක් වෙලා සතියකට පස්සෙත් අඬනවා.** මේ අඬන්නෙ අර අතුල් පහර **වැදිච්ච නිසා හටගත්තු වේදනාවෙන්ද?** නෑ, දෘෂ්ටි සහගතව ගොඩනගා ගත් සම්ඵස්සජා වේදනා කොටසින් ඇතිවෙච්ච වේදනාවෙන්. සමහර වෙලාවට අවුරුද්දකට පසු මේ කාන්තාවගේ මව ගෙදර පැමිණියා කියල හිතමු. අම්මත් එක්කත් මේ විස්තරය කියමින් නැවතත් අඬන්න පටන් ගන්නවා. එහෙනම් **අවුරුද්දකට පසුවත් අඬන්නෙ කම්මුල් පහරේ වේදනාවටද?** නෑ. මනෝ මූලිකව ඒ පිළිබඳව හදාගත්ත සම්ඵස්සජා වේදනාවෙන්. දැන් පැහැදිලියි මේ සම්ඵස්සජා වේදනාව කොච්චර දුරට යනවද කියල. **එස්ස සහ වේදනාව කියන ඒ සරල ක්‍රියාවලිය විනාඩි 20 කින් පමණ ඉවරයි. නමුත් සම්ඵස්සජා වේදනාව අවුරුදු ගණන් යනවා. සමහර වෙලාවට අර බිරිඳ අවුරුදු 10 කට පස්සෙත් අඬන්න පටන් ගනියි ස්වාමි පුරුෂයා මට අතුල් පහරක් ගැහුව කියල.** මේ එක උදාහරණයක්.

මේකෙන් අපිට තේරෙනවා මේ සම්ඵස්සජා වේදනා කියන තත්ත්වය තමයි බරපතලම තත්ත්වය කියල. මොකද සසර කතරේ දිගින් දිගටම අපි කරක්ගහගෙන යන්නෙ මේ සම්ඵස්සජා වේදනා නිසා.

තවත් උදාහරණයක් අරගෙන බලමු. සේරුවාණිජ ජාතකය අපි අහල තියෙනවා. එතනදී **අපේ බෝසතාණන් වහන්සේ (සේරු වෙළෙන්දා) සමග කච්චපුට (දෙව්දත් තෙරගේ පෙර අත්බවයක්) රන් තලියකට මහා වෛරයක් ඇතිකර ගත්තා. මේ රන් තලිය තමන්ට නොලැබීම නිසා ඇතිකර ගත්ත වෛරය, ඒ ද්වේශ සහගත සම්ඵස්සජා වේදනාව කොච්චර දුරට ආවද කියනව නම් අවුරුදු දස දහස් ගණන්, කල්ප ගණන් ගිහිල්ලත් උන්වහන්සේ බුද්ධත්වය ලැබූ පසුවත් දේවදත්ත වශයෙන් ඉපදිලා එදා ඒ ඇති කරගත්තු වෛරය අවසන් වුනේ නෑ. අවසානයේ දෙව්දත් තෙර අවීචි මහා නරකයට ඇදගෙන යන්න තරම් ඒ කල්ප කාලාන්තරයකට පෙර ඇතිවෙච්ච ද්වේශ සහගත සම්ඵස්සජා වේදනාව හේතු වුනා.** එහෙනම් සසර දිගින් දිගටම අපව ගෙනියන්නේ මේ සම්ඵස්සජා වේදනාවෙන් නැගෙන ඡන්ද රාගය පසුපස හඹායන නිසයි.

ඉහත පළමු උදාහරණයේදී ඒ පහර කාපු බිරිඳ වේදනාවල් දෙකක් විඳින බව අපට පේනවා. එකක් තමයි අතුල් පහර නිසා ප්‍රායෝගිකව, භෞතිකව විඳපු වේදනාව. දෙවනි එක ඒ මත ඇති වෙච්ච විකෘති ඥානය නිසා හටගත්තු සම්ඵස්සජා වේදනාව. එහෙනම් **බුදු පියාණන් වහන්සේලාට හා අරිහතුන් වහන්සේලාට වේදනා තිබුණද?** ඔව්. එහෙනම් නිරෝධ කළේ මොන වේදනාද? අවිජ්ජා නිරෝධා සංඛාර නිරෝධෝ, සංඛාර නිරෝධා විඤ්ඤාණ නිරෝධෝ... ආදී වශයෙන් පටිච්ච සමුප්පාද නිරෝධයෙන් වේදනාව නිරෝධ කළා. එහෙනම් උන්වහන්සේලාට වේදනා නිරෝධ කළා නම් වේදනා තිබුණෙ නැද්ද? **ශරීරයට එන වේදනා තිබුණා. නමුත් සම්ඵස්සජා වේදනා සියල්ල නිරෝධ කළා.** නිරෝධ කළා කිව්වෙ නිර් උදා හෙවත් උදා වෙන්නෙ නෑ කියන එකයි. මේ පිළිබඳව සං:නි: (4), 394 පිටුවේ එන <u>සල්ල සූත්‍රයේ</u> කරුණු දක්වා තියෙනවා. මහණෙනි, ඇසූ පිරූ තැන් නැති පුහුදුන් කෙරේ දුක් වේදනාවෙන් පහස්නා ලද්දේම සෝක කෙරේ. ක්ලාන්ත වෙයි, වැළපෙයි. ළෙහි (ලයෙහි) පැහැර හඬයි. මුළාවට පැමිණෙයි. හෙතෙමේ කායික වේදනාවද චෛතසික වේදනාවද යන වේදනා දෙකක් විඳියි. මහණෙනි, යම් සේ පුරුෂයෙකු හුලකින් විදින්නාහුද ඔහු දෙවනි හුලකින්ද සමීපයේ විදින්නාහුද, මහණෙනි මෙසේ වනාහි ඒ පුරුෂ තෙමේ හුල කරණ කොටගෙන වේදනා දෙකක් විඳියි.

එහෙනම් **ඇසූ පිරූ තැන් නැති පෘතජ්ජනයින් යම් කිසි වේදනාවක් ඇති වුනාම ඒක එක හුලකින් විද්ද වේදනාවක් වශයෙන් විතරක් ඉවර කරන්නෙ නෑ.** ඒක පිළිබඳ විඤ්ඤාණ ගොඩනගමින් තවත් හුලකින් විදගත්තා වෙනවා. ඒ මනෝ මූලිකව හදාගත්ත හුලක්. ඒක තමයි සම්ඵස්සජා වේදනාව කියල කියන්නේ. දැන් අපි තේරුම් ගත්තා වේදනාව කියන්නෙ එකක්, සම්ඵස්සජා වේදනාව කියන්නෙ තව එකක් කියල. ඒ වගේම එස්ස කියන්නෙ එකක්, සම්ඵස්ස කියන්නෙ තව එකක්. එහෙමනම් **අපට නිරෝධ කරන්න වෙන්නෙ වේදනා නෙවෙයි සම්ඵස්සජා වේදනාවොයි** කියන කාරණය තේරුම් ගන්න ඕන.

බොහෝ විට **අනාර්ය ක්‍රමවලින් භාවනා පුරුදු කරන උදවිය, පෘතජ්ජන උදවිය වේදනා නිරුද්ධ කරන්න උත්සාහ කරනවා. කොන්ද කෙළින් තියාගෙන කොන්දෙ වේදනාවක් එනව නම්, වේදනා වේදනා කියමින් ඒ වේදනාව නැති කරගන්න උත්සාහ කරනවා. රසවත් ආහාරයක් දානයකට ලැබුණොත් ඒකට කොහොඹ කොල මිශ්‍ර කරල රසය නැති කරගන්න උත්සාහ කරනවා.** මේක නිවැරදිද? අපි නැතිකර ගත යුත්තේ මේ දැනෙන වේදනා කියන කොටස නෙවෙයි. දැනෙන වේදනාව මත පිහිටුවා ගන්නා ලද මනෝමය විඤ්ඤාණයෙන් හටගන්නා වේදනාවයි. ඒක නිසා අපි රූපය ගැන, චක්ඛු ගැන, චක්ඛු වේදනා ගැන, චක්ඛු සම්ඵස්සජා ගැන, චක්ඛු සම්ඵස්සජා වේදනා ගැන දැනගන්න ඕන. මේවා නිරෝධ කරන්න නම්, අනිච්ච දුක්ඛ අනත්ත වශයෙන් දකින්න ඕන. වෙන් වෙන් වශයෙන් චක්ඛායතන,

රූපායතන, චක්ඛු විඤ්ඤාණ, චක්ඛු සම්ඵස්ස, චක්ඛු සම්ඵස්සජා වේදනා කියන මේ කාරණා පහ නිවැරදිව තේරුම් ගන්න ඕන. එහෙම නැතිව ඇස හෙවත් චක්ඛු ඉන්ද්‍රිය නිරුද්ධ කරන්න ගියොත් කවදාවක්වත් ඒක කරන්න බෑ. ඇඟට දූනෙන වේදනා නිරුද්ධ කරන්න ගියොත් කවදාවක්වත් ඒක කරන්න බෑ. බුදුරජාණන් වහන්සේ පවා ධර්ම දේශනා කරන සමහර අවස්ථාවලදී, මගේ කොන්ද වේදනා දෙනවා, මම මඳකට විවේක ගන්නවා... ආදී වශයෙන් කියපු අවස්ථා තියෙනවා. අපි මනෝ මූලිකව කෙලෙස් සහිතව ගොඩනගා ගන්නා වූ, රාගයෙන් ද්වේශයෙන් ගොඩනගා ගන්නා වූ සම්ඵස්සජා සහ සම්ඵස්සජා වේදනාවෝ තමයි නිරෝධ කරගන්න ඕන.

සාමාන්‍යයෙන් වේදනා තුන් ආකාරයකින් දක්වල තියෙනවා. සුඛ වේදනා, දුක් වේදනා, උපේක්ඛා වේදනා. මේවා සම්ඵස්සජා වේදනා වශයෙන් ගත්තොතින් ඇඟට දූනෙන වේදනා කොටසකුත්, වේදනා රාග අනුශයක්, ද්වේශ අනුශයක් හා අවිද්‍යා අනුශයක් සමග මිශ්‍රිතව තියෙනවා. මේ පිළිබඳව සං:නි: (4) එන <u>පහාන සූත්‍රයෙන්</u> මෙසේ විග්‍රහ කරල තියෙනවා. ''මහණෙනි, මේ වේදනා තුනකි. කවර වේදනා ද යත් සුඛ වේදනාය, දුක් වේදනාය, නොදුක් නොසුව වේදනාය. මහණෙනි, සුව වේදනාවෙන් රාග අනුශය පහ කටයුතුය (පහ කළයුතුය). දුක් වේදනාවෙන් පටිඝ අනුශය පහ කටයුතුය. නොදුක් නොසුව වේදනාවෙන් අවිජ්ජා අනුශය පහ කටයුතුය. මහණෙනි, යම් කලෙක සුව වේදනාවෙන් රාග අනුශය ප්‍රහාණය වූයේද, දුක් වේදනාවෙන් පටිඝ අනුශය ප්‍රහාණය වූයේද, නොදුක් නොසුව වේදනාවෙන් අවිද්‍යා අනුශය ප්‍රහාණය වූයේ වේද මහණෙනි, ඉන් පහ වූ රාග අනුශය ඇති මේ මහණ තෘෂ්ණාව සිඳ දැම්මේය, සංයෝජන මුලිනුපුටා හලේය. මැනවින් මනාවබෝධයෙන් දුක් කෙළවර කළේ යැයි කියනු ලැබේ.''

එහෙනම් සුව වේදනාව ගත්තම ඒකෙ කොටස් දෙකක් තියෙනවා. අපි කළින් කිව්වෙ උල් දෙකකින් අනිනවා කියල. එකක් කයට දූනෙන වේදනාව, අනික මනෝ මූලිකව ගොඩනගා ගත් රාග, ද්වේශ සහිත වේදනාව. දුක් වේදනාව පටිඝ අනුශයෙන් පහ කටයුතුය කියන්නේ ඇඟට දූනෙන දුක් වේදනාවක් තියෙනවා. ඒක නැති කරන්න බෑ. ඒක විපාකයක්. එහෙනම් නැති කරන්න පුළුවන් දුක මොකක්ද? පටිඝ අනුශය නිසා මනෝ මූලිකව හදාගත්තු වේදනාවයි. නොදුක් නොසුව වේදනා හෙවත් උපේක්ඛා වේදනාවෙන් අවිද්‍යා අනුශය පහ කටයුතුය. එහෙනම් මේ වේදනා කොටස් දෙකෙන් එක කොටසක් සම්ඵස්සජා වේදනා වශයෙන් මනෝ මූලිකව ගොඩනගා ගන්නා ලද අනුශය නිසා බිහි වුණ කොටස පමණයි නිරෝධ කළ හැක්කේ. සළායතන නිරෝධා ඵස්ස නිරෝධෝ, ඵස්ස නිරෝධා වේදනා නිරෝධෝ, කියල කිව්වෙ සම්ඵස්සජා හා සම්ඵස්සජා වේදනා නිරෝධ කිරීම කියල තේරුම් ගන්න ඕන.

මීළඟ කලාපයෙන් වේදනා ප්‍රත්‍යයෙන් තණ්හා හටගන්නා ආකාරය දූනගනිමු.

**නුගේගොඩ වින්සර් රෝහලේ සභාපති**
**වෛද්‍ය ආර්. පී. වීරසිංහ**
MBBS/DFM/MCGP/MPFAM

**සියවස් ගණනාවකට පෙර සැඟව ගිය නිමල බොදු මග යළි පුබුදුවමින්,**
**හෙළ බොදු පියුම දහම් කරුණු ඔබ වෙත රැගෙන එන්නේ, බුදු පියාණන් වහන්සේ අනුදැන වදාළ,**
**අග්ගඤ්ඤ සූත්‍රය, නිරුක්තිපථ සූත්‍රය සහ අරණවිභංග සූත්‍රය යන සූත්‍රාන්තයන්ට අනුව,**
**දහම් පදවල සැඟවුණු දහම් අරුත් මතු කරන පද නිරුක්ති සහ**
**අතීතය, වර්තමානය, අනාගතය හඟවන තුන්කල් නිරුක්ති සහිත ව්‍යවහාර ශබ්ද**
**නිරුක්ති ක්‍රමවේදය අනුව මිස, උන්වහන්සේ අනුමත නොකළ ලිඛිත භාෂා රීති සහිත**
**බමුණන්ගේ ත්‍රිවේද නිරුක්ති මත නොවන බව සලකන්න.**

**පින්වත් ඔබ වෙනුවෙන් එළි දැක්වූ දහම් ගබඩාවන්...**

www.hiddendhamma.net www.nirvanadhamma.com mp3.hiddendhamma.net www.helabodhupiyuma.net

විද්‍යුත් ලිපිනය: webmaster@helabodhupiyuma.net දු.අ:- 071 3046895

**සැඟවුණු බොදු මග යළි විවර කරමින් වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයේ සදහම් වැඩසටහන් පැවැත්වෙන කාල හෝරාවන්:**

සෑම පුන් පොහෝ දිනකම සහ සෑම අමාවක පොහොය දිනකම උදෑසන 8.00 සිට සවස 5.00 දක්වා - පෙහෙවත් සමාදානය, දහම් සාකච්ඡා සහ විශේෂ පුණ්‍යානුමෝදනාව.

ගමන් මාර්ගය: නිට්ටඹුව - රුවන්වැල්ල ප්‍රධාන මාර්ගයේ ගෝණගල්දෙනිය හන්දියේ සිට වහරක අතුරු මාර්ගයේ මීටර 350 ක් පමණ දුරින් දකුණු පස.




සෑම පුන් පොහෝ දිනකම සහ සෑම අමාවක පොහොය දිනකම උදෑසන 8.00 සිට සවස 5.00 දක්වා පැවැත්වෙන සදහම් වැඩසටහන් මාලාව සජීවීව විකාශනය කෙරෙන අන්තර්ජාල ගුවන් විදුලි සේවාවට සවන්දීම සඳහා www.waharaka.com වෙබ් අඩවිය ඔස්සේ ''දම් සභා ගුවන් හඬ''ට පිවිසෙන්න.





# මැරෙන්නට පෙර...

නොමියෙනා ලෙස සිටින මිනිසුනි තොපට වදනක් පවසමී
සැනසෙනා සුව පිණිස කරනා බිඳක් අකුසලයට නැමී
නොම දැනා සුව වස්තු රැක ගනු පිණිස තද කෙරුවොත් බැමී
තම පණා යන දවස එන විට නොමැත එන දුක් කඳ නිමී

කප්පරක් දිග දුරට විහිදෙන අනත භවයෙහි ගිනි හපා
තත්පරක් කල අතර නොමැතිව නරකයෙහි අත් පා කපා
අක්කරක් මහ පැතුම් ගොඩවල් හදෙහි ගොඩගසමින් පපා
මක් කොළත් මේ තිලෝ තලයම දුකකි යෙදුවත් මොන උපා

මසක් දස කල් නොයෙක් දුක් විඳ කයක් හැදුවත් මව් කුසේ
රසක් සොය සොය පහක් ඉඳුරන් වද දෙමින් කෙරුවයි විසේ
ඇසක් නොමැතිව දහම් දැකුමට සැපක් යැයි සිතමින් තොසේ
පසක් නොකරම දොසක් අතැතිව සිටියොතින් භවයේ පැසේ

කළොත් ආලය පවක් කරනට මිහිරියාවෙන් මත් වෙලේ
මළොත් ඒ කය අලුත් කයකින් දැවෙයි පාපය ලෙස එලේ
පෙළෙත් බෝ කල් සිවු අපායේ නමුත් නොදනියි එහි බලේ
බලොත් යහපති මෙගැන නුවණින් මිනිස් භවයක් ලැබූ කලේ

පබැඳුම
නිහඬ චන්දන සිරිවර්ධන





# බිඳ වැටෙනා
# සිහින මාලිග









උදේ අවදී වී රෑ නිදී වදින තුරා
වදේ විතරමයි දුක් කඳු නැගෙති බුරා
ඇදේ මෙය නොදැක ලැබුමට පංච සුරා
හදේ ගිනි දැවෙයි මුළු අත් භවය පුරා

සියයට එකක තරමක් නැති කම් පහස
භවයට එකතු කරනට විඳිනා වෙහෙස
දිවියට පැතුම් තිබුණත් උසකට අහස
සිහියට පවා නොනැගෙයි ඉටුවන දවස





තිබුණත් යසට පෙන බුබුලක පෙනුම දෙන
වැනසෙත් සැනින් හැඩයත් ඇස රවටමින
හැදුවත් සිහින මාලිග සත නොඉටු වන
බිඳුණොත් හඬා වැලපෙයි යළි නොඑන තැන





සිහිනෙන් ගාපු සුවඳක් සේ මන බඳින
රෑහැනෙන් බැඳුණු කම් සැප නොගනිනු සොඳින
දැහැනෙන් මිදුණු තවුසෙකු ඉන් පසු විඳින
දුක මෙන් දැනේ කම් සැප ගතහොත් හැඳින

පබැඳුම - නිහිඳු චන්දන සිරිවර්ධන

නිහිඳු චන්දන සිරිවර්ධන විසින් නුගේගොඩ ගංගොඩවිල විහාර පාරේ අංක 96/A දරණ ස්ථානයේ පිහිටි ඉමාෂි මුද්‍රණාලයේ මුද්‍රණය කර ප්‍රසිද්ධ කරන ලදී